# ක්‍රිස්තියානි ධර්මය

## 10 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී.එන්. අයිලප්පෙරුම — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්. ඩී. විජේවික්‍රම — නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්. ජී. ඩී. එන්. එල්. සමරකෝන් — සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අනුශාසකත්වය**

ගෞ. රියන්සි පෙරේරා
දේවගැතිතුමා — අනුනායක, ගාලු පදවිය

ගෞ. ඩබ්. පී. එබනේසර් ජෝශප්
දේවගැතිතුමා — මහලේකම්,
ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම
ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය.

**සංස්කාරක මණ්ඩලය**

එම්. හේමචන්ද්‍ර පෙරේරා — සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ (විශ්‍රාමික)
(ක්‍රිස්තු ධර්මය විෂයය)
අධ්‍යාපන අමාත්‍යාංශය.

බියුලා රෝසා — විද්‍යාපීඨ කථිකාචාර්ය. (විශ්‍රාමික)

මහේෂ්වරී සහාරන්ජන් — නියෝජ්‍ය අධ්‍යාපන අධ්‍යක්ෂ
සම්බන්ධීකරණ නිලධාරී (ක්‍රිස්තු ධර්මය)
අධ්‍යාපන අමාත්‍යාංශය.

**ලේඛක මණ්ඩලය**

| | |
|---|---|
| ගරු ජේ. ඒ. මිහිරි ද සිල්වා සල්ගාදු දේවගැතිතුමිය | ලේකම්, ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම, ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය |
| එල්. නිලන්ති දීපා ද සිල්වා | ගුරු වෘත්තිය, මෙතොදිස්ත උසස් විදුහල, පුවක් අරඹ, මොරටුව |
| එම්. රදීකා සමන්ති මෙන්ඩිස් | ගුරු වෘත්තිය, සාන්ත තෝමස් විදුහල ගල්කිස්ස. |
| විනීතා එම්. ද සිල්වා | ගුරු වෘත්තිය, (විශ්‍රාමික) |
| එම්. රේණුකා දමයන්ති | ගුරු වෘත්තිය, මාවතගම මධ්‍ය මහා විදුහල මාවතගම. |
| ගෞ. සී. ඩබ්. සී. බාල්රාජ් දේවගැතිතුමා | විදුහල්පති ශාන්ත තෝමස් විදුහල බණ්ඩාරවෙල. |
| ඩී. ග්ලෝරි හෙබ්සිබා | ගුරු වෘත්තිය, ගම්පොළ හින්දු විදුහල, ගම්පොළ. |
| ඒ. ජේ. දයාමලර් - | ගුරු වෘත්තීය, තෝප්පුව රෝමානු කතෝලික දෙමළ මහ විදුහල, කොච්චිකඩේ. |

**භාෂා සංස්කාරක**

| | |
|---|---|
| ගෞ. රෝහිත ද සිල්වා දේවගැතිතුමා | කුලාචාර්ය, වෙස්ලි විදුහල කොළඹ |

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

ෂර්වෝන් මෙන්ඩිස්

**පිටකවරය**

සජිත් ඉෂාන් හෙට්ටිආරච්චි

# පටුන

# 1. දිවැස් වැකි හා කිතු උපත

**දෙවියන් වහන්සේ ජනතාවට දේව පණිවුඩය ලබා දීම සඳහා විශේෂාකාරයෙන් තෝරා ගත් පුද්ගලයන් විවිධ යුගවල දී කැඳවනු ලැබූ සේක. දිවැසිවරුන් ලෙස හැඳින්වූ මොවුන් ජනතාවට පිළිගැන්වූ දේව පණිවුඩ අතර අනාගත සිදුවීම් හා සම්බන්ධ අනාවැකි ද විය.**

යෙසායා 7:14, 11:1, 9:2, 6, 7 මීකා 5:2

| දිවැසිවරයා යනු | දිවැසිවර කාර්යය වූයේ |
|---|---|
| දෙවියන් වහන්සේගේ කැඳවීම තුළ, දේවාත්මානුභාවයෙන් එළිදරව් කරන ලද දේව පණිවුඩය ජනතාවට පිළිගැන්වූ තැනැත්තා ය. | දේව ජනතාව දෙවියන් වහන්සේගෙන් ඈත් ව පව්ටු ජීවිත රටාවකට යොමු වූ විට එසේ වීමට මුල් වූ කරුණු විමසා බලා අදමිටු බවින් ජනතාව මුදවා නැවත උන්වහන්සේ වෙත ගෙන ඒම යි. |

කිතු උපත සිදුවීමට බොහෝ කලකට පෙර සිටම ඒ සම්බන්ධයෙන් අනාගත වාක්‍ය ලෙස හඳුන්වනු ලැබූ දිවැස් වැකි ප්‍රකාශ වී තිබුණි.

ජනතාව අධ්‍යාත්මික හා සමාජමය වශයෙන් විවිධ දුක් කම්කටොළුවලට මුහුණ දෙමින් සිටි ඒ සමයේ කිතු උපත පිළිබඳ දිවැසිවරුන් ප්‍රකාශ කර තිබූ දිවැස් වැකි එම ජනතාවට මහත් අස්වැසිල්ලක් වන්නට ඇත.

## අපි එවැනි දිවැස් වැකි කිහිපයක් සලකා බලමු.

**බලන්න. කන්‍යාවක්**
**පිළිසිඳ ගෙන**
**පුත්‍රයකු බිහිකරන්නී ය.**
**එම්මානුවෙල් යන නම**
**ඔහුට තබන්නී ය.**
**යෙසායා 7:14**

**මෙන්න, කන්‍යාවක් ගැබ් ගෙන**
**පුතකු බිහි කරන්නී ය.**
**උන්වහන්සේට**
**එම්මානුවෙල් යන නාමය**
**තබනු ඇත.**
**ශු. මතෙව් 1: 23**

මරියා නම් ආශිර්වාද ලත් කන්‍යාව ගැබ් ගෙන පුත්‍රයකු බිහිකිරීමේ සිද්ධිය කිතු උපත සිදුවීමට බොහෝ කලකට පෙර ප්‍රකාශ කරන ලද දිවැස් වැකිය සම්පූර්ණත්වයට පත් වීමකි. එසේ උපදින දරුවාට එම්මානුවෙල් යන නාමය තැබිය යුතු බව ඉන් ප්‍රකාශ විය. එහි අර්ථය **"දෙවියන් වහන්සේ අප සමග ය."** යන්න ය. එම උපත මුළු මානව වර්ගයාට ම සුභාරංචියක් වූ අතර ඔවුන්ට ගැළවීම අත්කර දුන් දිව්‍යමය ක්‍රියාවලිය බව ද පැහැදිලි වේ.

දාවිත්ගේ රාජ පෙළපත
නමැති වෘක්ෂයෙන්
රාජාංකුරයක් හට ගන්නේ ය.
එහි මුල්වලින් අලුත් පැලයක්
නැගී එන්නේ ය.
යෙසායා 11:1

උන්වහන්සේ ශ්‍රේෂ්ඨ වන සේක.
පරමෝත්තමයාණන්ගේ
පුත්‍රයාණෝ යයි කියනු ලබන සේක.
උන්වහන්සේගේ පිය වූ
දාවිත්ගේ සිංහාසනය
දෙවි ස්වාමින් වහන්සේ උන්වහන්සේට
ප්‍රදානය කරන සේක.
ලූක් 1:32

දෙවි සමිඳාණන් විසින් දාවිත්ට දුන් පොරොන්දුව මෙම දිවැස් වැකියෙන් ප්‍රකාශ වේ. එදා ජුදයේ බෙත්ලෙහෙම නම් දාවිත්ගේ නුවර දාවිත්ගේ පෙලපතින් සිදු වූ කිතු උපත යෙසායා දිවැසිවරයාගේ අනාවැකිය සම්පූර්ණත්වයට පත් වීමකි. මින් දෙවියන් වහන්සේගේ සැලැස්ම ආරම්භයේ සිට ම ක්‍රියාත්මක වූ බවත් එය එලෙසින් ම සම්පූර්ණ වූ බවත් පැහැදිලි ය.

අන්ධකාරයේ ඇවිද්ද
සෙනඟ මහත්
ආලෝකයක් දුටුවෝ ය.
ඝනඳුරු දේශයේ විසූ
අය කෙරෙහි එළියක්
දැන් බබලන්නේ ය.
යෙසායා 9:2

ඝනඳුරේ කල් යැවූ
සෙනඟ මහත් එළියක්
දුටහ. මරණ අඳුර ඇති
දේශයෙහි
වෙසෙන්නවුන්ට එළිය
උදා විය.
ශු. මතෙව් 4:16

අඳුරේ හා මරණ
සෙවනේ සිටින්නවුන්
කෙරෙහි එලෙසින්
එළිය උදාකරවමින්
සෙත් මග යාමට අපට
මග පෙන්වන සේක.
ශු. ලූක් 1:79

කිතු උපත සිදුවන කාලය වන විට ජුදා සමාජය ද අඳමිටු බව නැමති අඳුරෙන් වැසී ගොස් තිබුණි. දිගු කාලයක් අධිරාජ්‍ය පාලනයට යටත් ව සිටීමේ ප්‍රතිඵලයක් වශයෙන් දිළිඳු බවත් අසහනයත් වර්ධනය වී ජනතාව දැඩි පීඩනයට පත් ව සිටියහ. තවද, කාන්තාවන්, දරුවන්, රෝගීන්, වහලුන්, අන්‍ය ජාතීන් වැනි අය පව්කරුවන් ලෙස සලකා සමාජයෙන් නිසි තැන නොලද  හෙයින් ඔවුන් පසු වූයේ දැඩි අසහනයකිනි. මෙලෙස "ඝනඳුරු දේශයේ" විසුවන්ට ආලෝකයක් වන්නට ජේසුස් වහන්සේට හැකි විය. ඒ තුළින් දිවැසිවරයා ප්‍රකාශ කළ අනාවැකිය සම්පූර්ණ  විය.

අපට ළදරුවෙක් උපන්නේ ය
අපට පුත්‍රයෙක් දෙන ලද්දේ ය.
එතුමාණෝ අපේ රජු වන සේක.
එතුමාණෝ
අසිරිමත් උපදේශකයාණෝ ය.
ප්‍රතාපවත් දෙවි තුමාණෝ ය.
සදාතන පියාණෝ ය.
සාමයේ කුමාරයාණෝ යයි
කියනු ලබන්නෝ ය.
යෙසායා 9:6

මේ බලන්න ඔබ පිලිසිඳ ගෙන
පුත්‍රයකු ලබන්නෙහි ය.
උන්වහන්සේට ජේසුස් යන නාමය තබන්න.
උන්වහන්සේ ශ්‍රේෂ්ඨ වන සේක.
පරමෝත්තමයාණන්ගේ පුත්‍රයාණෝ යයි කියනු
ලබන සේක. උන්වහන්සේ පියවූ දාවිත්ගේ
සිංහාසනය
දෙවි ස්වාමින් වහන්සේට ප්‍රදානය
කරන සේක.
ලූක් 1:31-32

පැමිණෙන්ට සිටින තැනැන්වහන්සේගේ **ශ්‍රේෂ්ටත්වය** පිළිබඳ පැහැදිලි කළ දිවැසිවර යෙසායාගේ අනාවැකිය පසු ව දේව දූතයා විසින් කිතු උපත මරිය තුමියට දැනුම් දීමේ දී පැවසූ වචනවලින් ද අනාවරණය විය. එමෙන්ම උන්වහන්සේගේ ජීවිතාදර්ශය හා මෙහෙවර තුළින් මෙම දිවැස්වැකි අර්ථවත් ව සම්පූර්ණ විය.

**එතුමාණෝ යුක්තියෙන් ද**
**ධර්මිෂ්ටකමින් ද**
**රජකම් කරන සේක.**
**යෙසායා 9:7**

**උන්වහන්සේ ජාකොබ්ගේ වංශය**
**කෙරෙහි සදහටම රජකම් කරන සේක.**
**උන්වහන්සේගේ රාජ්‍යය කෙලවරක්**
**නොදක්නේ ය.**
**ලූක් 1:33**

මෙම වදන්වලින් පැමිණෙන්නට සිටින තැනැන්වහන්සේගේ රාජ්‍යය තුළ දක්නට ලැබෙන වටිනාකම් ද උන්වහන්සේ තුළින් පිළිබිඹු වූ ගුණාංග ද ප්‍රකාශ විය. **යුක්තිය** හා **ධර්මිෂ්ටකම** ඒ ගුණාංග අතර ප්‍රධාන වේ. එතුමාණෝ සකල ජනතාවගේ රජ වන්නේ බලයෙන් නොව යුක්තියෙන් ය. සියල්ලන්ගේ උපදේශකයා වන්නේ සාධාරණත්වයෙන් ය. මෙලෙස උන්වහන්සේ අපගේ සාමයේ කුමාරයාණන් ලෙස සදාකාලික ව ගෞරවයට පාත්‍ර වන සේක.

**එම්බා බෙත්ලෙහෙම් එප්‍රාතා,**
**තී ජුදාහි ගෝත්‍රවලින් ඉතා අල්ප**
**වන්නේ ය. එහෙත් ඉශ්‍රායෙල්**
**කෙරෙහි අධිපතියා වීමට කෙනෙක්**
**තී කෙරෙන් නැඟී එන්නේ ය.**
**එතුමන්ගේ පෙළපතේ මුල**
**ධුරාතීතයෙන් ද පැරණි යුගයෙන් ද**
**එන්නේ ය.**
**මීකා 5 : 2**

**මෙසේ ආබ්‍රහම් පටන් දාවිත් දක්වා**
**පරම්පරා සියල්ල දස සතරකි.**
**දාවිත් පටන් බැබිලෝනියේ**
**විප්‍රවාස ගත වීම දක්වා**
**පරම්පරා දස සතරකි.**
**බැබිලෝනියේ විප්‍රවාස ගත වීමේ**
**කාලයේ පටන්**
**ක්‍රිස්තුස් වහන්සේ දක්වා**
**පරම්පරා දස සතරකි.**
**මතෙව් 1 : 17**

මීකා දිවැසිවරයා ප්‍රකාශ කළ මෙම දිවැස් වැකියෙන් ද ඉශ්‍රායෙල් හී අධිපතීත්වය දැරීමට පැමිණෙන තැනැන්වහන්සේගේ උපත හා උන්වහන්සේගේ පෙළපත පිළිබඳ ව ප්‍රකාශ වේ. එනම් දෙවියන් වහන්සේගේ තෝරාගත් ජනතාව අතරින් අධිපතියෙක් පහළ වන බව ය. ඒ බව සනාථ කරමින් කිතු උපත සිදු විය. මෙලෙස ප්‍රකාශිත දිවැස්වැකි කිතු උපත තුළින් සම්පූර්ණත්වයට පත් විය. දේව සැලැස්මට අනුකූල ව සිදු වූ කිතු උපත තුළින් ඉශ්‍රායෙල් පමණක් නොව මුළු මානව වර්ගයාට විමුක්තිය අත් කර ගන්නටත් එ මගින් නව ලොවක් ගොඩ නගන්නටත් හැකි විය.

ක්‍රියාකාරකම

1. දිවැසිවරු මගින් ඉටු වූ කාර්යභාරය පැහැදිලි කරන්න.

2. දිවැස් වැකි මගින් පළ වූ ජේසුස් වහන්සේගේ
   (අ) උපතෙහි සුවිශේෂිභාවය (උපත හා පෙළපත)
   (ආ) උන්වහන්සේගේ මෙහෙවර පහදන්න.

# 2. විශිෂ්ට වූ සේවකත්වය

**සකළ ලෝ වැසි ජනතාවගේ ගැලවුම්කරුවාණන් ලෙස ජේසුස් වහන්සේගේ ලොව පහළ වීම සිදු වූයේ දේව සැලැස්මට අනුකූලව ය. ජේසුස් වහන්සේ පිළිසිඳ ගැනීමේ සිට උන්වහන්සේ විසින් සිදු කළ මෙහෙවර, කුරුසිපත් වීම, උත්ථානය යන මේ සියළු සිදුවීම් ද දිවැසිවරුන් ප්‍රකාශ කළ ලෙස ම සිදුවිය. මෙලෙස මිනිසා පාපයෙන් මුදවා ගැලවීම අත් කර දීම උදෙසා වූ ජේසුස් වහන්සේගේ විශිෂ්ට වූ මෙහෙවර පිළිබඳ ව පළ වූ දිවැස්වැකි කීපයක් මෙම පාඩමෙන් විමසා බලමු.**

**යෙසායා 40:3-4, 42:4, 53:4-5, 61:1, මලාකි 3:1**

පලස්තීනය රෝම අධිරාජ්‍යයට යටත් ව සිටිය දී ඔවුන් ගෙන ගිය කෲර පාලනයට එරෙහි ව කටයුතු කළ විවිධ සමාජ කණ්ඩායම් මර්දනය කිරීමට රෝම පාලකයෝ දැඩි පියවර ගත්හ. එකිනෙකාගේ ගැටුම්වලට මැදි වූ අහිංසක ජනතාව දැඩි පීඩනයට ද අසහනයට ද පත්ව සිටියෝ ය. තම දේශයට සාමය, විමුක්තිය උදාවන තෙක් ඔවුහු නොඉවසිල්ලෙන් බලා සිටියෝය. මෙකී පීඩාවන්ගෙන් තමන් මුදවා ගැනීම පිණිස "මෙසියස්වරයාණන්ගේ" පහළ වීම අපේක්ෂාවෙන් ඔවුහු පසු වූහ. දිවැසිවරුන් විසින් "මෙසියස්වරයාණන්ගේ" පැමිණීම පිළිබඳ ව ප්‍රකාශ කර තිබූ බැවින් ජනතාව ද තම විමුක්තිදායකයාගේ පැමිණීම පිලිබඳ ව නොඉවසිල්ලෙන් බලා සිටියහ. ඔවුන් බලාපොරොත්තු වූ ලෙසට "මෙසියස්" එනම් ආලේප ලත් තැනැන්වහන්සේගේ පැමිණීම ජේසුස් වහන්සේගේ උපත මගින් සිදු විය. මෙලෙස දිවැසිවරුන් පෙර කලක දී ප්‍රකාශ කළ දිවැස්වැකි සනාථ විය.

ජේසුස් වහන්සේ විසින් සිදු කිරීමට නියමිත මෙහෙවර උදෙසා ඊට මග පිළියෙල කිරීමට උන්වහන්සේට ප්‍රථම පැමිණි ස්නාවක ජොහාන්තුමා පිළිබඳ ව ද ස්නාවක ජොහාන්තුමා විසින් ජේසුස් වහන්සේ පිළිබඳ ව ප්‍රකාශ කළ අනාවැකි ද සලකා බලමු.

**ස්නාවක ජොහාන්ගේ සේවය පිළිබඳ මලාකි දිවැසිවරයා ප්‍රකාශ කළ දිවැස්වැකි.**

**මට පෙරටුව ගොස් මාගේ මාර්ගය පිළියෙල කරන්නා වූ**
**මාගේ දූතයා මට පෙරටුව එවන්නෙමි.**
**එවිට නුඹලා සොයමින් සිටින සමිඳාණන් වහන්සේ**
**හදිසියෙන් තමන් දේව මාලිගාවට වඩින සේක.**
**නුඹලා පුල පුලා බලා සිටි දේව දූතයා පැමිණ**
**මාගේ ගිවිසුම ප්‍රකාශ කරනු ඇත.**
**මලාකි 3:1**

මෙම දිවැස් වැකියෙන් ස්නාවක ජොහාන්තුමා සමිඳුන්ට පෙරටුව ගොස් ජනතාවට දේව රාජ්‍යය පිළිගැනීමට මග පිළියෙල කරන බව මලාකි දිවැසිවරයා විසින් ප්‍රකාශ කර ඇත.

දිවැසිවර යෙසායා ස්නාවක ජොහාන් පිළිබඳ ව ප්‍රකාශ කළ දිවැස්වැකි මෙ ලෙසිනි.

**මෙසේ කියන හඬට සවන් දෙන්න.**
**වනාන්තරයේ සමිඳුන් හට මාවතක් එළි කරන්න.**
**පාළුකරයේ අපේ දෙවිඳුන් හට මහ පාරක් සාදන්න.**
**සියළු මිටියාවත් පුරවනු ලබන්නේ ය.**
**සියලු කඳු හෙල් කපා පහත් කරනු ලබන්නේ ය.**
**සියළු හෙල් සමතලා කරනු ලබන්නේ ය.**
**රළු තැන් සුමුදු කරනු ලබන්නේ ය.**
***යෙසායා 40:3-4***

මේ වන විට සමකාලීන ජුදෙව් සමාජය පුරා දූෂණය හා වංචාව ඉහවහා ගොස් පැවතුණි. සමාජයේ වරප්‍රසාද ලද්දන් විසින් දිළින්දන් ද පව්කරුවන් සේ සලකා සමාජයෙන් කොන් කරනු ලැබූවන් ද දැඩි පීඩනයට ලක් කරමින් ක්‍රියා කළ හ. මෙම අසාධාරණය වටහා දෙමින් සමාජයෙන් ප්‍රතික්ෂේප කරනු ලැබූවන් සමානාත්මතාවයෙන් පිළිගනිමින් ජේසුස් වහන්සේ ගේ මෙහෙවරට අවශ්‍ය පසුබිම සූදානම් කිරීමේ වගකීම ස්නාවක යොහාන් වෙත පැවරෙන බව මෙම දිවැස්වැකියෙන් ප්‍රකාශ වේ.

ඉහත ප්‍රකාශ කරන ලද දිවැස් වැකි සත්‍යයක් බවට පත් විය. එසේ වූයේ ස්නාවක ජොහාන්තුමාගේ විශිෂ්ට වූ සේවාව තුළිනි. ඔහු විසින් එදා සමාජය තුළ සිටියා වූ සෑම ජන කොටසක් කෙරෙහි ම අවධානය යොමු කරමින් ඔවුන් තුළ තිබුණා වූ දුර්වලතා පෙන්වා දුන්නේ ය. අභියෝගාත්මක දේශනා මගින් සියළු ජන කොටස් අමතමින් ඔවුන් අතර තිබූණා වූ අයුක්ති සහගත හා අසාධාරණ ක්‍රියා පිළිබඳ ව ඔවුන්ට අවබෝධ කර දුන්නේ ය.

**ජේසුස් වහන්සේගේ විශිෂ්ඨ වූ මෙහෙවර පිළිබඳ ව ප්‍රකාශ කරන දිවැස් වැකි.**

**සැබවින් ම යුක්තිය ඉටු කරන්නේ ය. එතුමා**
**කලකිරෙන්නේ වත් අධෛර්ය වන්නේවත් නැත.**
**මිහිපිට යුක්තිය පිහිටුවන තුරු එතුමාගේ දහම්**
**මග උදාවන තුරු දිවයින් බලා සිටිනු ඇත.**
***යෙසායා 42:4***

තම මෙහෙවරේ දී දේව පුත්‍රයාණන් හට මුහුණ දීමට සිදු වන අභියෝගත් ඒවාට උන්වහන්සේ මුහුණ දෙන ආකාරය ත් මෙම දිවැස්වැකියෙන් පෙන්වා දෙයි. ජේසුස් වහන්සේ සෑම විට ම ක්‍රියා කළේ යුක්ති සහගතව ය. අයුක්ති සහගත ව ජනතාව පෙලූ රෝම අධිරාජ්‍ය නිලධාරීන්ටත් ඔවුන්ට ගැති කම් කරන ලද අයකැමියන්, පරිසිවරුන්, ලියන්නන් වැනි ආගමික කණ්ඩායම්වලට අයත් වූවන්ට ත් යුක්ති සහගත ව ක්‍රියා කරන ආකාරය එඩිතර ව පෙන්වා දුන් උන්වහන්සේ සෑම විට ම ඉවසීමෙන්, ප්‍රේමයෙන් හා සාධාරණ ව කටයුතු කළ සේක. ජේසුස් වහන්සේ තුළ තිබුණා වූ මෙම සුවිශේෂී ගුණාංග අප ජීවිතවලට ද මහත් ආදර්ශයකි. විවිධ කටුක අත් දැකීම් තුළ කලකිරීමට පත් නොවී දෙවි සමිඳුන්ගේ මහත් කැපවීම හා ඉවසීම සිහි කරමින් ධෛර්යයෙන් යුතු ව අප කැඳවා ඇති මෙහෙවරේ යෙදෙන්නට අප හට ද කෙරෙන මග පෙන්වීමකි මෙය.

මෙම දුක් උසුලන සේවකයාණෝ දුක දරාගනු ලැබුවේ අප වෙනුවෙන් බව ඔබ දන්නවා

**එතුමාණෝ ඉසුළුවේ අපේ දුක ය.**
**දරාගත්තේ අපේ පීඩා ය.**
**වේවා දඬුවම් යැයි අපට සිතුණේ ය.**
**එහෙත් එතුමන් තුවාල ලැබුවේ අපේ අපරාධ නිසා ය.**
**පොඩි කරනු ලැබුවේ අපේ පව් නිසා ය.**
**එතුමන් ලත් දඬුවමින් අපට සමාදානය ලැබී ඇත.**
**එතුමන් ලැබූ පහරවලින් අපට සුවය ලැබී ඇත.**
**යෙසායා 53:4-5**

දිවැසිවර යෙසායාගේ මෙම අනාවැකියෙන් ජේසුස් වහන්සේ මිනිස් වර්ගයාගේ පාපය වෙනුවෙන් සිදු කිරීමට නියමිත මහත් පූජාව ගැන පවසයි. අන් අය උදෙසා දුක් විඳින්නට, පීඩා විඳින්නට ඉදිරිපත් වූ එතුමාණෝ පාපයේ මිල ගෙවූ බැටළු පෝතකයාණෝ බවට පත් ව සියල්ලන්ගේ පව් තමා පිටට පවරා ගත් සේක. ස්නාවක ජොහාන්, ජේසුස් වහන්සේ තම අනුගාමිකයන්ට හඳුන්වා දුන්නේ "ලෝකයේ පව් දුරු කරන දෙවියන්ගේ බැටළු පෝතකයාණෝ" ලෙස ය. ඒ අපගේ පව් වෙනුවෙන් තම ජීවිතය පූජා කොට අප පාපයෙන් නිදහස් කළ නිසා ය. අසාධාරණයට, ප්‍රතික්ෂේපයට ලක්ව සිටි "පව්කරුවන්" ලෙස හැඳින් වූ අය වෙනුවෙන් උන්වහන්සේ පෙනී සිටි සේක. එබැවින් එදා ජුදා සමාජයේ වරප්‍රසාද ලත් ඇතැම් පිරිස් තමන්ගේ පැවැත්මට තර්ජනයක් වූ බැවින් උන්වහන්සේට වරද තබමින් අධිකරණය ඉදිරියට පමුණුවනු ලැබුවෝ ය.

ජේසුස් වහන්සේ අත කිසිදු වරදක් නොමැති වුව ද, ජුදා අධිකරණයෙන් උන්වහන්සේ වරදට පත් කොට, කුරිරු ලෙස කුරුසිය මත ඇණ ගසද්දී ත් මේ සියල්ල විඳ දරා ගනිමින් ඔවුන්ට කමාව දුන් සේක.

තවද ජේසුස් වහන්සේගේ සේවකත්වය පිළිබඳ පිලිප් විසින් එතියෝපීය නපුංසකයාට පහදා දුන් ශුද්ධ ලියවිලි පාඨය තුළින් ද උන්වහන්සේගේ පරිත්‍යාගශීලී බව පැහැදිලි වේ.

**"මරන්න ගෙන යන බැටළුවකු මෙන් ද උගේ ලොම් කපන්නා ඉදිරිපිට**
**ගොළුව සිටින බැටළුවකු මෙන් ද උන්වහන්සේ මුඛය නාරින සේක.**
**උන්වහන්සේ නින්දා ලැබූ හ. යුක්තිය නොලැබූ හ."**
**ක්‍රියා 8 : 32-33**

මෙම ජීවිත පූජාවෙන් උන්වහන්සේ මිනිසාගේ ජන්ම පාපය නිසා දෙවියන් වහන්සේ හා මිනිසා අතර පළුදු වූ දේව සබඳතාවය නැවත ස්ථාපිත කළ සේක.

දේව සැලසුමට අනුකූල ව ජේසුස් වහන්සේ මාංශ ගත වූයේ අරමුණු කීපයක් පෙරදැරි කරගෙන ය. ඒ පිළිබඳ ව විමසා බලමු.

**මහෝත්තම දෙව් සමිඳුන්ගේ ආත්මානුභාවය මා කෙරෙහි ඇත.**
**දිළිඳුන්ට සුබ අස්න දෙසීමට ද බිඳුනු සිත් ඇත්තන්ට සුව සෙත දීමට ද**
**වහලුන්ට මිදීම දානය කරන්නට ද සිරකරුවන්ට නිදහස දක්වන්ට ද**
**එතුමාණෝ මා ආලේප කළ සේක.**
**යෙසායා 61 : 1**

ජේසුස් වහන්සේ ලොව පහළ වීමට ශත වර්ෂ ගණනාවකට පෙර යෙසායා දිවැසිවරයා විසින් ජේසුස් වහන්සේගේ මෙහෙවර පිළිබඳ අනාවැකි එලෙස පළ කර තිබුණි. නාසරෙත් ධර්ම ශාලාවේ දී එම අනාවැකිය සම්පූර්ණ කරමින් තම ප්‍රථම දේශනය තුළින් උන්වහන්සේගේ සේවයේ ආරම්භක පියවර තැබූ සේක. තමා ආලේප කර ඇත්තේ දිළිඳුන්ට සුබ අස්න දේශනා කිරීමට බව ප්‍රකාශ කළ සේක. දිළිඳුන් යනු වහලුන්, පීඩිතයින් වැනි අය යි. එකල ආගමික නායකයින් ලෙස කටයුතු කළවුන් දිළින්දන් ලෙස සලකනු ලැබූ අය හට ආගමික වත් පිළිවෙත්වල යෙදීමට පවා අවසර නොදුන්හ. නමුත් ජේසුස් වහන්සේ ලද සෑම අවස්ථාවක දී ම දිළිඳුන්ට සුබ අස්න පිළිගැන්වීමට යුහුසුලු වූ සේක. ලාදුරු රෝගය වැනි රෝග හේතුවෙන් සමාජය විසින් පිළිකුල් කරන ලද රෝගීන්ට ජේසුස් වහන්සේ සුව සෙත දානය කළ සේක. තම වරද පිළිගෙන පවින් මිදීමට ජේසුස් වහන්සේගේ සරණ පැතූ පව්කාර ස්ත්‍රියට ද මුදලට වහල් වී අසාධාරණ ලෙස ධනය රැස් කළ සාකෙවුස් නම් අය කැමියාට ද මිදීම අත්කර දුන් සේක. මෙලෙස තම සේවය තුළින් ජීවමාන ආදර්ශ ලබා දුන් උන්වහන්සේ සේවය ලැබීමට නොව සේවය කිරීමට අපට ද ආරාධනා කරන සේක.

ක්‍රියාකාරකම

1. ස්නාවක ජොහාන්තුමාගේ සේවය පිළිබඳ දිවැස්වැකි සම්පූර්ණත්වයට පැමිණි අවස්ථා 3 ක් ගෙනහැර පාන්න.

2. ජේසුස් වහන්සේ පිළිබඳ ව පැරණි ගිවිසුමේ ප්‍රකාශිත දිවැස් වැකි නව ගිවිසුම තුළින් ඉටු වූ අවස්ථා පැහැදිලි කරන්න.

# 3. දේව සැලැස්මට අවනත වූවෝ

**දේව පුත්‍රයාණන් මිනිසත් බව ගෙන උපත ලැබීමත් උන්වහන්සේට පෙරටුව ගොස් එතුමා වඩින මග පිළියෙල කිරීමේ අරමුණින් පැමිණි ස්නාවක ජොහාන්තුමාගේ උපතත් දේව ප්‍රසාදය තුළ දේව සැලැස්මට අනුව සිදු විය. එම සුවිශේෂී උපත් දෙස අවධානය යොමු කිරීමේ දී දේව සැලැස්මට අනුකූල ව සියල්ල සිදු වන ආකාරය මැනවින් අවබෝධ කර ගත හැකි වේ.**

ශු. ලූක් 1 : 5-56

කිතු උපත හා ස්නාවක ජොහාන්තුමාගේ උපත පිළිබඳ සුභාරංචිය ප්‍රකාශ කරනු ලැබුවේ "ගාබ්‍රියෙල් දේව දූතයා" විසිනි. ඒ මෙලෙසිනි

**"දෙවියන් වහන්සේ අභිමුවෙහි සේවා කරන ගාබ්‍රියෙල් මම ය.**
**මා එවන ලද්දේ ඔබ සමග කථා කරන්නටත්**
**මේ සුභාරංචිය ඔබට පවසන්නටත් ය."**
**ලූක් 1 : 19**

මෙලෙස මෙම උපත් පිළිබඳ සුභාරංචිය දැනුම් දීම පවා සිදු කරනු ලැබුවේ දේව අභිමතය පරිදි යම් සැලැස්මක් ඇති ව බව පැහැදිලි ය.

එලෙස දේව රාජ්‍ය උදෙසා වූ ස්වාමීන් වහන්සේගේ මෙහෙවරට මග පිළියෙල කරමින් ජනතා හදවත් උන්වහන්සේ වෙතට යොමු කිරීම පිණිස ගාබ්‍රියෙල් දේව දූතයා විසින් ස්නාවක ජොහාන්ගේ උපත පිළිබඳ ව සෙකරියස් වෙත පවසන ලද වදන් වෙත අවධානය යොමු කරමු.

**සෙකරියස් බිය නොවන්න. මන්ද ඔබේ යාච්ඤාව අසනු ලැබී ය.**
**ඔබේ බිරිඳ වන එලිසබෙත් ඔබගෙන් පුතකු ලබන්නී ය.**
**ඔහුට ජොහාන් යයි නම් තබන්න.**
**සතුට සහ සොම්නස ඔබට ඇති වේ.**
**බොහෝ දෙන ඔහුගේ උත්පත්තිය නිමිත්තෙන් ප්‍රීති වන්නා හ.**
**මන්ද ඔහු ස්වාමීන් අභිමුවෙහි ශ්‍රේෂ්ඨ වන්නේ ය.**
**ඔහු මිදියුෂවත් මත්පැන්වත් නොබොන්නේ ය.**
**මව් කුස සිට ම ඔහු ශුද්ධාත්මයෙන් පූර්ණ වන්නේ ය.**
**ඔහු ඊශ්‍රායෙල්වරු බොහෝ දෙනකු ඔවුන්ගේ දෙවි ස්වාමීන් වහන්සේ වෙත හරවන්නේ ය.**
**ඔහු මව්පියන් හා දරුවන් සමගි කරන්නේ ය.**
**නොදැමුණු ජනයන් දමිටුන්ගේ ප්‍රඥාවට හරවන පිණිස ද**
**සැදී පැහැදී සිටින සෙනඟක් ස්වාමීන් වහන්සේට සූදානම් කර දෙන පිණිස ද**
**එලියාගේ ආත්මානුභාවයෙන් හා බලයෙන් උන්වහන්සේට පෙරටුව යන්නේ ය.**
**ලූක් 1:13-17**

ඉහත සඳහන් ප්‍රකාශය අනුව දේව සැලැස්මේ අරමුණ ස්නාවක ජොහාන්තුමා තම සේවය තුළින් ඉටු කරනු ලැබී ය. ඔහු ශුද්ධාත්මයෙන් පූර්ණ ව, ජනතාවට මනස්ථාපනයේ බෞතීස්මය ලබා දෙමින් බොහෝ දෙනෙකු ස්වාමින් වහන්සේ වෙත හරවනු ලැබී ය.

කිතු උපත ශත වර්ෂ ගණනාවක් ජනතා හදවත් තුළ තිබූ බලාපොරොත්තු මල් ඵල ගැන්වීමක් විය. දේව පුත්‍රයාණන් මාංශගත වීමේ සිද්ධිය මෙම උපත තුළින් සම්පූර්ණත්වයට පත් විය.

**ක්‍රිස්තු උපත පිළිබඳ ප්‍රකාශිත අනාවැකි මෙලෙස ය.**

***උන්වහන්සේ ශ්‍රේෂ්ඨ වන සේක.***
***පරමෝත්තමයාණන්ගේ පුත්‍රයාණෝ යැයි කියනු ලබන සේක.***
***උන්වහන්සේගේ පියවූ දාවිත්ගේ සිංහාසනය***
***දෙවි ස්වාමින් වහන්සේ උන්වහන්සේට ප්‍රදානය කරන සේක.***
***උන්වහන්සේ ජාකොබ්ගේ වංශය කෙරෙ හි***
***සදහට ම රජකම් කරන සේක.***
***උන්වහන්සේගේ රාජ්‍යය කෙලවරක් නොදක්නේ ය.***
***ලූක් 1:32-33***

මෙලෙස දේව රාජ්‍යය උදෙසා ජේසුස් වහන්සේ විසින් සිදු කළ යුතු මෙහෙවර සම්බන්ධ සියල්ල ඉටු වන්නේ දෙවියන් වහන්සේගේ සැලැස්ම හා අනුකූල වෙමිනි. ඒ බව ජේසුස් වහන්සේගේ උපත, සේවය, දුක් විඳීම, මරණය හා උත්ථානය යන සෑම සිද්ධියක් තුළින් ම පැහැදිලි වේ. එලෙස ජේසුස් වහන්සේ පිළිබඳ දිවැසිවරු ප්‍රකාශ කළ අනාවැකි සම්පූර්ණ විය.

ජේසුස් වහන්සේගේ හා ස්නාවක ජොහාන්තුමාගේ උපත්වලට අදාල ව වැදගත් වන්නා වූ පුද්ගල චරිත කීපයකි. සෙකරියස් පූජක තුමා, ජෝසෙප්තුමා මරියතුමිය හා එලිසබෙත්තුමිය ඒ අතර වෙති. උපත් පිළිබඳ සුභාරංචි ලද ඔවුන් දේව හඬට දැක්වූ ප්‍රතිචාර හා ඔවුන් දේව සැලැස්මට අවනත ව ක්‍රියා කළ ආකාරයත් විමසා බලමු.

සෙකරියස් පූජකතුමා දැහැමි බවින් යුත්, දේව අණ පනත් නිසි ලෙස ඉටු කළ පූජකයෙකි. දෙවියන් වහන්සේට ගරු බිය දැක්වූවෙකි. උන්වහන්සේ කෙරෙහි තිබූ අචල විශ්වාසය නිසා ම දිගු කලක් දේව කන්නලව්වේ නිරත වූවෙකි. මහළු බවට පත් වී සිටිය ද සෙකරියස් පූජකතුමා සහ එලිසබෙත්තුමිය ඔවුන්ට දරුවෙක් ලබා දෙන ලෙස ඉල්ලා සිටි අතර ඊට දෙවියන් වහන්සේ ඔවුන්ට පිළිතුරු දුන් සේක. නමුත් දේව මාළිගයේ දී ගාබ්‍රියල් දේව දූතයා පැවසූ සුභාරංචියට සෙකරියස් පූජකතුමා ප්‍රතිචාර දැක්වූයේ අනුමානයෙනි. ඒ නිසා දරුවා ලැබෙන තෙක් සෙකරියස් පූජකතුමාට කථා කළ නොහැකි විය. දේවදූතයා පැවසූ ලෙස සියල්ල එලෙස ම ඉටු විය.

ජෝසෙප්තුමා තුළ දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසයත්, භක්තියත් නොඅඩුව තිබුණේ ය. දේව සැලැස්ම තේරුම් ගෙන දේව අණට කීකරු වූ ඔහු දේව දූත පණිවුඩයට අවනත විය. මරියාණන් තම බිරිඳ ලෙස තම නිවසට කැඳවාගෙන ගියේ ය. දේව පුත්‍රයාගේ මව් වීමට නියමිත වූ ඇය සෙනෙහසින් රැක බලා ගත්තේ ය.

මෙලෙස සෙකරියස් පූජකතුමාත්, ජෝසෙප්තුමාත් ලද දේව දූත පණිවුඩය එකිනෙකා භාර ගත් ආකාරයේ වෙනසක් දක්නට ලැබුණ ද ඔවුන් කිසි විටෙකත් දේව සැලැස්මට පිටු නො පෑහ. දේව සැලැස්ම හඳුනා ගෙන දේව අණට අවනත ව ක්‍රියා කළහ.

මරියතුමිය හා එලිසබෙත්තුමියගේ චරිත ද ගැළවුම්කරුවාණන්ගේ උපතට අදාල ව සුවිශේෂී වේ. වයස් ගතව එහෙත් දරුවන් නොමැති ව සිටි එලිසබෙත්ට එයින් නිදහස් වීමට දෙවියන් වහන්සේ අවස්ථාවක් උදා කර දුන් සේක. දීර්ඝ කාලයක් තුළ දෙවියන් වහන්සේට කන්නලව් කරමින් දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසයෙන් සහ බලාපොරොත්තුවෙන් සිටි ඇයට දේව ක්‍රියාකාරිත්වයේ ප්‍රබලතාවය අත් විඳින්නට සැලැස්වූ සේක. කාලය හෝ වයස දේව සැලැස්ම ඉටු කිරිමට බාධාවන් නොවන බව මෙය පසක් කර දේ.

දේව සැලැස්මේ විශ්මිත බව අවබෝධ කර ගැනිමට මරිය තුමිය කටයුතු කළ ආකාරය වැදගත් වේ. මේ නිසා වනිතාවන් අතර සමාජය තුළ ගෞරවාදරයටත් පිළිගැන්වීමක් ඇති කිරීමටත් ඇයට හැකි විය.

දේව පණිවුඩය පිළිබඳ පැහැදිලි කළ ගාබ්‍රියෙල් දේව දූතයා
" **මක්නිසාද දෙවියන් වහන්සේට නොකල හැකි කිසිවක් නැත**"
යන්න ප්‍රකාශ කල විට මරියතුමිය බැහැපත් ව
"**බලන්න මම ස්වාමි වහන්සේගේ දාසිය වෙමි. ඔබ පැවසූ ලෙස මට ඉටුවේවා.**" යි
කියමින් ඊට අවනත විය.

දේව කැමැත්තට කීකරු ව එය ඉටු කිරීමට පරිත්‍යාගී ව ඇය කැප වූවා ය. දේව පුත්‍රයාණන් මෙලොවට බිහි කිරිම සඳහා තමා ව තෝරා ගැනිම පිළිබඳ ව මරියතුමිය නිහතමානි ව දෙවියන් වහන්සේට ප්‍රශංසා කළාය. මේ සියල්ල ඉටු කරමින් ඇය දේව කැමැත්තට හිස නැමුවාය.

ටික කලකට පසු මරියතුමිය තම ඥාති සොයුරිය වු එලිසබෙත් බැහැ දැකීමට පැමිණි අවස්ථාවේ දී එලිසබෙත් විසින් ශුද්ධාත්මයෙන් පූර්ණ ව ඇය පිළි ගනු ලැබුවේ

" **ඔබ වනිතාවන් අතර ආශිර්වාද ලද්දි ය.**"
"**මාගේ ස්වාමින් වහන්සේගේ මෑණියන්**" ලෙස ය.

මේ අනුව බලන කළ දේව සැලැස්ම තුළ ක්‍රියා කාරී වීමට අපව ද කැඳවන බව පැහැදිලි ය. ඒ සඳහා නිසි ප්‍රතිචාර දැක්වීමට අප සූදානම් විය යුතුය.

තම කම නසා මරියතුමිය දේව කැමැත්තට අවනත වුවාක් මෙන් අප ද දේව ආරාධනයට අවනත වීම අවශ්‍ය වේ.

ක්‍රියාකාරකම:

1. සෙකරියස් පූජකතුමා, ජෝසෙප්තුමා, මරියතුමිය හා එලිසබත්තුමිය යන මේ එකිනෙකා
   දේව හඬට දැක් වූ ප්‍රතිචාර,
   දේව සැලැස්මට අවනත ව ක්‍රියා කල ආකාරය තුළ දක්නට
   ලැබෙන සමාන අසමාන කම් පැහැදිලි කරන්න.

# 4. අති විශේෂ උපත්

මානව වර්ගයාගේ ලෞකික මෙන් ම ලෝකෝත්තර විමුක්තිය උදෙසා මිනිසත් බව දරාගෙන මෙලොව වැඩිය දෙව් සමිඳාණෝ ජේසුස් ක්‍රිස්තුස් වහන්සේ ය. සමකාලීන ජුදෙව් සමාජයේ දැඩි පීඩනයට පත් ව සිටි සාමාන්‍ය ජනතාව තම විමුක්තිදායකයා ලෙස බලාපොරොත්තුව සිටි “මෙසියස්වරයාණෝ” මෙතුමාණෝ ය. එමෙන්ම මිනිසා පාපයෙන් මුදවා ගෙන බිඳී ගිය දේව සබඳතාවය නැවත ශක්තිමත් කොට සදාතන ජීවනය හිමි කර දීම උදෙසා ජේසුස් වහන්සේ මෙලොව වැඩිය සේක.

අප පසුගිය පාඩම් ඇසුරින් විමසා බලන ලද්දේ ජේසුස් වහන්සේගේ මෙහෙවර උදෙසා “පෙරමග පිළියෙල කිරීමට” “මෙහෙසුරු දිවැසිවර සේවය” ඉටු කළ ස්නාවක ජොහාන් තුමාගේ උපතට අදාළ දිවැස් වැකි හා ඒ මගින් අනාවරණය වූ එතුමාගේ මෙහෙවර පිළිබඳ ව ය.

ජේසුස් වහන්සේගේ හා ස්නාවක ජොහාන්තුමාගේ උපත් විශේෂ උපත් වූ ආකාරය ද එම උපත් මගින් අපගේ ජීවිතවලට ගෙනෙනු ලබන ආලෝකයේ පණිවුඩය ද විමසා බැලීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.

**ශු. ලූක් 1: 5-25 , 1: 57- 2: 20**

ගාබ්‍රියෙල් දේව දූතයා විසින් ම මෙම උපත් දෙක පිළිබඳ ව මරියතුමියටත් සෙකරියස් පූජකතුමාටත් සැල කරනු ලැබීම ම මෙම උපත් විශේෂ වීමට හේතු වේ. ජුදෙව් ජන මතයට අනුව ගාබ්‍රියෙල් දේව දූතයා විසින් සැම විට ම ගෙනෙනු ලැබුවේ සුබ හසුනකි. ඒ නිසා මෙම උපත් දෙක නිතැතින් ම ආශීර්වාද ලත් සුබ හසුන් බවට පත් වේ. ගාබ්‍රියෙල් දේව දූතයා විසින් ජේසුස් වහන්සේගේ උපත පිළිබඳ ව මරියතුමියට ද ඊට මාස හයකට පෙර ස්නාවක ජොහාන්තුමාගේ උපත පිළිබඳ ව ඔහුගේ පිය වූ සෙකරියස් පූජකතුමාට ද සැල කරනු ලැබීය. ඉන් ගම්‍ය වන්නේ ජේසුස් වහන්සේගේ මෙහෙවර උදෙසා “පෙරමග දූත කාර්යය” ඉටු කිරීමට ස්නාවක ජොහාන්තුමා ව කල්යල් බලා එවීමට දේව සැලැස්ම ක්‍රියාත්මක වූ ආකාරය යි.

ජේසුස් වහන්සේගේ උපතට අදාළ ව ශු. මතෙව් තුමාගේ සුබසුනෙහි දැක්වෙන ලෙස පායන ලද සුවිශේෂී තාරකාවක් ද එහි මග පෙන්වීම ඔස්සේ පෙර දිගින් පැමිණි ශාස්ත්‍රවන්තයින් විසින් පුදන ලද රන් තුවරලා හා ගන්ධරස ද සංකේතාත්මක ව මෙම උපතෙහි විශේෂත්වය සනිටුහන් කෙරෙන සංසිද්ධීන් වේ.

**ස්නාවක ජොහාන්තුමාගේ උපතට අදාල කථා පුවත ද එම උපතෙහි විශේෂ බව පැහැදිලි කරයි. එය මෙලෙස වේ.**

## ශු. ලූක් 1: 5-25

ස්නාවක ජොහාන්තුමාගේ උපත, එලිසබෙත් බොහෝ වයස්ගත ව සිටිය දීත් ඔවුන්ට දරුවකු ලැබීම ඇයගේ හා සෙකරියස්ගේ දැහැමි බවේ ද ඇදහිල්ලෙන් හා විශ්වාසයෙන් සිදු කළ දේව කන්නලව්වේ ද ප්‍රතිඵලයකි. ඒ ගැන ඇය ඉමහත් සතුටින් තම ප්‍රශංසා ව දෙවි සමිඳාණන් වෙත පුද කළා ය. නමුත් දරුවා ලැබෙන තෙක් සෙකරියස් ගොළු බවට පත් වූයේ, තම කන්නලව්වට ප්‍රතිඵලයක් ලෙස ලද දේව දීමනාව විශ්වාස කිරීමට ඔහු මැලි වූ හෙයිනි.

විශ්වාසයෙන් හා ඇදහිල්ලෙන් යුතු ව දෙවියන් වහන්සේට අපගේ කන්නලව් ඉදිරිපත් කළ යුතු ය. එමෙන්ම දෙවිඳුන් පිළිතුරු සපයන කල එය ඇදහිල්ලෙන් හා විශ්වාසයෙන් පිළි ගැනීමට ද සූදානම් ව සිටිය යුතු බවට ගෙනෙන දේව පණිවුඩය මෙම සිද්ධිය තුළ ගැබ්ව ඇත. කෙසේ වෙතත් දරු උපතින් පසු ව නැවත කථා කිරීමේ හැකියාව ලබන සෙකරියස් පූජකතුමා ශුද්ධාත්මයෙන් පූර්ණ ව පැවසූ ප්‍රශංසා ගීතය ජේසුස් වහන්සේගේ හා ස්නාවක ජොහාන්තුමාගේ උපත් මගින් අපගේ ජීවිත කරා ගෙනෙන ලබන ආලෝකය මැනවින් පැහැදිලි කර දක්වයි.

## ශු. ලූක් 1: 67-80
## සෙකරියස්ගේ ප්‍රශංසා ගීතය

**සෙකරියස්ගේ මෙම ප්‍රශංසා ගීතයෙන් අවධාරණය කෙරෙන සත්‍යතාවන් මෙලෙස සාරාංශ ගත කරමු.**

- මෙම උපත් තුළින් දෙවි සමිඳාණෝ ජනතාවගේ විමුක්තිය සලසන බව
- ජේසුස් වහන්සේගේ උපත තුළින් ජුදෙව් බලාපොරොත්තුව ඉටු වන බව, එනම් දිවැසිවරුන් ප්‍රකාශ කළ ලෙස දාවිත්ගේ වංශයෙන් එම උපත සිදු වන බව
- ජේසුස් වහන්සේගේ "මෙහෙවරට" පෙර මග සැකසීම තම පුත්‍රයා (ස්නාවක ජොහාන්) විසින් ඉටු කරන බව
- තම පුත්‍රයාගේ මෙහෙවර වනුයේ ජනතාව මනස්ථාපනයට කැඳවීම බව
- ජේසුස් වහන්සේ අදහාගත් අයට පව් කමාවෙන් ගැලවීම ලැබෙන බව
- එබැවින් අන්ධකාරයේ හා මරණ සෙවනේ සිටින්නවුන් හට ආලෝකය උදාකරන බව.

**දේව සැලැස්ම තුළ විශේෂ උපත් ලෙස අප මෙහිදී හඳුනාගනු ලබන ජේසුස් වහන්සේ හා ස්නාවක ජොහාන් තුමාගේ උපත් සිදු වූ පසුබිම ද ගෙන එනු ලබන්නේ සුවිශේෂී පණිවුඩයකි.**

## ශු. ලූක් 2: 1-7
## ජේසුස් වහන්සේගේ උපත.

එදා රෝම අධිරාජ්‍යයා පැවැත් වූ සංගණනය සඳහා මහා ජනකායක් බෙතේලෙහෙම් නුවරට රැස් වූහ. එම නිසා නවාතැනක් සොයා ගැනීම දුෂ්කර කරුණක් විය. ජෝසෙප්තුමා හා මරියතුමියට තානායමක ලැගුම් ගන්නට ඉඩ කඩ නොතිබුණි. අවසානයේ නවාතැන් ගැනීමට සිදු වූයේ අම්බලමට පැමිණෙන මගීන්ගේ සතුන්ට ලැගුම් දීමට යොදා ගත් ගවලෙන ය. මෙහි දී උපත ලද ජේසු බිළිඳා තබන ලද්දේ එහි සතුන්ට කෑම දීමට යොදා ගත් ගලෙන් නිම වූ ගව ඔරුවක ය. දාවිත්ගේ නුවර උපන් "ක්‍රිස්තුස් නම්" ගැළවුම්කරුගේ "සළකුණ" ලෙස දෙවි දූතුන් එඬේරුන්ට සැල කළේ "ගව ඔරුවක බාවා සිටින බිලිඳෙක් ඔබට සම්භ වන්නේ ය එය ඔබට සලකුණ ය.'' ලෙසිනි. මෙලෙස පීඩිත වූවන්ගේ විමුක්තිදායකයාණෝ, දිළින්දන්ගේ විමුක්තිය උදෙසා දිළිඳු ලෙස ඉපි ද දිළිඳුන් හා තම අනන්‍යතාවය තහවුරු කළ සේක.

**ජුදෙව්වන්ට රජ ව උපන් ජුදෙව් ජනතාවගේ විමුක්තිදායකයාණෝ මෙලෙස දිළිඳු ලෙස උපත ලබද්දී ස්නාවක ජොහාන්තුමාගේ උපත පිළිබඳ පසුබිම විමසා බලමු.**

- **"ජොහාන් ඔටු ලොම් වස්ත්‍රයක් ඇඳ ඉණ වටා හම් පටියක් බැඳ සිටියේ ය. පළඟැටියන් හා වන මී ඔහුගේ ආහාරය විය." ශු. මතෙව් 3: 4**

- **"දරුවා වැඩී ආත්මානුභාවයෙන් බලවත් ව තමන් ඉශ්‍රායෙල්ට ප්‍රකාශ වන දිනය දක්වා පාළුකරයෙ හි සිටියේ ය." ශු. ලූක් 1: 80**

මෙලෙස ජේසුස් වහන්සේ මෙන්ම ස්නාවක ජොහාන්තුමා ද තෝරා ගනු ලැබුයේ කටුක දිවි පෙවෙතක් සඳහා බව පැහැදිළි ය. ස්නාවක ජොහාන්තුමා තම සේවාව ආරම්භ වන තෙක් වනයේ සරල දිවි පෙවෙතක් ගෙවමින්, සේවයට සූදානම් වීමක් ලෙස භාවනාවෙන් යුක්ත ව පසු වූවා විය හැකි ය. මෙලෙස ජේසුස් වහන්සේ ද තම මෙහෙවර උදෙසා වැයවෙමින් - කැපවෙමින් යාච්ඤාවෙන් හා භාවනාවෙන් යුතුව සූදානම් වූ බව පැහැදිලි ය.

එදා ජුදෙව් ජනතාව තම විමුක්තිදායකයාණන් ලෙස මෙසියස්වරයාණන්ගේ සම්ප්‍රාප්තිය අපේක්ෂාවෙන් පසු වූහ. දේව පොරොන්දුව අනුව එම උපත දාවිත්ගේ වංශයෙන් දාවිත්ගේ නුවර දී සිදුවන බව ද අපේක්ෂා කෙරිණි. මේ පිළිබඳ ව පළ වූ දිවැස් වැකි අප පෙර පාඩම්වල දී හඳුනා ගතිමු. එය ඉටු වූයේ මෙලෙස ය. ගලීලයේ නාසරෙත් නුවර විසූ ජෝසෙප්තුමා සහ මරියතුමියට සංගණනය වෙනුවෙන් සැතපුම් 85 ක් පමණ දුර ගෙවා ජුදයේ බෙත්ලෙහෙමට යන්නට සිදු වූයේ ඔවුහු දාවිත්ගේ වංශයට හා පෙලපතට අයත් වූ හෙයිනි. දාවිත්ගේ පෙලපත - දාවිත්ගේ වංශය - දාවිත්ගේ සිංහාසනය - දාවිත්ගේ නුවර යන වදන් මෙම උපතට සාපේක්ෂ ව ජුදෙව් ඉතිහාසයට අදාළ ව සටහන් වීමත්, දිවැස්වැකි සනාථ කරමින් ජේසු උපත මෙලෙස බෙත්ලෙහෙමේ දී සිදු වීමත්, දේව සැලැස්ම සම්පූර්ණ වීමක් මෙන්ම ජුදෙව් ජනතාවගේ බලාපොරොත්තු ඉටුවීමක් ලෙස ද වැදගත් වේ.

පීඩිතයන්ගේ විමුක්තිදායකයාණෝ මෙලෙස මෙලොවට වැඩිය සුභාරංචිය දේව දූතයන් විසින් මුලින් ම දන්වන ලද්දේ එවක සමාජයේ විසූ අන්ත දිළිඳු ජන කොටසක් වූ එඬේරුන් වෙත ය.

## ශු. ලූක් 2ඃ 8-20
## එඬේරු හා දේව දූතයෝ.

එඬේරු වනාහි සකල ජුදෙව් සමාජය විසින් ම සුළු කොට ගණන් ගනු ලැබූ පිරිසකි. ඒ ආගමික වත් පිළිවෙත්වල යෙදීම උදෙසා ධර්ම ශාලාවල නමස්කාරයට එක් වීමට ඔවුනට නොහැකි වූ හෙයිනි. ඒ ඔවුන්ගේ රැකියාවේ ස්වභාවය නිසා ය. මෙලෙස සමාජයෙන් කොන් කරන ලද දිළිඳු ජන කොටසකට ම ජේසුස් වහන්සේගේ උපත දේව දූතයන් විසින් මුලින් ම ප්‍රකාශ කරණු ලැබීම උන්වහන්සේගේ මෙහෙවර කවුරුන් උදෙසා ද යන්න සංකේතවත් කිරීමක් වේ.

මේ වන විට පලස්තීනයේ විසූ ජුදෙව් ජනතාව රෝම අධිරාජ්‍යයට යටත් ව සිටීම නිසා දේශපාලනික වශයෙන් මහත් පීඩනයකට ලක් ව සිටිය හ. දැඩි බදු බර නිසා ද පාලකයන්ගේ විවිධ වරප්‍රසාද ලබා ගැනිමේ අරමුණෙන් කටයුතු කළ ජුදෙව් ප්‍රජා නායකයින් හා සුංගම් අයකරන්නන් වැන්නවුන් නිසා ද ජනතාව දැඩි පීඩනයකට ලක් වූහ.

ව්‍යවස්ථාව තමන්ගේ වාසියට අර්ථකථනය කරමින් පරිසිවරුන් - සද්දුසිවරුන් වැන්නන් විසින් ආගමික වශයෙන් ද ජනතාව දැඩි පීඩනයකට ලක් කරමින් සිටියහ. පැවති විවිධ සමාජ විෂමතා හේතුවෙන් විරසක ව සිටි සමාජය තුළ පැවති ගැටුම් නිසා සාමාන්‍ය ජනතාව ජීවත් වූයේ දැඩි බියකින් හා අසහනයකිනි. විශේෂයෙන්ම "පව්කරුවන්" ලෙස සලකා සමාජයෙන් ප්‍රතික්ෂේප කරන ලද කොටසක් එහි වූහ. ඔවුහු නම් රෝගීන් - වැන්දඹුවන් -අන්‍ය ජාතීන් වැනි පිරිස්ය. මෙම ප්‍රතික්ෂේප කිරීම නිසා ඔවුන්ගේ සිත් තුළ කිසිදු සාමයක් නොවී ය.

මෙහි දී ජේසුස් වහන්සේ පෙනී සිටියේ මෙම පීඩනයට හා අසහනයට පත් ජනතාව වෙනුවෙන් ය. තම ගෝලයන් පවා දරුවන් ප්‍රතික්ෂේප කරන කල ඔවුන් තම තුරුලට ගනිමින් දේව රාජ්‍යයේ උරුමය මෙබඳුවන්ගේ යයි ප්‍රකාශ කරමින් ද පිළිකුලට ලක් වූ රෝගීන් ස්පර්ශ කරමින් ද එතෙක් ස්ත්‍රීන්ට, අන්‍ය ජාතිකයන්ට දේව වචනය හැදෑරීමට තිබූ බාධක ඉවත කරමින් ද ජේසුස් වහන්සේ විසින් ප්‍රතික්ෂේප කළවුන් පිළි ගැනීමට ලක් කරමින් කටයුතු කළ සේක.

මේ අනුව සිත් සතන් තුළ සාමයක් නොතිබූ මෙම පිරිස් වෙත සහනය ගෙනෙමින් ජේසු උපත "සාමයේ කුමරුන්ගේ උපත" බවට පත් විය. පාපය මිස පව්කරුවා ප්‍රතික්ෂේප කිරීම ජේසුස් වහන්සේගේ පිළිවෙත නොවීය. ඉදිරි පාඩම්වල දී පුළුල් ලෙස මේ පිළිබඳ ව හැදෑරීමට ඔබට අවස්ථාව සැලසෙනු ඇත.

මෙලෙස ජේසුස් වහන්සේ තම ජීවිතාදර්ශයෙන් ද උන්වහන්සේගේ ඉගැන්වීම් මගින් ද ප්‍රකට කළ පණිවුඩය **සුභාරංචියේ පණිවුඩය** විය. අපගේ මෙලොව දිවිය ද ලෝකෝත්තර දිවිය ද යහපත් කර ගනිමින් සදාතන ජීවනය උරුමකර ගැනීමට අපට හැකි වන්නේ ජේසුස් වහන්සේ අනුගාමී වීමෙනි. ජේසුස් වහන්සේගේ සුභාරංචිය පිළිගෙන ඊට නිසි ප්‍රතිචාර දැක්වීමත් සුභාරංචිය අන්‍යයන් වෙත ගෙනයමින් ඔවුන් ද ජේසුස් වහන්සේ වෙත ගෙන ඒමත් අපගෙන් ඉටු විය යුතු දේව මෙහෙවර වේ.

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ තම මෙහෙවර අරඹන විට පැවති සමාජ පසුබිම කෙටියෙන් විස්තර කරන්න.

2. ජේසුස් වහන්සේ එම ජනතාවගේ ජීවිතවලට ආලෝකයක් වූයේ කෙසේ දැයි පැහැදිලි කරන්න.

# 5. ජේසුස් වහන්සේ හා ජුදෙව් චාරිත්‍ර

**ජේසුස් වහන්සේගේ ළමා කාලය පිළිබඳ ව සමදර්ශක ශුභාරංචිවල ඉතා කෙටි සටහන් කිහිපයක් පවති යි. ඒවා අතර ජේසුස් වහන්සේ වෙනුවෙන් මව්පියන් ඉටු කළ ජුදෙව් පිළිවෙත් කිහිපයක් ලූක් තුමා වාර්තා කොට තිබේ. නමස්කාර ජීවිතයට අදාළ ජුදා ආගමේ ව්‍යවස්ථාව ඔවුන් අනුගමනය කළා සේම, ශ්‍රී ලාංකික සමාජයක් ලෙසට එක් ව ගමන් කිරීමේ දී පොදු සංස්කෘතික හා ශ්‍රී ලාංකික සිරිත් විරිත්වලට ගරු කිරීමට ද මෙම පාඩමෙන් කිතුනු අපටත් මග පෙන්වීමක් ලැබේ.**

ශු. ලූක් 2: 21 - 52

ජේසුස් වහන්සේ ජීවත් වූ සමයේ දී ජුදෙව් ආගමික මංගල්‍යයන් ගණනාවක් පැවතුන අතර, එම මංගල්‍යයන් සඳහා, පිළිපැදි අණ පනත් ජුදා ව්‍යවස්ථාව හා ඒකාබද්ධ ව පවතුණි. එම නීති නියමයන් සපිරීම සඳහා යම් යම් පිළිවෙත් ඉටු කිරීමට නියමිත ව තිබිණි. මේ සෑම පිළිවෙතක් ම ජුදෙව් ඉතිහාසය හා සම්බන්ධ සිදුවීම් පදනම් කොට ගොඩ නැඟී තිබේ.

ජුදෙව්වරුන් මේ සියලු පිළිවෙත් ඉතා භක්තියෙන්, කැපවීමෙන්, වැයවීමෙන් හා ගෞරවාන්විත ව හා කීකරු ව සිදු කළහ. මේ තුළින් ජුදෙව්වන් හට සමාජය තුළ "ජුදෙව් අනන්‍යතාවය" සහිත ව ජීවත් වීමට පදනම සැකසුණ අතර එමගින් ඔවුහු එකමුතු ජන කණ්ඩායමක් බවට පත් වූහ.

ජුදෙව් ජනතාවට ආවේනික, නීති නියමයන් රකිමින්, මරියතුමිය හා ජෝසෙප්තුමා තම පුත්‍රයා සම්බන්ධයෙන් ක්‍රියා කර ඇති බව පෙනී යයි. චර්මඡේදන පිළිවෙත මීට උදාහරණයකි.

## චර්මඡේදනය

චර්මඡේදන පිළිවෙත ඉශ්‍රායෙල් ජනතාවගේ ඉතිහාසය සමග ඉතා ගැඹුරු ලෙස සම්බන්ධ ව පවති යි. ඉශ්‍රායෙල්වරුන්ගේ ආදි පිතෘ ආබ්‍රහම්තුමා හා ඉන් මතු පරපුරට අදාළ වන ලෙසට මෙම නියෝගය දෙවියන් වහන්සේ විසින් ම ලබා දුන් සේක.

චර්මඡේදන පිළිවෙත කරණකොට ගෙන ජුදෙව් ජනතාව, "දෙවියන් වහන්සේට සන්තක වීමේ" තත්ත්වයට ඇතුලු වෙති. එය එම අදහස ප්‍රකාශ කිරීමේ බාහිර සංකේතයක් වන නමුදු, පුද්ගලයාගේ ශරීරය තුළ එය දැරීමෙන්, "ජුදෙව් අනන්‍යතාවය" සමාජය තුළ දැරීමට පහසු කර වීය. මෙම නියෝගය ජේසුස් වහන්සේ සම්බන්ධ ව ඉටු කර තිබේ.

# ජේසු බිළිඳාගේ චර්මඡේදන පිළිවෙත

උපත දැනුම් දුන් අවස්ථාවේ දී ගාබ්‍රියෙල් දූතයා "ජේසුස්" යන නාමය බිළිඳාට තබන ලෙස ප්‍රකාශ කළේ ය. සෑම ජුදෙව් නාමයකට ම පාහේ අර්ථයක් තිබෙන අතර, "ජේසුස්" යන්නෙහි අර්ථය නම් "දෙවියන්වහන්සේ මුදන සේක" යන්න යි. මේ නාමය උන්වහන්සේගේ මෙසියානු කාර්යභාරය හා මනාව ගැලපී සිටී. ජේසු බිළිඳාට "ජේසුස්" යන නාමය චර්මඡේදන පිළිවෙත කළ අවස්ථාවේ තබන ලදි.

# කුළුඳුලන් කැප කිරීම හා මුදවා ගැනීම

චර්මඡේදනය කිරීමේ නියෝගය ආබ්‍රහම්තුමාගේ යුගය කරා දිවෙන අතර, මෙම නියෝගය නික්මයාම සිද්ධිය හා බැඳී පවති යි. මිසරයේ පීඩිත මෙහෙවරකට පත් ව සිටි ඉශ්‍රායෙල් ජනතාව, මෝසෙස්තුමාගේ නායකත්වය යටතේ, දේව අභිමතය පරිදි, වහල් බැඳුමෙන් මිදී කානාන් දේශයට පැමිණිය හ. වහල්කමින් මිදී මිසර දේශයෙන් පිට වූ රාත්‍රියේ දී ඉශ්‍රායෙල් ජනතාවගේ කුළුඳුල් පිරිමි දරුවන් විනාශ නොවුණි. එම රැකවරණය සිහි කරනු සඳහා ඉශ්‍රායෙල් ජුදෙව් කුළුඳුල් පිරිමි දරුවන්, ඉපදී දින 40 ක් ගත වූ විට දේව මාලිගාවේ දී කැප කරන ලදි. මෙම පිළිවෙත ඉටු කිරීමේ දී පරෙවි පැටවුන් දෙදෙනකු හෝ කොබෙයියන් දෙදෙනකු පූජා කිරීමට නියමිත විය. ජේසුස් වහන්සේ වෙනුවෙන් මෙම පිළිවෙත ඉටු කරන ලදි.

අද කිතුනු සසුන තුළ පවතින විවිධ පිළිවෙත් තුළින්, පුද්ගලික හා සාමූහික ආගමික වාතාවරණයන් ශක්තිමත් කරයි. (උදාඃ- බෞතීස්මය, කැපකිරීම, ශුද්ධ සහභාගිකම ආදී ලෙසට)

මෙලෙස ලාංකේය ජනතාවක් ලෙසට අපට ම උරුම සංස්කෘතිමය අගයයන් ද පවතී. ඒවා කිතුනුවන් හට නිශ්චිත නියමයන් හා නියෝගයන් නොවූවත්, එකමුතු සමාජ ගමනක යෙදීමට ප්‍රයෝජනවත් වෙයි.

(උදාඃ- සිංහල/හින්දු අලුත් අවුරුද්දට අදාළ යම් පිළිවෙත්, අකුරු කියවීම, නම් තැබීම, රන්කිරි කට ගෑම, ගෙට ගෙවදීම, මුල්ගල තැබීම, අසනීප, බෝවන රෝග ඇතිවිට කොළ අතු එල්ලීම යනා දී ලෙසට)

නමුත් කිතුනුවා මේවා භාවිත කිරීමේ දී කිතුනු ඇදහිල්ලට ශු. බයිබලීය පදනමට පටහැනි නොවිය යුතු ය. ඉතා කල්පනාකාරී ව, දෙවියන් වහන්සේට මුල් තැන දෙමින් කටයුතු කිරීම වැදගත් වේ. ලාංකේය ජන සමාජය තුළ කිතුනු බැතිමතුන් අන් අය සමග සාමූහික ගමනක යෙදෙන්නට මෙය උපකාර වනු ඇත.

# ජේසුස් වහන්සේ කැප කිරීම.

කැප කිරීමේ පිළිවෙත ඉටු කිරීමට ජේසු බිළිඳා රැගෙන ආ අවස්ථාවේ දී දේව මාලිගාවේ දී පුද්ගලයන් දෙදෙනකු සිටියා හ. සිමියොන් හා අන්නා යනු ඔවුන්ගේ නමය.

| ආත්මික ව පෝෂණය වූ පුරුෂයකු හා ස්ත්‍රියකගේ අත්දැකීම් | |
|---|---|
| **සිමියොන් -**<br>අර්ථය: **දෙවියන්වහන්සේ ඇසූ සේක**<br><br>❉ දැහැමි බැතිමතෙකි.<br><br>❉ ශුද්ධාත්ම වැඩ විසීම අත්දුටුවෙකි.<br><br>❉ මරණයට පෙර මෙසියස් වහන්සේ දකින බවට අනාවරණය ලද්දෙකි. | **අන්නා දිවැසිවරිය**<br><br>❉ දේව මාලිගාවේ නිරන්තර යාච්ඤාවේ යෙදී සිටියා ය.<br><br>❉ එහි රැඳී උපවාසයෙන් හා යැදුමින් දේව සබඳතාවය අපේක්ෂාවෙන් සිටියා ය.<br><br>❉ දේව මාලිගාවේ නමස්කාරයේ යෙදී සිටියා ය. |
| **ප්‍රකාශනයේ වැදගත්කම**<br>❉ ජේසුස් වහන්සේ මෙසියස් බව හඳුනා ගැනීම.<br>❉ මෙසියස් වහන්සේ දෙන ගැළවීම සියලු විජාතීන්ට විවෘත බව.<br>❉ මෙසියස් වහන්සේ තුළින් ඉශ්‍රායෙල් ජාතීන් නොවන අයට ද ජීවිතාලෝකය ලැබෙන බව.<br>❉ මෙසියස් වහන්සේ ඉශ්‍රායෙල් සෙනගගේ මහිමය යි.<br>❉ මෙසියස් වහන්සේ පිළි නොගන්නා අයගේ වැටීම.<br>❉ ජේසුස් වහන්සේ අනාගතයේ දී සිදු කරන දිවි පිදීම නිසා මවක ලෙසට මරිය තුමිය විඳින්නට යන වේදනාව. | **ප්‍රකාශනයේ වැදගත්කම**<br>❉ මෙසියස් වහන්සේ ගැන දෙවියන් වහන්සේට තුති පිදීම.<br><br>❉ ජෙරුසලමේ විමුක්තිය බලා සිටි විජාතීන්ට, ජේසුස් වහන්සේ එම විමුක්තිදායකයාණන් බවට හඳුන්වා දීම.<br><br><u>මෙසියස්</u><br>මෙසියස් - . හෙබ්‍රෙව්<br>ක්‍රිස්ටොස්- . ග්‍රීක්<br>(ගැලවුම්කරු -. ආලේප ලත් තැනැත්තා) |

ජෙරුසලමේ දේව මාලිගාව තුළ දී ම සිමියොන්තුමා හා අන්නා දිවැසිවරිය බිළිඳු ජේසුස් වහන්සේ මෙසියස් වහන්සේ ලෙස හඳුනා ගැනීම වැදගත් ය.

# දොළොස් වියේ දී ජේසුස් වහන්සේ දෙමාපියන් සමගින් ජෙරුසලම් දේව මාලිගාවට යෑම

ජුදෙව් පාස්කුව සමරන විට දී හැකි සෑම ජුදෙව්වකු ම ජෙරුසලම් දේව මාලිගාවට පැමිණිය යුතු බව ද  වසරකට තුන් වරක් වත් මංගල්‍යය සැමරුම්වලට සහභාගි වීමට පැමිණිය යුතු බව ද කියා නික්මයාම පොතේ නියමයක් තිබේ.

ජුදෙව් සමාජය විසින් පිරිමි දරුවන් වයස අවුරුදු 12 දී වැඩිහිටියන් ලෙසට පිළිගනු ලැබේ. එවිට ඔවුන් ව දේව මාලිගාවට ගෙනෙන අතර, ටෝරාව ලෙස හඳුන්වනු ලැබූ ජුදෙව් ව්‍යවස්ථාව ඉගෙනීමට ඔවුන්ට අවස්ථාව ලැබේ. මෙම වයසේ දී ඔවුහු දේව මාලිගාවේ දී පෙනී සිටිය යුතු ය. මෙම පිළිවෙත සම්පූර්ණ කිරීමෙන් ටෝරාව ඉගෙනීමට අවස්ථාව ඔවුන්ට විවෘත වේ. ඔහු ව්‍යවස්ථාවේ පුත්‍රයකු සේ ජුදෙව් ව්‍යවස්ථාවට යටත් ව ජීවත් වීමට බැඳීම සිදු වෙයි.

**ජුදෙව් පාස්කු මංගල්‍යය** -

**දෙවියන් වහන්සේ ඉශ්‍රායෙල් ජනතාව මිසරයේ වහල් බැඳුමින් මුදවා ගෙන, මෝසෙස්ගේ නායකත්වය තුළින් කානාන් දේශයට ගෙන ඒමේ සිද්ධිය අනුස්මරණය කෙරේ.**

ඉහත නියෝග ඉටු කරනු වස්,  මරියතුමිය ජෝසෙප්තුමා හා ජේසුස් වහන්සේ ඥාතීන් සමග නාසරෙත් නුවර සිට ජෙරුසලම් දේව මාලිගාවට පැමිණි සේක.

## එහි දී සිදු වූ විශේෂ සිද්ධීන්

**ජේසුස් වහන්සේ දේව මාලිගාවේ නතර ව සිටීම. එම නිසා මරියතුමිය හා ජෝසෙප්තුමා නැවත ජෙරුසලමට හැරී ඒම.**

**විශ්මිත දර්ශනයක් - ජේසුස් වහන්සේ දේව මාලිගාවේ පඬිවරුන් සමග වැඩ හිඳිමින්, ප්‍රශ්න විචාරමින්, සාකච්ඡා කරමින් සිටීම.**

මරියතුමිය තමන් සෙවූ බව දැක ජේසුස් වහන්සේ පැවසූ වදන් මේ සිද්ධියේ දී ඉතාමත් වැදගත් ය.

**ඔබ මා සෙවුවේ මන්ද ?**
**මා පියාණන්ගේ මැඳුරෙහි සිටිය යුතු බව**
**ඔබ නොදන්නෙහි ද ?**
**ශු. ලූක් 2: 49**

**ඉහත ප්‍රකාශන තුළින් වැදගත් කරුණු කිහිපයක් අනාවරණය වෙයි.**

1. ජේසුස් වහන්සේ, දෙවියන් වහන්සේ තම පියාණන් වහන්සේ බව හඳුනාගෙන, එය ප්‍රකාශ කළ බව.

2. ජේසුස් වහන්සේ ළමා කාලයේ සිට ම දේව රාජ්‍යයේ මෙහෙවර පිළිබඳ ව අවබෝධයෙන් යුතු ව ක්‍රියා කළ බව

මෙම සිදුවීමෙන් පසු ව උන්වහන්සේ නාසරෙත් නුවරට ගොස් දෙමාපියන්ට ඉතා කීකරු ව වැඩ සිටි බවත් පරිපූර්ණ පුද්ගලයකු සේ වැඩුණ බවත් වාර්තා වේ.

**ජේසුස් වහන්සේ, ප්‍රඥා මහිමයෙන් හා කාය**
**ශක්තියෙන් ද දෙවියන් වහන්සේගෙන් හා**
**මිනිසුන්ගෙන් ද ප්‍රසාදය ලබමින්**
**වැඩුණ සේක.**
**ශු. ලූක් 2: 52**

ජේසුස් වහන්සේගේ ළමා කාලය හා ඊට අදාළ සිදුවීම් සියල්ල අද ඔබ වැනි කිතුනු දරුවන්ට හා කිතුනු ජන සමූහයට මහත් ආදර්ශයකි.

ක්‍රියාකාරකම

1. ජුදෙව් ආගමික නියමයන් පිළිවෙළින් සටහන් කර, ඒවායේ ඉතිහාසගත පදනම් හඳුන්වා දෙන්න.
2. "මා පියාණන්ගේ මැඳුරෙහි සිටිය යුතු බව ඔබ නොදන්නෙහි ද ?" ජේසුස් වහන්සේගේ මෙම ප්‍රකාශනයේ අර්ථය කුමක් ද ? ඉන් ඔබ ලබන පණිවුඩය ලියන්න.
3. ශ්‍රී ලාංකේය ජන සමාජය තුළ පවතින කිතුනු විශ්වාසයන් හා පටහැනි වන හා පටහැනි නොවන චාරිත්‍ර/සිරිත් විරිත් පිළිබඳ විවෘත සාකච්ඡාවක යෙදෙන්න.

# 6. පෙරමග දූත සේවය

**මිනිසා පාපයෙන් ගලවා ගැනීම උදෙසා ජේසුස් වහන්සේ මෙලොවට වැඩිය සේක. මෙය දේව සැලැස්මට අනුව සිදු වූවකි. පාපය හඳුනා ගෙන ඉන් මිදීමට මග පෙන්වීමත් මනස්ථාපනය වීමට සැලැස්වීමත් ස්නාවක ජොහාන්තුමාගේ මූලික කාර්යය විය. එම කාර්යය ජේසුස් වහන්සේගේ මෙහෙවරට මූලික පසුබිම සකස් කිරීම උදෙසා ම විය. මෙම පාඩමෙන් විමසා බැලෙන්නේ ස්නාවක ජොහාන්තුමාගේ එම පෙර මග දූත මෙහෙවර පිළිබඳව ය.**

**ශු. ලූක් 3: 1-20**

ජුදෙව් බලාපොරොත්තුව වූ මෙසියස් වහන්සේගේ පැමිණීම අපේක්ෂිත ව සිටි එම ජනතාවට එය සිදු වීමට ආසන්න බව දැන ගන්නට හරිමින්, ස්නාවක ජොහාන්තුමා ජේසුස් වහන්සේගේ මෙහෙවර වෙනුවෙන් පෙර මග දූත කාර්යය ඉටු කරන ලදි.

රෝම අධිරාජ්‍යයාට යටත් ව තිබූ ප්‍රදේශ වන ජුදය, ගලීලය, ඉතුරය, ත්‍රිකෝනිය සහ අබිලේනය යන ප්‍රදේශවල ජීවත් වූ ජනතාව වෙත, මූලික ලෙස ස්නාවක ජොහාන්තුමාගේ පණිවුඩය යොමු විණි.

ස්නාවක ජොහාන්තුමාගේ කාලය තුළ, එවකට සිටි, ජුදා ආගමික උත්තම පූජක පදවිය ලබා සිටියේ කායාපස් ය. රෝම අධිරාජ්‍යය පවත්වා ගෙන යෑම සඳහා පැවති නීති රීති, බදු බර ජුදෙව් ජනතාව පීඩනයට පත් කරන ලදි. එසේ ම ආගමික නායකයන් ජුදා ආගමික පැවැත්ම ශක්තිමත් කිරීමට වඩා, නිරතුරුව ම රෝම අධිරාජ්‍යයාගේ අවශ්‍යතා අනුව ක්‍රියා කරමින්, තම බලය සුරක්ෂිත කර ගැනිමට ක්‍රියා කළහ. මෙම තත්වය තුළ ජනතාවගේ ජීවිතවල වෙනසක් ඇති කිරීම සඳහා ස්නාවක ජොහාන්තුමා විසින් තම අභියෝගාත්මක පණිවුඩය ගෙනෙන ලදි. එම ප්‍රදේශවල ජීවත් වූවන්ගෙන් විවිධ බදු අය කරන ලදි. මෙම බදු බර සෙනග පිට පැටවීම නිසා ජනතාව අතර රෝම අධිරාජ්‍ය පාලනයට විරුද්ධව රට තුළ, ජනතාව අතර නොසන්සුන් කමක් මේ කාල වකවානුව තුළ පැවතුණි.

ස්නාවක ජොහාන්තුමාගේ උපත මෙන්ම ජීවිතය හා සේවය ද දේව සැලැස්මට අනුව සිදු වූ ආකාරය හඳුනා ගත හැකි ය. ඔබ මේ වන විට මීට පෙර පාඩම් තුළින් එය අධ්‍යයනය කර තිබේ.

දෙවියන් වහන්සේගේ කැමැත්ත අනුව ජීවත් වීම උදෙසා ජීවිත පරිවර්තනයක්, නවතාවයක් ඇතිකර ගැනීම සංකේතවත් කරමින්, ඊට බාහිර ලකුණක් ලෙසට බෞතීස්මය ලබා දෙන ලදි.

මෙම මනස්ථාපනයේ බෞතීස්මය, එතුමා ජුදා ජන කොටසට පමණක් සීමා නොකරමින්, සියලු ම ජන කොටස්වලට ජොර්දාන් ගඟෙන් බෞතීස්මය ලබා ගැනීමට අවස්ථාව ලබා දෙන ලදි.

ස්නාවක ජොහාන්තුමාගේ මූලික පරමාර්ථය වූයේ, ජේසුස් වහන්සේ මෙසියස් වහන්සේ ලෙසට පිළිගැනීමට අවශ්‍ය කරන, පසුබිම සකස් කිරීම යි. ඒ සඳහා මිනිස් ජීවිත වෙනසක් කරා යොමු කිරීම යි. ඒ සඳහා සෙනඟ වෙත ලබා දුන් අනුශාසනා සහ අභියෝග අපි දැන් අධ්‍යයනය කරමු.

## 1. පොදු ජනතාවට

ජනතාව - **"එසේ නම් අප කුමක් කළ යුතු ද ?"**

ස්නාවක ජොහාන් - **"අඳන දෙකක් ඇති අය නැති අයට දෙත්වා !
කෑම ඇති අය කෑම නැති අයට දෙත්වා !" ශු. ලූක් 3: 10**

දිවැසිවර යෙසායා පෙන්වා දී ඇති ලෙසට වංගු, රළු, කඳු හෙල් සේ හඳුනා ගත හැකි ජීවිතය තුළ ඇති විවිධ දේව රාජ්‍යයට නුසුදුසු ගුණාංග වෙනස් විය යුතුය. එවැනි අයහපත් ජීවිත පැවැත්ම ජේසුස් වහන්සේ පිළිගැනීමට බාධාවකි. ජේසුස් වහන්සේගේ සේවයේ පෙර මග සකස් කරමින් මිනිස් ජීවිත පැවැත්ම යහපතට යොමු කිරීමට ස්නාවක ජොහාන්තුමා මෙලෙස ක්‍රියා කාරි විය.

ස්නාවක ජොහාන්තුමා ජනතාවට දුන් මෙම අනුශාසනාව මගින් බෙදා ගැනීම පිළිබඳ ව අවධාරණය කරයි. "අඳන දෙකක් ඇති අය නැති අයට දෙත්වා. කෑම ඇති අය නැති අයට දෙත්වා" යන ප්‍රකාශයෙන් ඇති නැති පරතය පවතින සමාජයකට වෙනසක් කරා මග පෙන්වයි. එම වෙනස නම් තමා සතු දේ අන්‍යයන් සමග (නැති අය සමග) බෙදා ගැනීම යි. බෙදා ගනිමින් එකිනෙකා රැක ගැනීම, පෝෂණය කිරීම, උතුම් ගුණාංගයක් ලෙසට මෙහි දී පෙන්වා දෙනු ලබයි.

පුද්ගලික සිත් වෙනසකුත්, ආත්මාර්ථකාමී ලෙසට තමන් ගැන පමණක් නොසිතා එකිනෙකා රැක බලා ගනු ලබන සමාජයක් ද බිහිවිය යුතු ය. එකිනෙකාගේ අවශ්‍යතා සපුරන, නව ජීවිත පරිවර්තනයක් සඳහා අභියෝග මින් ගෙනෙනු ලබයි.

## 2. රාජ්‍ය සේවයේ යෙදී සිටි අයට

අය කැමියන් - **"ගුරු දේවයිනි අප කුමක් කළ යුතු ද?"**

ස්නාවක ජොහාන්තුමා - **"නියමිත පමණට වැඩියෙන් අය බදු අය නොකරන්න" ශු. ලූක් 3: 12**

ස්නාවක ජොහාන්තුමාගේ මනස්ථාපනයේ පණිවුඩය තුළින් සමාජයේ විවිධ ක්ෂේත්‍රවල සේවය කළ අයගේ ජීවිත වෙනස් කර ගැනීමට ද අභියෝග කළේ ය. රෝම අධිරාජ්‍යයා වෙනුවෙන් බදු අය කරන්නන් ජුදා ජනතාවගේ ප්‍රසාදයට ලක් නොවී ය. අයකැමියන් නීතියට පිටින් මුදල් වැඩිපුර අය කිරීම සිදු වූ බව ස්නාවක ජොහාන් තුමාගේ අත්දැකීම ද වන්නට ඇත. වංචනික භාවයෙන් තොර ව සාධාරණ ව හා අවංක ලෙස සේවයේ යෙදෙමින් යුක්ති ගරුක ජීවිතයක් සඳහා වෙනස් විය යුතු බව පෙන්වා දුන් හ. ජේසුස් වහන්සේගේ මෙහෙයේ පෙර මග දූත සේවයේ යෙදුණ ස්නාවක ජොහාන්තුමා, මෙවැනි කණ්ඩායම් වෙත, මනස්ථාපනයේ බෞතීස්මය දීම තුළින් රටේ යහපත් පැවැත්මට එක්වීමට ආරාධනා කළේ ය.

## 3. ආරක්ෂක අංශය

හේවායෝ - **"ඉතින් අප කුමක් කළ යුතු ද ?"**

ස්නාවක ජොහාන් - **"කිසිවකුගෙන් බලහත්කාරයෙන්වත්, කිසිවක් පැහැර නොගන්න. ඔබට ලැබෙන වැටුපෙන් සෑහී සිටින්න"**

**ශු. ලූක් 3: 14**

රෝම හේවායන්, රෝම අධිරාජ්‍යය වෙනුවෙන් ආරක්ෂක සේවයේ නිරත වූ අය යි. මෙම අභියෝගාත්මක අනුශාසනාව තුළ එදා රෝම හේවායින් සමහරෙක් ක්‍රියා කර තිබෙන අයහපත් කටයුතු දෙකක් පෙන්වයි. එනම් තම නිල බලය යොදාගනිමින් බලහත්කාරයෙන් ජනතාවගේ දේවල් ලබා ගැනීම සහ තම වැටුපෙන් සෑහීමට පත් නොවී තම නිල බලය යොදමින් ජනතාවගෙන් මූල්‍යමය වාසි ලබා ගැනීම යි. ස්නාවක ජොහාන්තුමා මෙය ප්‍රතික්ෂේප කරයි. රෝම හේවායන් තම රැකියාව තුළ අවංක සමාජයට හිතකර සේවයක් කළ යුතු බව පෙන්වා දෙයි.

බලය පවතින විට දී, එය නිසි ලෙස හා සාධාරණ ලෙසට භාවිත කිරීම අවශ්‍ය ය. එවිට සමජයේ සැම අයකුට ම, බියෙන් තොර ව ආරක්ෂිත ව ජීවත් විය හැකි ය. එවැනි සමාජයක් ගොඩ නැංවීමට, මනස්ථාපනයෙන් යුතු ව නවතාවයකින් තම රැකියාවේ නියැලීමට අභියෝගයක් ගෙන දෙයි. රටේ පාලන තන්ත්‍රයේ විශේෂ අංශයක් වූ රාජ්‍ය ආරක්ෂක අංශයේ යෙදෙන්නවුන්ගේ ජීවිත/ප්‍රතිපත්ති වෙනසක් අවශ්‍ය බව මින් පෙන්වා දී ඇත.

## 4. ජුදා ආගමික ජනතාවට

**"එබැවින් ආබ්‍රහම් අපගේ පියාණෝ යයි**
**සිතින් කියා නොගෙන,**
**මනස්ථාපනය වූ බව දැක්වෙන ලෙස හැසිරෙන්න.**
**මන්ද මේ ගල්වලින් ආබ්‍රහම්ට දරු පරපුරක් උපදවා දෙන්නට**
**දෙවියන් වහන්සේට හැකි යයි මම ඔබට කියමි"**

**ශු. ලූක් 3: 8**

ජුදා ආගමික ජනතාව ආබ්‍රහම්, තම පියාණන් ලෙසට හඳුන්වා ගත්හ. නමුත් මෙහි දී ස්නාවක ජොහාන්තුමා මතක් කර දෙන්නේ, එය වචනයට පමණක් සීමා නොවිය යුතු බව යි. ආබ්‍රහම්තුමා දෙවියන් වහන්සේ සමග තිබූ සබඳතාවය මෙන් ඇදහිල්ලේ සබඳතාවයක් පවත්වා ගැනීම අවශ්‍ය බව පෙන්වා දෙයි.

ආබ්‍රහම් දෙවියන් වහන්සේ අදහා ගනිමින්, විශ්වාස කරමින්, දේව කැමැත්තට අනුව ක්‍රියා කරන ලදි. මෙය ක්‍රියාකාරි අර්ථාන්විත ඇදහිල්ලක් සඳහා ගෙන ආ අනුශාසනාවකි.

ඉහත දැක්වෙන අනුශාසනා කරමින්, ස්නාවක ජොහාන්තුමා තමා වෙතට පැමිණි ජනතාවට ජොර්දාන් ගඟෙහි බෞතීස්මය ලබා දුන්නේ ය.

මේ වන විට ජනතාව නැගූ ප්‍රශ්නය වූයේ ජුදෙව් බලාපොරොත්තුව අනුව මෙසියස් වහන්සේ මෙතුමා ද යන්න යි. එම ගැටළුව ඉතා පැහැදිළි ලෙසට එතුමා විසඳාලමින්, ජේසුස් වහන්සේගේ ශ්‍රේෂ්ටත්වය පිළිබඳ පැහැදිළි ලෙස ප්‍රකාශ කළ සේක. "එහෙත් මට වඩා ආනුභාව සම්පන්න උතුමෙක් එන්නේ ය, එතුමාණන්ගේ පාවහන් පටි මුදන්ටවත් මම නොවටිමි." (ශු. ලූක් 3: 16) මෙම ප්‍රකාශය තුළින් ස්නාවක ජොහාන්තුමා ජේසුස් වහන්සේගේ පෙර මග දූත සේවය, මනස්ථාපනයේ බෞතීස්මය තුළින් සිදු කළ බවත්, තම කාර්යයභාරය ඉතා හොඳින් හඳුනා ගෙන සිටි බවත් පෙනී යයි. එසේ ම එතුමාගේ යටහත් පහත් භාවය ද මෙහි දී අවධාරණය වෙයි.

"කමත හොඳ හැටි පිරිසිදු කරන පිණිසත්, ධාන්‍ය පොලා සිය අටුවේ රැස් කරන පිණිසත්, උන්වහන්සේගේ අතේ කුල්ල ඇත. එහෙත් බොල් නොනිමෙන ගින්නෙහි දවාලනු ලැබේ" (ශු.ලූක් 3: 17) මිනිස් ජීවිතය පිළිබඳ ව අවසාන තීරණය ගැනෙන්නේ ජේසුස් වහන්සේ විසින් ය. ඉතා ආනුභාවසම්පන්න ජේසුස් වහන්සේ විනිශ්චය කිරීමේ බලය සතුව එන සේක. එම විනිශ්චයට ලක්වන ජනතාව, පෙර සූදානම් කරමින්, මනස්ථාපනය කාර්යය තුළින්, ජීවිත වෙනස් කිරීමකට මග පෑදීම පමණක් තම සේවය බව මෙහි දී ප්‍රකාශ කරයි. මෙම ප්‍රකාශනයෙන් ක්‍රිස්තුස් වහන්සේගේ ශ්‍රේෂ්ටත්වය පිළිබඳ දැනුම් මාත්‍රයක් ජනතාවට ලබා දුන්නේ ය.

"එතුමාණෝ ශුද්ධාත්මයාණන්ගෙන් ද ගින්නෙන් ද බෞතීස්ම කරන සේක. (ශු. ලූක් 3: 16) ස්නාවක ජොහාන්තුමාගේ මනස්ථාපනයේ බෞතීස්මය ජලයෙන් සිදු කළ ද ක්‍රිස්තුස් වහන්සේ විසින් ශුද්ධාත්මයාණන්ගෙන් ද, ගින්නෙන් ද බෞතීස්මය සිදු කරනු ලබන බව ස්නාවක ජොහාන් තුමාගේ පණිවුඩය විය. මෙම ජීවිත පවිත්‍ර කිරීමේ කාර්යය ඉතා බලවත් බව ශුද්ධාත්මයාණන්ගෙන් ද ගින්නෙන් ද යන ප්‍රකාශයෙන් ජනතාවට ජොහාන්තුමා පැහැදිලි කරන ලදි. පැරණි ගිවිසුමෙහි දෙවියන් වහන්සේගේ වැඩ සිටීම 'ගින්න' මගින් සංකේතවත් කරයි. මෝසෙස්තුමාගේ කැඳවීමේ දී 'ඇවිලෙන ගිනි පඳුරෙන්' එය වඩාත් පැහැදිලි වේ. එසේම ශුද්ධාත්මයාණන් වහන්සේ මිනිස් හදවතේ ඇති අපවිත්‍ර දේ ඉවත් කරමින්, පුළුස්සමින් ජීවිත අළුත් කිරීමක් සිදු කරන සේක.

ස්නාවක ජොහාන්තුමාගේ මනස්ථාපනයේ පණිවුඩය හා සමග දුන්, අනුශාසනාව හා අනතුරු ඇඟවීම් ප්‍රතික්ෂේප කළ අය ද සිටියහ. හෙරෝද් රජතුමා, ඔහුගේ සොහොයුරාගේ බිරිඳ වූ හෙරෝදියස් සම්බන්ධ ව ක්‍රියා කර තිබෙන පිළිවෙළ පිළිබඳ ව කථා කරමින්, හෙරොද්ගේ දුෂ්ටකම ගැන තරවටු කළේ ය. හෙරොද් රජතුමා එය ප්‍රතික්ෂේප කළා පමණක් නොව, ස්නාවක ජොහාන්තුමා ව සිරගත කර, මරණයට පත් කළේ ය. එයින් පැහැදිලි වන්නේ ස්නාවක ජොහාන්තුමාගේ මරණය පවා සිදු වුණේ මෙම මනස්ථාපනයේ පණිවුඩය කරණකොට ගෙන බව ය. මෙහි දී අපට පෙනෙන්නේ ස්නාවක ජොහාන්තුමා ඉතා එඩිතර ව පාපයෙන් මිදෙන්නට අනුශාසනා හා තරවටු කළ බව යි. එම නිසා එතුමාගේ මනස්ථාපනයේ පණිවුඩය ඉතා බලවත් වූවා සේ ම ජේසුස් වහන්සේගේ මෙහෙවරට අවශ්‍යය පසුබිම ද සකස් කර දෙන ලදි.

අද සමාජයේ වෙසෙන සැම කොටසකට ම ස්නාවක ජොහාන්තුමාගේ අනුශාසනා සහ තරවටු අදාළ වේ. ඒ තුළින් එල්ල වූ අභියෝග මගින් සහෝදරත්වයෙන් යුතු ව, ආත්මාර්ථකාමී නොවී, තමාට ඇති දේ බෙදා ගනිමින්, එකිනෙකාව පෝෂණය කරමින්, ජීවත් වීම සඳහා ජීවිත වෙනසක් ඇති කර ගැනීමට මග පෙන්වීමක් ලැබේ.

සමාජය තුළ තමා කරන ඕනෑම කාර්යය භාරයක දී අවංකව, කාර්යක්ෂම ව තරාතිරම් නොබලමින්, ලාභ නොතකා, සාධාරණ ව හා යුක්ති ගරුක ව සේවය කිරීම අවශ්‍ය ය. වරද පවතින ස්ථානවල දී එය නිවැරදි කිරීමට වෑයම් කරමින්, යහ ගුණ පිරි සමාජයක් උදෙසා ක්‍රියාකාරී වීම ගුණ ගරුක පුරවැසියන්ගේ යුතුකමකි.

පාසලේ ඉගෙනුම ලබමින්, හැදෙන වැඩෙන ඔබට සමාජය තුළ නව පරිවර්තනයක් ඇති කිරීම සඳහා ස්නාවක ජොහාන්තුමාගේ මනස්ථාපනයේ පණිවුඩය මහත් අභියෝගයක් වනු ඇත. අයහපත් ක්‍රියාවනට යොමු වන අවස්ථාවල දී මනස්ථාපනයේ පණිවුඩය සිහිපත් කර ගන්න. එවිට අභියෝග ඉදිරියෙහි යහපත් මාර්ගයට යොමු වීමට මගපෙන්වීම ලැබෙනු ඇත.

## ක්‍රියාකාරකම

1. ස්නාවක ජොහාන්තුමාගේ පෙර මග දූත සේවයේ දී, විවිධ කණ්ඩායම්වලට දුන් අනුශාසනා අද සමාජයට කොතෙක් දුරට සම්බන්ධ කළ හැකි ද යන්න සංසන්දනාත්මක ව ඉදිරිපත් කරන්න.

2. ඔබගේ ජීවිතයේ වෙනස්විය යුතු ගති පැවතුම් හඳුනාගනිමින්, මනස්ථාපනය වෙමින්, ජේසුස් වහන්සේගේ පාමුල දී ගන්නා වූ අලුත් තීරණ මොනවා දැයි ලියා දක්වන්න.

# 7. නාසරෙත්හි දහම් දෙසුම

**ස්නාවක ජොහාන්තුමා වෙතින් බෞතීස්ම ස්නාපනය ලබා, ශුද්ධාත්මානුභාවයෙන් පූර්ණ ව සිටි ජේසුස් වහන්සේ යක්ෂයා විසින් පරීක්ෂා කරනු ලැබ, ඉන් ජයගෙන ගලීලයේ නාසරෙත් නුවරට පැමිණ තම මෙහෙවර ඇරැඹූ සේක. පලස්තීන ජනතාව මේ වන විට ආර්ථික, සමාජයීය, දේශපාලන මෙන් ම ආගමික වශයෙන් ද පීඩාවට ලක්ව සිටියහ. ජේසුස් වහන්සේගේ 'දේව රාජ්‍යය' පදනම් කරගත් "සුබ අස්න" එම ජනතාවටත් මුළු මිනිස් සංහතියටත් එදාටත්, අදටත් අනාගතයටත් අදාළ වන අයුරු විමසා බලමු.**

**ශු. ලූක් 3:23,4:14-30**

ජේසුස් වහන්සේ දේව රාජ්‍යය පදනම් කරගත් සුබ අස්න ප්‍රකාශ කිරීමේ තම මෙහෙවර ගලීල ප්‍රදේශයෙන් ඇරඹූ සේක.

ගලීල ප්‍රදේශය අධික ජනගහනයෙන් යුක්ත වූ අතර, ජුදෙව් හා ජුදෙව් නොවන ජාතීහු එහි විසූ හ. පලස්තීනයේ උතුරු ප්‍රදේශය වූ ගලීලයෙහි ජනතාවට සේවය කිරීම සඳහා ජේසුස් වහන්සේ ශුද්ධාත්මයෙන් පූර්ණ ව එහි වැඩිය සේක. උන්වහන්සේගේ ප්‍රසිද්ධ මෙහෙය සිනගෝගය හා ගලීලය ආශ්‍රිත ව අරඹා තිබේ.

ජෙරුසලම් දේව මාලිගාව ජුදෙව් නමස්කාරයේ කේන්ද්‍රස්ථානය වන අතර, එය නමස්කාරය හා පුද පූජා සම්බන්ධ ව වැදගත් තැනක් ඉසිලී ය. ජෙරුසලමෙන් ඈත්ව ජීවත් වූ ජුදෙව්වන් තම ආගමික කටයුතු සඳහා "සිනගෝගයට" රැස් වූහ. සිනගෝගයෙහි ප්‍රධාන කාර්යය වූයේ ආගමික දැනුම "ඉගැන්වීම්" තුළින් ලබා දීම යි. ජේසුස් වහන්සේට නාසරෙත් නුවර සිනගෝගය හුරු පුරුදු ස්ථානයක් විය. එසේ ම උන්වහන්සේ හැදුණේ වැඩුණේ ද නාසරෙත් නුවරෙහි ය. උන්වහන්සේ ගලීල වැසියන්ගේ ප්‍රශංසාව ලබමින් "රබ්බී" එනම් ගුරුවරයකු වශයෙන් ඉගැන්වූ සේක.

භක්තිමත් ජුදෙව් තරුණයකු සේ උන්වහන්සේ සිනගෝගයට නිතිපතා යමින් නමස්කාරයෙහි යෙදුණ සේක. ඉගැන්වීමෙහි ද යෙදුණ සේක.

දැන් අපි ජේසුස් වහන්සේ නාසරෙත්හි සිනගෝගයෙ හි දී කළ ප්‍රසිද්ධ ප්‍රකාශය විමසා බලමු.

**ශු. ලූක් 3: 23, 4: 14-30**

ලූක් 4: 18--21 දක්වා සඳහන් වන නාසරෙත් හි ප්‍රකාශය ජුදෙව් ඉතිහාසය සමග සබඳතාවයක් දක්වයි. මෙම කොටස යෙසායා 61: 1--2 හී සඳහන් ව තිබේ. මෙය ජුදෙව්වන් බැබිලෝනියේ විප්‍රවාසි ව සිටි යුගයේ දී එම තත්වයෙන් මිදීම සඳහාත්, බලාපොරොත්තු සහිත ව ජීවත්වීම සඳහාත් යෙසායා දිවැසිවරයා තුළින් දෙවියන්

වහන්සේ දුන් පණිවුඩයකි. එම දිවැස් වැකි අද සම්පූර්ණ වූ බව ජේසුස් වහන්සේ ප්‍රකාශ කළ සේක. එය කිතුනු ප්‍රජාව "නාසරෙත් හි ප්‍රකාශය" ලෙස හඳුන්වනු ලබයි.

සිනගෝගයෙ හි උපස්ථායක තැන විසින් රබ්බීවරයකු වූ ජේසුස් වහන්සේට හකුළන ලද පොතක තිබූ දිවැසිවර යෙසායාගේ ග්‍රන්ථය දෙනු ලැබී ය. ජේසුස් වහන්සේ ම ඉහත පාඨය සොයා ගෙන, සාමාන්‍ය සිරිත ලෙසට නැගිට කියවා, රබ්බී වරයකු සේ වාඩි වී ඉගැන්වූ සේක.

එදා ජේසුස් වහන්සේ කළ "නාසරෙත් හි ප්‍රකාශය" සැම යුගයකට ම අදාළ වෙයි. එදා සමාජය තුළ සිටි දිළිඳුන්ට, වහලුන්ට, අන්ධයන්ට, පීඩිත වූවන්ට සමාජය තුළ පිළි ගැනීමක් තිබිණි ද ? ආගමික පරිසරය තුළ රැකබලා ගැනීමක් තිබිණි දැයි විමසිය යුතු ය. එය ඉතා අවම මට්ටමක වූ බව නම් පැහැදිලි ය.

**ජේසුස් වහන්සේගේ සේවය**
**ශු. ලූක් 4: 18-21**

**දිළිඳුන්ට - සුබාරංචිය දේශනා කිරීම**
**වහලුන්ට - මිදීම ලැබෙන බව දැන්වීම**
**අන්ධයන්ට - පෙනීම ලැබෙන බව දැන්වීම**
**පීඩිත වූවන් - මුදවාලීම**
**සියලු දෙනාට ම ස්වාමින් වහන්සේගේ ප්‍රසාදය ලත් වසර ප්‍රකාශ කිරීම**

දැන් අපි සවිස්තරාත්මක ලෙස මෙය අධ්‍යයනය කරමු.

### දිළිඳු අය

දේව මාලිගාවේ වත් පිළිවෙත්, පුද පූජා හා ඒ ආශ්‍රිත වැඩ කටයුතු වල දී දිළින්දන් තම දිළිඳුකම නිසා ඒවාට සහභාගි වීම ඉතා විරල විය. ජේසුස් වහන්සේගේ පැමිණීම හා උන්වහන්සේගේ සේවය ශාරීරික, මානසික, ආත්මික හා සමාජමය ලෙස ට දිළිඳු භාවයට පත් වූ සියලු දෙනාට ම සුබ අස්නකි. සමාජය තුළ පැගී සිටින දිළින්දා රකින්නට, ඇසුරු කරන්නට, ඔවුන් වෙනුවෙන් ක්‍රියා කරන්නට තමන්වහන්සේ ආලේප කොට ඇති බව ජේසුස් වහන්සේ ප්‍රකාශ කළ සේක. සමාජය කොන් කළ දිළිඳු අය, ජේසුස් වහන්සේගේ පිළි ගැනීමට ලක් ව තිබෙන බව මෙහි දී අපට දැකිය හැකිය. ජේසුස් වහන්සේ දිළිඳු අයගේත් ස්වාමින් වහන්සේ බව මෙහි දී පෙන් වූ සේක.

### වහලුන්

නිදහස් ලෙස ජීවත් වීමට දෙවියන් වහන්සේ විසින් නිර්මාණය කළ මිනිසා නිදහස රහිත ව බැඳුම් සහිත ව සිටීම දෙවියන් වහන්සේගේ අපේක්ෂා ව නොවේ. ජුදෙව් නීති පද්ධතිය තුළ පවා (ලෙවී 25: 8--20) "ජුබිලි වසරේ දී" වහලුන් ව නිදහස් කිරීම අනිවාර්ය වෙයි.
තව ද දේව ස්වරූපයෙන් මවනු ලැබූ මිනිසා විවිධ සම්පත්, පුද්ගලයන් අශුද්ධ බලවේගවලට නතු වී, බැඳී, මිදීමට බැරි ව සිටින විට දී ද, එම මිදීමේ කාර්යය සම්පූර්ණ කිරීම සඳහා තමන්වහන්සේ පැමිණි බව ප්‍රකාශ කළ සේක.

### අන්ධයන්

ජේසුස් වහන්සේගේ සේවයේ දී ශාරීරික ව අන්ධ වූවන්ට සුවය ලබා දුන් සේක. ඔවුන් හට දයාවෙන් යුතු ව ලබා දුන් සුවය නිසා ඔවුන්ගේ ජීවිත ආලෝකවත් විය.

ශාරීරික ලෙස පමණක් නොව මානසික ව හා ආත්මික ලෙස ද හරි දේ නොදකින අන්ධ ව සිටින අය වෙත ද උන්වහන්සේගේ සේවය ව්‍යාප්ත විය. ඒ කරණකොට ගෙන අසරණ ජීවිත ශාරීරික ව, මානසික ව හා ආධ්‍යාත්මික ලෙස ගොඩ නැගූ බව ද සුරක්ෂිත කළ බව ද පෙනී යයි.

### විවිධාකාර ලෙස පීඩිත වූවන්

ජේසුස් වහන්සේ උන්වහන්සේගේ සේවයේ දී විවිධ පීඩාවන්ට පත් වූ තම අනන්‍යතාවය පවා අහිමි වී ගිය මිනිසුන් දිරිගන්වමින් එම පීඩාවලින් ඔවුන් මුදවා ලූ සේක. අශුද්ධාත්ම නිසා පීඩනයට පත් බොහෝ මිනිසුන් (තම අනන්‍යතාවය අහිමි වී ලෙගියොන් ලෙසින් තමන් ව හඳුන්වා ගත්) මුදනු ලැබ නිදහස් ලෙසත්, ප්‍රීතියෙනුත් ජීවත් වීමේ වරප්‍රසාදය උන්වහන්සේ තුළින් ලැබූහ.

ජුදෙව් නීති පද්ධතිය අර්ථ කථනය කළ පිළිවෙළ අනුව, පීඩනයට හා කොන් කිරීමට ලක් වූ ජනතාවට, උන්වහන්සේ සබත් දිනයේ දී පවා සේවය කරමින්, නීතියට නව අර්ථ කථනයක් දෙමින් නිදහස් ලෙස ජීවත් වීමේ අයිතිය ලබා දුන් සේක.

### මුලු ජන සමූහයට ම

ජේසුස් වහන්සේ යොදාගත් දිවැසිවර ප්‍රකාශයේ අවසාන පාඨය මුළු ජන සමූහය ම වෙනුවෙනි. ඉශ්‍රායෙල් ඉතිහාසය තුළ දිවැසිවරු බොහෝ දෙනකු බලා සිටියේ, දෙවියන් වහන්සේගේ අනුග්‍රහය, වරප්‍රසාදය පිරි, සාමය උදාවන හා සාමය පිරී ඉතිරී යන කාලයකි.

රටක වැදගත් සැමරුම් වසරක් අරඹන විට දී ඒ සම්බන්ධ ව ඉහළ වගකිව යුතු නිලධරයකු ප්‍රසිද්ධ ලෙස එය ප්‍රකාශයට පත් කරනු ලැබේ.

එලෙසින් ම ජේසුස් වහන්සේ ලොව පැමිණීම තුළින්, පාපයට යටත් ව සිටින ලෝකයට ඉන් මිදීම සඳහා දේව අනුග්‍රහය ලැබීමේ සහතිකය එදින ප්‍රකාශයට පත් කළ සේක.

**නාසරෙත් හි ප්‍රකාශයට එරෙහි වූ ජනතාවට ජේසුස් වහන්සේ කුමන ප්‍රතිචාරයක් දැක්වී ද යන්න සලකා බලමු.**

**පළමුව** දේව රාජ්‍යය අන්‍යයන් සඳහා ද විවෘතව පවතින බව උන්වහන්සේ තහවුරු කළ සේක. මෙසියස් වහන්සේ හා දේව රාජ්‍යය තමන් සතු බව ජුදෙව්වරු විශ්වාස කළ හ. තමන්වහන්සේගේ සේවය ආරම්භයේ දී ම එය එසේ නොවන බව ද අන්‍ය ජාතීන් වෙනුවෙන් ද දේව රාජ්‍යය විවෘත ව පවතින බව ද පෙන්වූ සේක. ඒ සඳහා එලියා දිවැසිවරයා ව පෝෂණය කිරීමට දෙවියන් වහන්සේ ෂාරපෙත්හි වැන්දඹුව තෝරා ගැනීම (1 රාජාවලිය 17: 8--24) හා එලිෂා දිවැසිවරයාගෙන් සුවය ලැබීමට නාමන් නම් අන්‍ය ජාතික සේනාධිපතිතුමා (2රාජාවලිය 5:1--27) තෝරා ගනු ලැබීම උදාහරණ ලෙස පෙන්වා දිය හැකිය.

**දෙවනුව** තමන්වහන්සේ "ප්‍රතික්ෂේප කරනු ලැබූ දිවැසිවරයා" ලෙස ජනතාවට දැනෙන්නට ඉඩ හරින ලදි.

**"වෙද තුමාණෙනි ඔබ ම සුව කරගන්න" ලූක් 4: 23**

**"ගමේ දිවැසිවරයා ගමට අගේ නැත" ලූක් 4: 24**

ජුදා ජන සමාජය තුළ භාවිත කළ ඉහත ප්‍රස්ථා පිරුළු එතැන සිටි ජනතාවගේ අදහස් පෝෂණය කිරීමට යොදාගත් සේක. එසේ ම උන්වහන්සේ ව තම ගමේ සෙනග ප්‍රතික්ෂේප කිරීම ද මෙම අදහස තහවුරු කරයි..

**තුන්වනුව** අපට පෙනෙන්නේ උන්වහන්සේ එම ප්‍රතික්ෂේප කිරීම්වලට ඉතා අභීත ව මුහුණ දුන් බව යි. තමන් ප්‍රතික්ෂේප කළ ජනතාවට ඔවුන්ගේ ප්‍රස්ථා පිරුළු යොදා ගනිමින් ද ඔවුන්ගේ ම ඉතිහාස සිදුවීම් ඉදිරිපත් කරමින් ද ඔවුන් ඉදිරියේ සිටිමින් ම කතා කළ සේක. එසේ ම ජුදෙව් රබ්බීවරයකු සේ සිනගෝගය තුළ සිටිමින් තම අර්ථ දැක්වීම කළ සේක. කෝපාවිෂ්ට වූ ජනතාව උන්වහන්සේ ව මරණයට පත් කිරීම පිණිස කන්දෙන් පහළට හෙලනු ලබන්නට ගෙන ගිය කළ, නොසැලී, අභිත ව ක්‍රියා කරමින් ඔවුන් මැදින් ගමන් කර පිටත් ව ගිය සේක.

තමන්ට එරෙහි වූ ජනතාව ඉදිරියේ උන්වහන්සේ ක්‍රියා කළ පිළිවෙළ තුළින් ප්‍රශ්න හමුයේ නොසැලී ක්‍රියා කිරීමට මින් අප උගනිමු.

මෙලෙස, ජේසුස් වහන්සේ තමන් වහන්සේගේ පැමිණීමත් සමග ම දේව රාජ්‍යය මිහිමත ස්ථාපිත කිරීමේ කාර්යය ඇරඹී ඇති බව, නාසරෙත් හි ප්‍රකාශය තුළින් තහවුරු කළ සේක. උන්වහන්සේගේ සේවය සඳහා ආලේපය දෙවි සමිඳාණන් වහන්සේ ම සිදු කළ දෙයකි.

ජුදෙව් ජන සමාජය තුළ පූජක, රජ හා දිවැසිවරුන් තෙලින් ආලේප කරනු ලබයි. ඉන් අර්ථවත් වන්නේ එම අදාළ කාර්යය සඳහා කැප කිරීමකි.

නාසරෙත් හි ප්‍රකාශය තුළ ගැබ්ව පවතින්නේ, දෙවි සමිඳාණන් වහන්සේ ම ආලේප කිරීමකි. ශුද්ධාත්ම ආලේපය දෙවියන් වහන්සේගෙන් ලත් ජේසුස් වහන්සේ දේව රාජ්‍යය මිහිමත ස්ථාපිත කිරීමේ තම කාර්යභාරය සියලු අභියෝග මැද නොසැලී ක්‍රියාකරමින් ඉටු කළ සේක.

**ක්‍රියාකාරකම**

1. ජේසුස් වහන්සේ ඉදිරිපත් කළ නාසරෙත්හි ප්‍රකාශයෙන් අද සමාජයට ලැබෙන බලාපොරොත්තුව කුමක් ද යන්න, පැහැදිලි කරන්න.

2. නාසරෙත් ප්‍රකාශය අනුව කිතුනු සභාව හා සමාජය තුළ ඔබට පැවරෙන කාර්ය භාරයේ දී අභියෝග තුළ ක්‍රියා කරන්නේ කෙසේ ද යන්න ලියා දක්වන්න.

# 8. දේව කැඳවීමට ප්‍රතිචාර දක්වමු

**ජේසුස් වහන්සේගේ මෙහෙවරෙහි දී උන්වහන්සේගේ වචනය අසමින්, උන්වහන්සේ අනුව යමින්, උන්වහන්සේ සමග ගැවසෙමින්, ශ්‍රාවකත්වයට බොහෝ දෙනකු ඇතුළු ව සිටියහ. උන්වහන්සේ ඔවුන් අතරින් ශ්‍රාවකයන් 12 දෙනකු 'ප්‍රේරිතයන්' සේ නම් කර තෝරා ගෙන ඔවුන්ට ද තවත් සැත්තෑ දෙනකුට ද ධර්ම දූත සේවයේ යෙදීමට කැඳවූ ආකාරය අද පාඩමෙන් උගනිමු.**

**ශු. ලූක් 5:1-11, 6:12-16, 9:1-6, 10:1-12, 17, 20**

ජේසුස් වහන්සේගේ සේවය ආරම්භයේ දී සිදුකළ 'නාසරෙත්හි ප්‍රකාශය' අපි පසුගිය පාඩම තුළින් හැදෑරුවෙමු. උන්වහන්සේගේ මෙහෙවර තව දුරටත් ඉදිරියට ගෙන යෑම උදෙසා ශ්‍රාවකයන් කැඳවීමත්, ඔවුන් දේව කැඳවීමට දැක්වූ ප්‍රතිචාරයත් අද අපි අධ්‍යයනය කරමු. නාසරෙත් හි සිනගෝගයේදී ජනතාවට දේව රාජ්‍යය පිළිබඳ ව කළ ප්‍රකාශයට පසු ව අද අපට උන්වහන්සේ ව හමු වනුයේ තිබේරියස් විල අසලිනි. මෙම විල තුන් ආකාර නම්වලින් හඳුන්වනු ලැබේ. ඒවා නම්;

- ගලීල මුහුද
- තිබේරියස් මුහුද
- ගෙනසෙරත් විල වශයෙනි.

මෙය සැතපුම් 13 ක් පමණ දිගින් හා සැතපුම් 8 ක පමණ පළලින් යුතු විලක් විය. මෙය මුහුදු මට්ටමේ සිට අඩි 680ක් ගැඹුරු විය. සුභාරංචි හතර දෙස බලන විට ජේසුස් වහන්සේගේ ජීවිතය හා සේවය සමග තිබේරියස් විල බොහෝ දුරට සම්බන්ධ ව ඇත.

**ශු. ලූක් 5: 1-11**
**සේවයේ විකාශනය සඳහා මුල් ශ්‍රාවකයින් කැඳවීම**

ජේසුස් වහන්සේ තිබේරියස් විල අසල දේශනා කරමින් සිටින විට මහත් ජනකායක්, එතුමාගේ වචන අසමින් සිටියහ. විල අසල මසුන් අල්ලන්නන් දැල් සෝදමින් සිටි අතර, ජේසුස් වහන්සේ ඔවුන්ගෙන් ඔරු දෙකක් ඉල්ලාගෙන, දියඹට ගොස් දේශනා කළ සේක. තිබේරියස් විල අසල මුල් ගෝලයන් කැඳවීම සිදුවන්නේ ද මෙම අවස්ථාවේ දී ය.

මෙවිට ජේසුස් වහන්සේ හා සීමොන් අතර සංවාදයක් ඇති විය. ජේසුස් වහන්සේ "දියඹට ගොස් දැල් හෙළන්න" යැයි සීමොන්ට පැවසූ සේක. රාත්‍රිය මුළුල්ලේ වෙහෙස ව මසුන් අල්ලා ගැනීමට නොහැකි ව සිටි සීමොන් "ඔබගේ වචන නිසා දැල් හෙළමි" යි

ප්‍රකාශ කොට කාර්යයෙහි නිරත විය. එම ප්‍රතිචාරයත් සමග විශාල මසුන් ප්‍රමාණයක් අල්ලා ගත හැකි විය. ඒ තුළින් ජේසුස් වහන්සේගේ ශුද්ධවන්තකම සහ බලය අත් දකින සීමොන් උන්වහන්සේගේ පාද පාමුල වැඳ වැටුණේ ය. තම දුර්වල පාපී ස්වභාවය ඔහු ජේසුස් වහන්සේ අබියස හඳුනා ගත්තේ ය. ඒ අවස්ථාවේ දී ජේසුස් වහන්සේ ඔහුගේ ජීවිතයට නව අභියෝගයක් දුන් සේක. එනම් "මෙතැන් පටන් ඔබ මිනිසුන් දිනනු ඇත" යන්න යි. "පර්වතය" යනුවෙන් අරුතලත් "පේදුරු" යන නාමය ද මෙතැන් පටන් දරන ලදි. මෙම ධීවරයෝ ජේසුස් වහන්සේගේ කැඳවීමට ඉතා යහපත් ප්‍රතිචාරයක් දෙමින් උන්වහන්සේ අනුව ගිය හ.

**මෙහිදී අපට ප්‍රධාන කරුණු තුනක් ඉස්මතු වේ.**

1. පේදුරුතුමා (කලින් සීමොන් නම් වූ) ඉතා අත්දැකීම් සහිත ධීවරයකු වුව ද ජේසුස්වහන්සේට කීකරු වීම.

2. එතුමා ජේසුස් වහන්සේගේ ශුද්ධවන්තකම හා දේවත්වයේ බලය අත්දුටු අතර, තම ජීවිතයේ දුර්වල, පාපී ස්වභාවය ද වටහා ගැනීම.

3. එසේ කීකරු වෙමින් තම ජීවිතයේ වෙනසක් වූ සේවයක් සඳහා අනුගත වීම.

ජේසුස් වහන්සේ ඕනෑම අවස්ථාවක දී තමන්ට අභිමත පරිදි විශේෂ සේවාවන් සඳහා පුද්ගලයන් කැඳවනු ලැබේ. වර්තමානයේ ද එය සිදුවන අතර කිතුනු දරුවන් ලෙස එයට දක්වන ප්‍රතිචාර ගැන සැළකිලිමත් වෙමු.

## ශු. ලූක් 6 : 12-16

**ප්‍රේරිත** යන්නෙහි අර්ථය '**විශේෂ මෙහෙයක් සඳහා පුහුණු කර යවනු ලැබූ**' යන්න යි. ජේසුස් වහන්සේ ශ්‍රාවකයන් තෝරා ගැනීමට පෙර මුළු රාත්‍රියක් පුරා යාච්ඤාවෙන් යුතු ව ගත කළ සේක. එම නිසා මෙම තෝරා ගැනීම යාච්ඤාවෙන් යුතු ව දේව මග පෙන්වීමෙන් සිදු වූ බව පෙනී යයි. උන්වහන්සේ දීර්ඝ අභියෝගාත්මක ගමනක් සඳහා ඔවුන් ව තෝරා පත් කළ සේක.

ශ්‍රාවකයන් ලෙස තෝරා ගත් පුද්ගලයන්, විවිධ ප්‍රදේශවලින් පැමිණි , විවිධ වෘත්තිකයන්, විවිධ මතවාද දැරූ අයගෙන් ඒකරාශී වී තිබේ. ඉන් පසක් වන්නේ ක්‍රිස්තුස් වහන්සේ අභිමුවෙහි විවිධත්වය තුළ ගොඩ නැගෙන ශ්‍රාවකත්වයේ එකමුතුව යි. මෙය අද පවතින සභාවට සහ ලෝකයට මහත් අභියෝගයකි.

එසේ ම උන්වහන්සේ තරාතිරම් නොබලා ශ්‍රාවකයන් සේවයට තෝරා ගෙන ඇති බව පෙනී යයි. ක්‍රිස්තුස් වහන්සේගේ ශ්‍රාවකත්වය තුළ ජාති භේද, කුල භේද, වර්ණ භේද, උස් මිටි, කළු සුදු, උගත් හා නූගත් භේද නොමැත. එම ගෝල සමූහය මෙසේ ය.

| ශ්‍රාවක නාමය | විශේෂ සටහන් |
|---|---|
| 1 සීමොන් | පේදුරුලෙස නම් කරන ලදි. පර්වතය (කේපස්) පේදුරුතුමා විසින් මුල් සභාවේ මූලිකත්වය දරන ලදි. ගෝලයන් අතර නිතර ම ඉදිරියෙන් සිටී. |
| 2 අන්ද්‍රෑ | සීමොන්ගේ සොහොයුරා වේ. ධීවරයෙකි. නිතර ම අන්‍යයන් ව ජේසුස් වහන්සේ වෙතට ගෙන ආ කෙනකු ලෙස හැඳින්විය හැකි ය. |
| 3. ජාකොබ් | සෙබදිගේ පුත්‍රයෙකි, ජොහාන්ගේ සොහොයුරෙකි, ධීවරයෙකි. |
| 4.ජොහාන් | සෙබදිගේ පුත්‍රයෙකි, ජාකොබ්ගේ සොහොයුරෙකි සර්ජනාවේ පුත්‍රයෝ, (බොවනර්ගස් නම ලැබී ය) |
| 5. පිලිප් | ග්‍රීක් නාමයකි |
| 6. මතෙව් | ලෙවී නමින් හඳුන්වයි. (ශු. ලූක් 5:27) රෝමය වෙනුවෙන් බදු අය කළේ ය. |
| 7. බර්තලමෙවු | නතානියල් ලෙස හඳුන්වන්නේ මොහු විය හැකි ය. (ජොහාන් 1:45) |
| 8. තෝමස් | ක්‍රිස්තු උත්ථානය නොදැක සැක කළ නමුත් පසු ව පිළි ගත්තේ ය. ජේසුස් වහන්සේ දෙවිඳුන් හා ස්වාමින් ලෙසට අවසානයේ පිළිගෙන ප්‍රකාශ කළහ. |
| 9. ජාකොබ් | අල්පෙවුස්ගේ පුත්‍රයා |
| 10. සීමොන් | අන්ත ජාතිවාදී යන ලෙස නම් කර තිබේ. ශුද්ධ දේශය මත රෝම පාලනය ප්‍රතික්ෂේප කල විප්ලවකාරී, එම පාලනයට එරෙහි ව ක්‍රියා කළේ ය. |
| 11. ජූදස් | ජාකොබ් ගේ පුත්‍රයා ය. (මතෙව් 10:3, මාර්ක් 3:18) |
| 12. ජූදස් | ජේසුස් වහන්සේ පාවා දුන් තැනැත්තා ය. ස්කාරියොත් යන ගමෙන් පැමිණියෙකි. ජේසුස් වහන්සේ සමග සිටි කණ්ඩායමේ මුදල් භාර ව සිටියේ ය. |

මෙම විශේෂ කණ්ඩායමට "ප්‍රේරිතයන්" යන නාමය ජේසුස් වහන්සේ දුන් සේක. එනම් සේවයට පුහුණු කර ලෝකයට පිටත් කිරීමට ජේසුස් වහන්සේ ඔවුන් ව තෝරාගත් බව පෙනී යයි. මුල් සභාව තුළ ඔවුන්ට සේවයේ ජවය ලැබුණේ මෙම පුහුණුව තුළිනි. එම ශ්‍රාවකයන් දොළොස් දෙනා සහ පසුව තවත් හැත්තෑ දෙනකු තෝරා ගෙන සේවයට යැවූ සේක. තව ද තවත් බොහෝ ශ්‍රාවක ශ්‍රාවිකාවන් සිටි බව ශු ජොහාන් 22:11, ශු. ලූක් 8:1--3, 24:13 10:1--12 යනාදී පාඨවලින් පෙනී යයි.

# සේවයට පිටත් කර හැරීම

ජේසුස් වහන්සේ තම ශ්‍රාවකයන් ප්‍රායෝගික ලෙස පුහුණු කරමින් දේව රාජ්‍යය පිළිබඳ සුබ අස්න ප්‍රකාශ කිරීම සඳහා ධර්මදූත චාරිකා 2 ක් සූදානම් කළ සේක.

**එම සේවා චාරිකා දෙක අධ්‍යයනය කරමු.**

| ශ්‍රාවකයන් 12 (ලූක් 9:1-6) | ශ්‍රාවකයන් 70 (ලූක් 10:1-12) |
|---|---|
| ○ සේවා චාරිකාව සඳහා ගෙන නොයා යුතු දේ .(සැරයටිය, මල්ල, රොටි මිල මුදල්, කමිස 2ක්)<br>○ චාම් පැවැත්මක් පවත්වා ගත යුතු විය.<br>○ සුභ අස්න පිළිගන්නා අය සමග නතර ව සිටින්න.<br>○ පිළිනොගන්නා අයගෙන් ඉවත් වන්න පාද වලින් දූලි ගසා දමමින් සාක්ෂියක් දෙමින් ඉවත් වන්න. | ○ දෙදෙනා බැගින් යවන ලදි.<br>○ කලින් සැලසුම් කර ප්‍රදේශ තෝරා ගන්නා ලදි.<br>○ ගෙන නොයා යුතු දේ (පසුම්බිය, මල්ල, පාවහන්)<br>○ පිළිගන්නා අය සමග නතර ව සිටින්න<br>○ පිළිනොගන්නා අය වෙනුවෙන් දූවිලි ගසා දමන්න. |
| පැවරූ කාර්ය | පැවරූ කාර්ය |
| යක්ෂයාගේ බලය හා සියළු ආධිපත්‍ය කෙරෙහි බලය පැවරුම් ලැබ, රෝග සුවකිරීමේ වරම සහිත ව දේව රාජ්‍යය ප්‍රකාශ කිරීම | ○ සේවකයන් ඉල්ලා යාච්ඤා කරන්න.<br>○ නිවෙස්වලට සාමයේ පැතීම.<br>○ රෝගීන් සුව කිරීම.<br>○ දෙවියන් වහන්සේගේ රාජ්‍ය පැමිණ තිබෙන බව දැන්වීම. |

**මෙම චාරිකා දෙක අධ්‍යයනය කිරීමේ දී වැදගත් කරුණු කිහිපයක් අවධාරණය වෙයි.**

1. සුබ අස්න ප්‍රමාද නොවී ප්‍රකාශ කළ යුතු බව

2. "වග වලසුන් මැදට යවමි" යන වචනවලින් ධර්ම දූත සේවයේ දී පීඩා හා අභියෝගවලට මුහුණ දීමට සිදු වන බව

3. චාම් දිවි පෙවතක් ද දෙවියන් වහන්සේ කෙරෙහි සම්පූර්ණ විශ්වාසය හා රැඳීම ද සහිත ව සේවයේ නියැලිය යුතු බව

4. මෙම ශ්‍රාවකත්වය මිල කළ නොහැකි දෙයක් බව, අසීරු දෙයක් බව හා සැලසුම් සහගත ලෙසට යාච්ඤාවෙන් ගමන් කළ යුතු බව. (ශු. ලූක් 57:62, 14:25--33) ශ්‍රාවකයන් ලැබූ පුහුණුව ජේසුස් වහන්සේගේ උත්ථානයට පසු ව මුල් සභාව ගොඩනැගෙන සමයේ, මුහුණ දෙන්නට සිදු වූ සියළු අභියෝගවල දී නිසැක ලෙසම සිහිපත් වන්නට ඇති බව. ධෛර්යයක් වන්නට ඇති බව.

5. ධර්මදූත සේවය තුළ සාම පැතුම් ගැබ්ව තිබිය යුතු බව

6. සැත්තෑ දෙනකුගේ ධර්මදූත චාරිකාවේ දී දෙදෙනා බැගින් යැවීම තුළ සාමූහික ව සේවය කිරීම, සහෝදරත්වයෙන් යුතු ව සේවය කිරීම තුළින්, සේවයේ වර්ධනය හා ගුණාත්මක භාවය ගොඩ නැගී ඇති බව

7. ගොයම (ඵලදාව/ප්‍රතිඵල) අයිති දෙවියන් වහන්සේට බව

8. සේවය සහ සේවකයන් උදෙසා යාච්ඤා කිරීම අවශ්‍ය බව

## ධර්මදූත චාරිකාවල දී ලද ප්‍රතිඵල මොනවාද?

**ශු. ලූක් 9:6, 10-17, 20.**

1. රට පුරා සුබ අස්න ප්‍රකාශ වීම

2. දෙවියන් වහන්සේගේ නාමය තුළ රෝගීන් සුවය ලැබීම

3. දුෂ්ට ආත්ම යටත් වීම.

ශ්‍රාවකයන් සේවයේ ප්‍රතිඵල බලා ප්‍රීතිමත් විය යුත්තේ "නපුරු බලය තමන්ට අවනත වීම නිසා නොව, ස්වර්ගයේ නම ලිය වී තිබෙන නිසා"ය, යනු ජේසුස් වහන්සේගේ ඉගැන්වීම විය. එහි අරුත නම් සේවයට කැඳවනු ලැබීමේ උතුම්කම ය. දේව රාජ්‍යය මිහි පිට පැතිරීම ශ්‍රාවකයන්ගේ මෙම සේවාවන් තුළින් සිදුවෙයි.

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ ධර්මදූත සේවාවන්ට ධර්මදූතයන් පිටත්කර යැවීමේ දී ඔවුන්ට ලබා දුන් මග පෙන්වීම් 5 ක් ලියා එක් එක් කරුණෙහි ඇති වැදගත්කම ඔබ දකින්නේ කෙසේදැයි පහදන්න.

2. ස්ව කැමැත්තෙන් දේව සේවයට ඇතුළත් වන අය අභියෝග ඉදිරියේ වුව ද අවංක ව තම සේවය දියත් කළ යුතු අන්දම පැහැදිලි කරන්න.

# 9. සමාජයට නව අරුතක්

**දේව රාජ්‍යය මුළු ලෝකය තුළ ස්ථාපිත කිරීම ක්‍රිස්තුස් වහන්සේගේ මෙහෙවරෙහි අරමුණ විය. විවිධ හේතූන් මත ප්‍රතික්ෂේපය, අවතක්සේරුව මත වේදනාවට, අසහනයට පත් බලාපොරොත්තු සුන් වූ ජනතාවගේ ජීවිත නඟා සිටුවීමට උන්වහන්සේ මැදිහත් වූ සේක. එලෙස දයානුකම්පිත ප්‍රේමයෙන් උන්වහන්සේ ක්‍රියාකාරී වූ අවස්ථා කිහිපයක් ශුද්ධ ලියවිල්ල තුළින් අවබෝධ කර ගැනීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.**

**ශු. ලූක්** 8: 19-21, 8: 1-3, 10: 38-42, 7: 36-50, 8: 43-48, 13: 10-17, 19: 1-10, 5:12-16, 9: 46-48, 18: 15-17, 17: 1-2

## ශු. ලූක් 8: 19-21

කිතුනු පවුලේ නිර්මාතෘ මැවුම්කාර දෙවියන්වහන්සේ බව අපි පිළිගනිමු. උන්වහන්සේ සමග පවුල ගොඩනගා ගන්නා සබඳතාවය මත, මුලු පවුල ම ලොවට සම්පතකි. බිළිඳු අවධියේ පටන් මව් පිය සෙනෙහස අත් විඳි ජේසුස් වහන්සේ දෙව්ඳුන්ට ගරුබිය පෑමේ වටිනාකම උකහා ගත් සේක. නාසරෙත්හි උන්වහන්සේ විසූ නිවසේ දී පවුලක පැවැත්ම ද අත් විඳි උන්වහන්සේ දේව රාජ්‍යය ස්ථාපිත කිරීමේ සේවයේ යෙදී සිටිය දී, සිය මෑණියන් සහ සහෝදරයන් උන්වහන්සේව බැහැ දැකීමට පැමිණි අවස්ථාවේ දී පවුල් සබඳතාවය පිළිබඳ ව ලබා දුන් පුළුල් ඉගැන්වීම අපි දැන් විමසා බලමු.

ලේ නෑකමට සීමා නොවන, එය අභිබවා යන පුළුල් පවුල් සංකල්පයක් ජේසුස් වහන්සේ පැහැදිළි ව ඉදිරිපත් කළ සේක. "මාගේ මෑණියොත් සහෝදරයොත් නම් දෙවියන් වහන්සේගේ වචනය අසා ඒවා පිළි පදින්නෝ වෙති" මින් අදහස් කරන්නේ "වචනය ඇසීම" හා "එය පිළිපැදීම" අවශ්‍ය බව යි. ක්‍රිස්තියානි ජීවිතය දේව රාජ්‍යයේ ගුණාංග ක්‍රියාත්මක කරන, ක්‍රියාශීලි ඇදහිල්ලේ ජීවිතයකි. එසේ නම් දෙවියන් වහන්සේගේ කැමැත්ත තේරුම්ගෙන, එය ඉටුකරන අය දේව පවුලේ සමීප සබඳතාවයට ඇතුළු වෙති. එවන් සමීප සබඳතාවයකට ඇතුළු වන සියලු ම දෙනාට දෙවියන් වහන්සේගේ පවුලේ දූ පුතුන් වීමේ භාග්‍යය, ආශිර්වාදය නිතැතින්ම ලැබේ. එය ලෝකයේ සම්බන්ධතා ඉක්මවා යන දිව්‍ය සබැඳියාවකි. දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති ක්‍රියාත්මක කරන සමාජීය පවුලකට එවිට අපි ඇතුළු වන්නෙමු.

## ශු. ලූක් 8: 1-3, 10: 38-42. 7:36-50

ජුදෙව් සමාජයේ සියලුම ක්ෂේත්‍රයන් හි පුරුෂ ආධිපත්‍යය කැපීපෙනුණ අංගයකි. බාල වියෙහි සිට ධර්ම ශාලාවල ජුදෙව් ව්‍යවස්ථාව අධ්‍යයනය කිරීම පිරිමි දරුවන්ට විවෘත වූ අතර, ගැහැණු දරුවෝ ගේ දොර කටයුතුවල නිරත වෙමින් ගෙදර දී ආගමික පෝෂණය ලැබූහ. ජේසුස් වහන්සේ තම මෙහෙවරට උර දීමට ශ්‍රාවකයන් ව කැඳවූ නමුත්, දේව රාජයය ගොඩ නැංවීමෙහි ලා පුරුෂයන් හා සහභාගීත්වයෙන් සේවයට අත දීමට කාන්තාවන්ගේ දායකත්වය අත්‍යවශ්‍ය බව අවධාරණය කරමින් සමාජය ඔපවත් කිරීමට පියවර ගත් සේක. ජේසුස් වහන්සේ හා ශ්‍රාවකයන් සමග කිතුනු අනුගාමිකත්වය තුළ ක්‍රියාකාරී වූ කාන්තා දායකත්වය අපි සොයා බලමු.

**ශු. ලූක් 8: 1-3** දක්වා පාඨයේ සඳහන් වන ලෙසට හිමිදිරියේ පටන් හිරු බැස යන තුරු කාර්ය බහුල සත්කාර මෙහෙවරක යෙදී සිටි ජුදෙව් කාන්තාවන්ගේ ජීවිතවලට උන්වහන්සේ නව අනන්‍යතාවයක් ලබා දුන් සේක. ඒ අතර සාමාන්‍ය කාන්තාවන් සේම බලය සහිත අය ද විය. මේ සියල්ලෝ ම ජේසුස් වහන්සේගේ මෙහෙවරේ දී උන්වහන්සේට සමීප ව සිටියහ.

**ශු. ලූක් 10: 38-42** පාඨයෙන් ජේසුස් වහන්සේ නිතර ආගිය, බෙතානියේ නිවසේ සිද්ධිය තව දුරටත් ඉහත දැක් වූ සියල්ල අර්ථවත් ව පැහැදිළි කෙරේ. ජුදෙව් සමාජයේ ගෘහනියකට පැවරී තිබුණ ආගන්තුක සත්කාරය, මාර්තා උපරිමයෙන් ඉටු කිරීමට අධික ලෙස වෙහෙසුණා ය. තම සොහොයුරිය පවා එයට සහභාගි කරවා ගැනීමට ජේසුස් වහන්සේට යෝජනා කළා ය. කාන්තාවන්ට ශුද්ධ ලියවිලි වෙත යොමු වීමට ඉඩ ප්‍රස්ථා නොවී ය. නමුත් මරියා දේව වචනය ඇසීමට යොමු වීම උන්වහන්සේ අගය කළ සේක. ජේසුස් වහන්සේ මාර්තාගේ අයැදීමට සංවේදි වීම වෙනුවට, උන්වහන්සේගේ මුවින් නික්මුණ වචන ශ්‍රවණය කළ මරියා යහපත් දේ තෝරා ගැනීම ඇගයීමට ලක් කළ සේක. මෙය දේව රාජ්‍යයේ වර්ධනයට කාන්තාවන් කොටස් කරුවන් වීමට දොරටු විවෘත කිරීමකි. මෙම විවෘත වීම තුළ ක්‍රිස්තු අනුගාමිකත්වයට එක් වූ කාන්තාවෝ, කුරුසිය පාමුල දක්වා ගමන් කළහ. ක්‍රිස්තු උත්ථානයේ සුපුවතට ප්‍රථම සාක්ෂිය දැරුවෝ ද කාන්තාවෝ ය.

**ශු. ලූක් 7: 36-50** පාඨයෙන් සීමොන් නම් ලත් පරිසිවරයාගේ ආරාධනයට ප්‍රතිචාර දැක්වූ ජේසුස් වහන්සේ එම නිවස තුළ සීමොන් ඉදිරියේ "පව්කාරියක" ලෙස හෙලා දුටු කාන්තාවකගේ ක්‍රියාව, බොහෝ සේ අගය කළ සේක. එය පව්කරුවන් සහමුලින් ම ප්‍රතික්ෂේප කළ ජුදෙව් ආකල්පය අභියෝගයට ලක් කළ ක්‍රියාවලියකි. එය කියවන අපට ද මහත් ආදර්ශයකි. එම සිද්ධිය ගැන අපි කියවා බලමු.

ඇය සම්බන්ධ මෙම පාඨය තුළ පහත සඳහන් කරුණු වඩාත් අවධාරණය වෙයි. ඇය ආරාධනාවක් නොමැති ව ස්වේච්ඡාවෙන්ම ජේසුස් වහන්සේගේ පාමුලට පැමිණුනාය. තමාගේ පාපය හඳුනා ගෙන මනස්ථාපනයේ ක්‍රියාවලියකට යොමු වූවා ය. මුළු හදවතින් ම තම දැතින්ම, හඬන නෙත් සහිත ව තමා සතු වටිනාම දෙය කැප කළා ය. ඇය කිසිදු බාධාවකට නතු නොවෙමින් ඇදහිල්ලෙන් හා භක්තියෙන් එයට යොමු වූවා ය.

ජේසුස් වහන්සේ කොන්දේසි රහිත කමාව දානය කර, සමාදානයෙන් ඇය ව ලෝකයට පිටත් කර යැවූ සේක. පාපයෙන් අඳුරු වී තිබූ ඇයගේ ජීවිතය ආලෝකවත් කළ ජේසුස් වහන්සේ, එදා ජුදෙව් සමාජය අනුන් විනිශ්චය කිරීම පිළිබඳ නිවැරදි මගකට යොමු කළ සේක.

**දැන් අපි සුව කළ නොහැකි අබාධ නිසා දිගු කලක් රෝගාතුර ව සමාජයෙන් ඈත් ව ජීවත් වූ, කාන්තාවන් දෙදෙනකු සුවපත් වූ ක්‍රියාවලිය කියවා බලමු.**

**ශු. ලූක් 8: 43-48**

වසර 12 ක් සුවය පිළිබඳව බලාපොරොත්තු සුන්ව සිටි ඇය ජේසුස් වහන්සේ පසු පස ගමන් කිරීම මගදී උන්වහන්සේගේ සළුවේ දාවල්ලට අත ගැසීම, දැඩි විශ්වාසය නිසා පූර්ණ සුවය ලැබීම.

**ශු. ලූක් 13: 10-17**

වසර 18 ක් අශුද්ධ බලවේගයකට යටත් වීම නිසා කුදු වීම, සබත් දින ධර්ම ශාලාවට පැමිණීම. ජේසුස් වහන්සේ ඇය දැක, ඈ පිට අත තැබීම. පූර්ණ සුවය ලැබීම.

ඔවුන් එදා පැවති සමාජ තහංචි පසෙක ලා, ජේසුස් වහන්සේ කෙරෙහි ඇදහිල්ලෙන් ක්‍රියා කිරීම නිසා, උන්වහන්සේ ඔවුන්ගේ ජීවිත අඳුරෙන් මුදා ආලෝකය අත් විඳීමට සැලැස් වූ සේක. මහලේ රෝගයෙන් සුවය ලත් කාන්තාව ශාන්ත සිතින් පිටව ගියාය. සුවය ලැබූ කුදු ස්ත්‍රිය "ආබ්‍රහම්ගේ දියණිය" යන නාමය ලැබ ප්‍රකෘති ලෙස ගමන ඇරඹුවා ය. ඇදහිල්ලෙන් උන්වහන්සේ වෙතට පියවර නගන විට උන්වහන්සේගෙන් ප්‍රතිචාරය වනුයේ සුවදායක සැනසීමකි

**සමාජයෙන් ප්‍රතික්ෂේප වූ, කොන්කරනු ලැබූවන් වෙත ජේසුස් වහන්සේ දැක්වූයේ අසීමිත දයානුකම්පාවකි. රෝම අධිරාජ්‍යයාට හිතවත් ව සේවය කළ ධනවත් අයකැමියකු සහ ලාදුරු රෝගියකු පිළිබඳ සිද්ධි ලූක් තුමා අපට මෙලෙස ඉදිරිපත් කර ඇත.**

**ද්වේශයට ලක්වූ සාකෙවුස්**

**ශු. ලූක් 19: 1-10**

- සාකෙවුස්ගේ ජීවිතයේ ජේසුස් වහන්සේ දැක බලා ගැනීමට ගැඹුරු ආශාවක් විය.
- මුහුණට මුහුණ ලා දැකීමට හා පිළිගැනීමට ජේසුස් වහන්සේ ඉදිරිපත් විය.
- නිවසේ දී සාකෙවුස්ගේ ජීවිතයේ නව පරිවර්තනයක් ඇති විය.
- එම වෙනස ක්‍රියාවට නැංවී ය.
- ආබ්‍රහම්ගේ පුත්‍රත්වය ලැබී ය.

**පිළිකුළට ලක්වූ ලාදුරු රෝගියා**

**ශු. ලූක් 5: 12-16**

- සුවය උදෙසා ජේසුස් වහන්සේගේ කැමැත්ත ඇති නම් එය සිදු වන බව විශ්වාස කිරීම.
- ජේසුස් වහන්සේ ස්වකීය කැමැත්ත ප්‍රකාශ කරමින්, ලාදුරු රෝගියාගේ ශරීරයට අත තැබීම.
- පවිත්‍ර වීමේ පිළිවෙතට යොමු කර ජුදෙව් සමාජයේ පිළිගැනීමට ලක් කිරීම.

ප්‍රතික්ෂේපයට සහ සමාජයේ පිළිගැනීමට එතරම් ලක් නොවුණු හා සමාජයේ ද්වේශයට ලක්වූවන් උදෙසා කළ යුතු මෙහෙවර ජේසුස් වහන්සේ අපට පැවරූ සේක

ඔබ වැනි දරුවන්ගේ වටිනාකම ගෙනහැර පාමින්, එය සිය ශ්‍රාවකයන්ට අනාවරණය කළේ ජේසුස් වහන්සේ ය. ඒ වටිනාකම නිරන්තරයෙන් රැක ගැනීම ඔබගේ යුතුකමකි. ජේසුස් වහන්සේ අවස්ථා තුනක දී තම ශ්‍රාවකයන් දැනුවත් කළ ආකාරය දැන් කියවා බලමු.

**ශු. ලූක් 9: 46-48**

- ශ්‍රාවකයන් අතර ශ්‍රේෂ්ඨත්වය ගැන විවාදය
- ශ්‍රේෂ්ඨයා පෙන්වා දීමට ජේසුස් වහන්සේගේ ක්‍රියාශීලී උපමාව, "කුඩා දරුවකු"
- වයස, උස මහත, උගත්කම වෙනුවට, මෘදුකම, යටහත්පහත්කම, අවංකකම, නපුර සිතේ ධාරණය කර නොගැනීම, පලිනොගැනීම, වරද පිළිගැනීම, නිහතමානී පැවැත්ම, ඇදහිල්ල හා විශ්වාසය.
- දේව රාජ්‍යයේ වර්ධනය බාරදුන් තම ශ්‍රාවකයන්ට තම ජීවිත වෙනස්කර ගැනීමට ශ්‍රේෂ්ඨත්වයේ අත්තිවාරම මින් ගෙන හැර පෑ සේක.

**ශු. ලූක් 18: 15-17**

- ජේසුස් වහන්සේ වෙතට ළදරුවන් රැගෙන ආ අවස්ථාවක, ශ්‍රාවක ප්‍රතිචාරය යහපත් නොවන බව පෙන් වූ සේක
- ළදරුවන්ගේ අවශ්‍යතාවයට උන්වහන්සේ විවෘත වූ සේක
- ශ්‍රාවකයන්ට අමතක නොවන අත්දැකීමක් ලබා දුන් සේක
- දේව රාජ්‍යයට ප්‍රවිෂ්ඨ වීමට ළදරුවකුගේ ස්වභාවය වැළඳ ගැනීම අවශ්‍ය බව වදාළ සේක.

**ශු. ලූක් 17: 1-2**

- ශ්‍රාවකයන්ට නැවතත් ප්‍රකාශ කළ වේගවත් අනතුරු ඇඟවීමකි
- "කුඩා අයට" බාධා කරන්නන්ට ලැබෙන විපාකය ඉතා මහත් ය. එය ජීවිත විනාශයකි
- කුඩා අය දුර්වලය, විශ්වාස කරන නිසා රැවටිය හැකිය. මුලා විය හැකිය. එම නිසා සත්‍ය වසන් නොකර, නිසි මාර්ගයට යොමු කිරීම වගකිව යුත්තන්ගේ යුතුකමකි.

මෙලෙස ජේසුස් වහන්සේ කිසි දා බේදයක් නොතකා සියල්ලන් සමාන ව ආදරයෙන් පිළිගත් සේ එම ආදරය අපිත් ක්‍රියාවට නගමු.

**මෙහි දී අසීසයේ ෆ්‍රැන්සිස් තුමාගේ යැදුම මෙනෙහි කිරීම ඉතා අර්ථවත් ය.**

> **"ස්වාමිනි, මා ඔබගේ උපකරණයක් කරගත මැනව. වෛරයෙන් පිරුණු තැනට, ප්‍රේමය ද අසමගිය ඇති තැන ශාන්තිය ද අවිශ්වාසයෙන් යුත් තැනට විශ්වාසය ද බලාපොරොත්තු සුන්වූ තැනට බලාපොරොත්තුව ද ශෝකය වටලාගත් තැනට ප්‍රීතිය ද අඳුරින් වැසී යන තැනට ආලෝකය ද ගෙන යෑවට මට වර දුන මැනව"**

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ වදාළ ලෙසට, ඔබ හා ඔබ අයත් පවුල දෙවිඳුන්ගේ පවුලේ සාමාජිකත්වයට ඇතුළු වීමට ගන්නා ක්‍රියා මාර්ග ලියන්න.

2. ජේසුස් වහන්සේ නීතිය අභිබවා, සුව සෙත ලබා දීමට පියවර ගත් අවස්ථා 02 ක් නම් කරන්න.

3. අසීසියේ ෆ්‍රැන්සිස්තුමාගේ යැදුම අනුව ඔබට සමාජයට නව ඇරුතක් ලබා දිය හැකි ආකාරය ඉදිරිපත් කරන්න.

# 10. ව්‍යවස්ථාවේ හරය ප්‍රේමය යි

**"සමිඳාණන් වහන්සේ ගේ ආත්මය මා කෙරෙහි ඇත. මක්නිසාද දිළිඳුන් හට සුභාරංචිය දේශනා කරනු වස් උන්වහන්සේ මා ආලේප කළ සේක. වහලුන්ට මිදීම ද අන්ධයන්ට පෙනීම ද ලැබෙන බව දන්වන්ටත්, පීඩිත වූවන් මුදන්ටත්, සමිඳාණන් වහන්සේ ගේ ප්‍රසාදය ලත් වසර ප්‍රකාශ කරන්නටත් මා එවා වදාළ සේක" ශු. ලූක් 4:18-19**

**මෙය ජේසුස් වහන්සේ තමන් වහන්සේගේ මෙලොව වැඩිය අරමුණු පිලිබඳ ව තම මෙහෙවර ආරම්භයේ දී ම සිදු කළ ප්‍රකාශයකි. ඒ අනුව ජේසුස් වහන්සේ තම මෙහෙවර සාක්ෂාත් කරගනු වස් සිදු කළ සමහර ඉගැන්වීම් ද එහි දී උන්වහන්සේට මුහුණ දෙන්නට සිදු වූ අභියෝග ද උන්වහන්සේ ඒවාට මුහුණ දුන් ආකාරය ද විමසා බැලීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.**

**ශු. ලූක් - 5:17-39, 6:1-5, 14:1-6, 12:1-3, 20:45-47 6:6-11, 11:37-54, 16: 14-17, 17: 20-21**

ජේසුස් වහන්සේ තම මෙහෙවර අරඹන කාලය වන විට පලස්තීනයේ සාමාන්‍ය ජනතාව දේශපාලනික වශයෙන් ද සමාජමය හා ආර්ථික වශයෙන් ද දැඩි පීඩනයකට ලක් ව සිටි වකවානුවක් විය. මේ වන විට වසර 60 කට අධික කාලයක් රෝම අධිරාජ්‍යයට යටත් ව සිටි යුදෙව් ජනතාව, යටත් විජිත වාසීන් ලෙස රෝම අධිරාජ්‍යයට අධික ලෙස බදු ගෙවීමට බැඳී සිටිය හ. ජුදෙව්වන් අතරින් ම තෝරා ගත් සුංගම් අයකරන්නන් විසින් බදු එකතු කිරීම සිදු කළ ද ඔවුන් තම සහෝදර ජනතාව කෙරෙහි කෙතරම් අනුකම්පා විරහිත ව එය සිදු කළේ ද යත්, මෙම නිලධාරීන් ව ජුදෙව්වන් විසින් ම දේශ ද්‍රෝහීන් හා පව්කරුවන් ලෙස සලකා පිළිකුල් කරන ලද හ. රෝම පාලනය යටතේ හේවායකුගේ බඩු මිටිය හැතැප්මක් දුර ගෙන යාමට ජුදෙව්වකුට බල කළ හැකි ව තිබීම අධිරාජ්‍ය පාලනය යටතේ ජනතාව කොපමණ පීඩනයකට පත් ව සිටියා ද යන්නට සුළු උදාහරණයක් පමණි.

සමාජමය වශයෙන් විවිධ සමාජ - ආගමික හා දේශපාලන කණ්ඩායම්වලට බෙදී තිබූ සමාජය තුළ පැවති විවිධ ගැටුම් හේතුවෙන් වඩාත් පීඩනයට පත් වූයේ සාමාන්‍ය ජනතාව ම ය.

පරණ ගිවිසුම් යුගයේ සිට ම ජුදෙව් ජනතාව ජාතියක් ලෙස දෙකඩ වී සිටියහ. දකුණේ සිටි ජුදෙව්වන් ජනතාව විසින් උතුරේ සිටි සමාරිතයන් ලෙස හැඳින් වූ තම සහෝදර ජනතාව 'අන්‍ය ජාතීන් හා මිශ්‍ර වීම නිසා අපවිත්‍ර වූ' ජන කොටසක් ලෙස සලකා පිළිකුල් කර ප්‍රතික්ෂේප කළ හ. ජේසුස් වහන්සේගේ කාලය වන විට මෙම පරතරය ඉතා දැඩි ව

යටත් විජිතයක් ව පැවතුණ ද රෝම අධිරාජ්‍යයා විසින් ජුදෙව්වන්ට ආගමික නිදහස ලබා දී තිබුණි. ආගමික නිදහස භුක්ති වින්දා වූ ජුදෙව්වෝ තම ආගමික පිළිවෙත් හා ජුදෙව් ව්‍යවස්ථාව අනුගමනය කළ හ. සමකාලීන පලස්තීනයේ ජුදෙව් ප්‍රධානීන් ලෙස වැජඹුනේ - පරිසිවරු හා සද්දුසිවරු ය. මේ වන විට ටෝරාව හෙවත් මෝසෙස්ගේ ව්‍යවස්ථාව ලිඛිත ව පැවතුණි. එම ව්‍යවස්ථාව වඩාත් පැහැදිළි ලෙස හැදෑරීම සඳහා පරිසිවරුන් විසින් වාචික නීති රීති රැසක් ඊට එකතු කරන ලදි. ටෝරාවේ අභ්‍යන්තර හරය ගැඹුරින් හැදෑරීම වෙනුවට එම නීතිවල බාහිර ස්වරූපය ඉස්මතු කරමින් ඒවා ඍජු ලෙස පිළිපැදීමට පරිසිවරු යුහුසුලු වූහ. ඒවා අකුරට ම පිළිපැදීමට සාමාන්‍ය ජනතාව ද පීඩාකාරී ලෙස යොමු කළහ. තමන් ආගමික චාරිත්‍ර හා නීති රීති ඉතා පරෙස්සමෙන් ආරක්ෂා කරන බව පෙන්නුම් කළ පරිසිවරු තමන්ගේ ධාර්මික බව ගැන අතිශයින් උඩඟු වූහ. මන්සන්ධිවල ප්‍රසිද්ධියේ යාච්ඤා කළ ඔවුන්ගේ වස්ත්‍රවල පවා ශුද්ධ ලියවිලි පාඨ ලියා තිබූ බව කියැවේ. තවද දන් දීමේ දී ඔවුහු හොරණෑ නාදයෙන් එය ප්‍රචලිත කළ හ.

පලස්තීනයේ විසූ අන්‍ය ජාතින්ගේ සිරිත් විරිත් අපිරිසිදු යැයි පවසමින් ඔවුන් වෙතින් වෙන් වීමට මොවුහු කටයුතු කළ හ. තම අන්තවාදී ආගමික හා දේශපාලනික අදහස් ජනතාවට පිළිගැන්වීමට ඔවුහු නිරන්තරයෙන් උත්සුක වූහ. විනයධරයන් හෙවත් ලියන්නෝ ජුදෙව් ව්‍යවස්ථාව ලිවීමේ හා හැදෑරීමේ අයිතිය රක්ෂා කළහ. ව්‍යවස්ථාවට අටුවා සම්පාදනය කළෝ ද ඔවුහු ම ය. පරිසිවරුන් හා සද්දුසිවරුන් අතර යම් යම් විරසකයන් පැවතිය ද, එම වෙනස්කම් අමතක කර ජේසුස් වහන්සේට විරුද්ධ ව ක්‍රියා කිරීමට ඔවුන් එකතු වූයේ උන්වහන්සේගේ ඉගැන්වීම් තමන්ගේ පැවැත්මට අභියෝගයක් වූ හෙයිනි.

**ජේසුස් වහන්සේ පරිසිවරුන් හා විනයධරයන් සමග සංවාදයේ යෙදෙමින් ව්‍යවස්ථාවේ හරය නිවැරදි ව පැහැදිලි කර දීමටත් ඔවුන් ව්‍යවස්ථාව දැන සිටියත් ඉන් අන්‍යයන්ට සෙතක් සිදු නොවන බව පෙන්වා දීමටත් එම සංවාද හා විවේචන මගින් පීඩනයට ලක් ව සිටි ජීවිතවලට සහනය සැලසීමටත් කටයුතු කළ අවස්ථා කීපයක් දැන් විමසා බලමු.**

**ශු. ලූක් 5:17-26**
**අංශභාග රෝගියකු සුව කිරීම**

- ජේසුස් වහන්සේ - **මිත්‍රය, ඔබේ පව් ඔබට කමා කරන ලදි.**
- පරිසිවරු, විනයධර - **දේවාපහාස වචන කියන මේ මිනිසා කවරෙක් ද? දෙවියන් වහන්සේට විස පව් කමා කරන්න පුළුවන් අන් කාට ද?**
- ජේසුස් වහන්සේ - **ඔබේ සිත් තුළ මෙසේ විවාද කරන්නේ මන්ද? වඩා පහසු කොයි එක ද? ඔබේ පව් ඔබට කමා කරනු ලදැයි කීම ද? නැතහොත් 'නැගිට ඇවිදින්න'යි කීම ද? එහෙත් පොළොවෙහි පව් කමා කරන්න මනුෂ්‍ය පුත්‍රයාණන්ට බලය ඇති බව දැනගන්න පිණිස මම මෙය කරමි.**

අංශභාග රෝගයට හේතුව යමෙකුගේ පව්කාර කම බව ද පව් කමා කිරීමේ බලය ඇත්තේ දෙවියන් වහන්සේට පමණක් බව ද එකල ජුදෙව් සමාජයේ පිළි ගැනීම විය.

ඒ නිසා ජේසුස් වහන්සේගේ වදන් දේව අපහාසයක් සේ සලකා පරිසිවරු උන්වහන්සේට වරද තබන්නට උත්සාහ ගත්හ.

නමුත් සිදු වූ යහපත් ඵලය නොව ක්‍රියාව විවේචනය කිරීමට ඔවුන් ගත් උත්සාහය අනුමත නොකළ ජේසුස් වහන්සේ, පව් කමා කිරීමේ තමා සතු බලය ද පෙන්නුම් කළ සේක.

**ශු. ලූක් 5:27-32,**
**ලෙවී කැඳවීම**

- පරිසිවරු, විනයධර, -**ඔබ අයකැමියන් ද පව්කාරයන් ද සමග කන්නේත් බොන්නේත් මන්ද?**

- ජේසුස් වහන්සේ - **රෝගීන්ට මිස නිරෝගීන්ට වෙදාගෙන් වැඩක් නැත. මා ආයේ පව්ටුන් මිස දමිටුන් පසුතැවී සිත් හරවා ගැනීමට කැඳවීම පිණිස නොවේ.**

පව්කරුවන් ලෙස ප්‍රතික්ෂේප කරන ලද කණ්ඩායම් අතර අයකැමියන් ද විය. ජේසුස් වහන්සේ විසින් ම ඔහුට 'මා අනුව එන්නැ'යි තම අනුගාමිකයකු වීමට කළ ආරාධනය පිළිගෙන සියල්ල අත හැර දමා උන්වහන්සේ අනුව ගිය ලෙවී උන්වහන්සේට භෝජන සංග්‍රහයක් ද පිළියෙළ කළේ ය.

පව්කරුවකු ලෙස ප්‍රතික්ෂේප කළ ලෙවී වැනි පුද්ගලයකු පවා ජේසුස් වහන්සේ විසින් තම අනුගාමිකයකු කර ගැනීම මෙන් ම ඔහුත් සමග කෑමට එකට හිඳ ගැනීම පරිසිවරුන්ගේ අප්‍රසාදයට හේතු විය. සමාජයේ ආගමික නායකයන් ලෙස පෙනී සිටි ඔවුන්ගේ වගකීම විය යුතු ව තිබුණේ පව්කරුවන් ලෙස හංවඩු ගසා ප්‍රතික්ෂේප කිරීම නොව, ඔවුන් නිවැරදි කර යහ මගට ගැනීම ය. ව්‍යවස්ථාව - නීතිරීති - සම්ප්‍රදායන් වලින් සිදු විය යුතු ව ඇත්තේ එය යි. මෙහි දී ජේසුස් වහන්සේ පැවති ක්‍රමයට අභියෝග කරමින් තම මෙහෙවර නිසි ලෙස ඉටු කළ සේක.

**ශු. ලූක් 5:33-39**
**උපවාස ප්‍රශ්නය**

- පරිසිවරු,විනයධර--**ජොහාන්ගේ ගෝලයෝ නොයෙක් වර උපවාස පවත්වා යාච්ඤා පුද කරති. පරිසිවරුන්ගේ ගෝලයෝත් එසේ ම කරති. එහෙත් ඔබේ ශ්‍රාවකයෝ කමින් බොමින් සිටිති.**

- ජේසුස් වහන්සේ: **මනාලයා මගුල් ගෙදර සිටිය දී මනාල පිරිස උපවාසයේ යෙදිය හැකිද? එහෙත් මනාලයා ඔවුන්ගෙන් වෙන් කරනා දවස එයි. ඒ දවසේ දී ඔවුන් උපවාස කරනු ඇත.**

සම්ප්‍රදායික - ගතානුගතික නියමයන්වලට වහල් වී අර්ථ විරහිත ව සිදුකරනු ලබන වත්පිළිවෙත්වල නිසරු කම ජේසුස් වහන්සේ මෙහි දී පරිසිවරුනට පසක් කර දෙනු ලබන සේක.

කිතුනුවන් ලෙස අප විසින් ද අනුගමනය කරනු ලබන විවිධ වත් පිළිවෙත්-සම්ප්‍රදායන් බෙහෙවින් පවතී. මෙතෙක් දිගින් දිගට ම පවත්වා ගෙන පැමිණි නිසා ම නොව අර්ථාන්විත ව මෙන් ම පැහැදිළි අරමුණකින් ඒවා සිදු කිරීමේ අවශ්‍යතාවය මෙහි දී අපට පසක් කර දෙනු ලබන සේක. ජේසුස් වහන්සේ තමන්වහන්සේ දේව පුත්‍රයාණන් බව ද මෙහි දී ඉඟියකින් ගෙන හැර පෑ සේක.

**ශු. ලූක් 6:1-5**
**සබත කඩකිරීමේ ප්‍රශ්නය**

පරිසිවරු, විනයධරයන් : **සබත් දිනයේ දී නොකටයුත්තක් ඔබ කරන්නේ මන් ද?**

ජේසුස් වහන්සේ : **දාවිත් රජු තමන්ට ද සිය පිරිවරට ද බඩගිනි වූ විට කළ දේ එනම් දෙවියන් වහන්සේගේ ගෘහයට ඇතුළු ව පූජකයන් විස අන් කෙනකුන් අනුභව නො කළ යුතු පිදු රොටි කා, සිය පිරිවරටත් දුන් පුවත ඔබ කියවා නැද්ද ? . . .**
**මනුෂ්‍ය පුත්‍රයා සබත් දිනට පවා අධිපතියාණෝ ය.**

සබත් දවස ශුද්ධ කොට පැවැත්වීම ආඥා දසයෙන් එකක් වේ. එදින කිසිවකුට වැඩ පැවරීමෙන් වැලකී සිටීම යටතේ, සතියකට දිනක් නිදහසේ ගත කිරීමට එකල සේවකයාට අවකාශ ලැබුණි. නමුත් පරිසිවරු එය විකෘති කොට දක්වමින් සබත් දිනයේ කිසිදු වැඩක යෙදීම ව්‍යවස්ථාව කඩ කිරීමක් ලෙස අර්ථකතනය කරන ලදී. ජේසුස් වහන්සේගේ ගෝලයෝ කරල් පොඩි කර කෑම ද නොකටයුත්තක් ලෙස ඔවුන් විවේචනය කරනු ලැබුවේ එහෙයිනි.

මෙහි දී මනුෂ්‍ය අවශ්‍යතාවය ප්‍රමුඛ කොට සැලකීමේ වැදගත්කම ජේසුස් වහන්සේ විසින් නැවත වරක් අවධාරණය කළ සේක. එමෙන්ම නීති - රීති සම්ප්‍රදායන්ගේ නාමයෙන් ජනතාව පෙළීමට තැත් කිරීම ප්‍රතික්ෂේප කළ සේක. "මනුෂ්‍ය පුත්‍රයා සබත් දිනට පවා අධිපතියාණෝ" යැයි පවසමින් තමන්වහන්සේගේ මහිමාන්විත බව ද තම ඉගැන්වීම්වල වලංගුතාවය ද අවධාරණය කළ සේක.

**ශු. ලූක් 14:1-6**
**සබත් දින දිය උදර රෝගියෙකුට සුවය.**

**ශු. ලූක් 6:6-11**
**සබත් දින අතක් පණ නැති මිනිසාට සුවය**

- ජේසුස් වහන්සේ - (ප්‍රශ්න කරමින්) **සබත් දිනයේ දී සුව කිරීම යුතු ද? අයුතු ද?**
- පිරිසිවරු, විනයධර - නිහඬය
- ජේසුස් වහන්සේ - **යමෙකුට අයත් කොටළුවකු හෝ ගොනෙකු හෝ සබත් දින ළිඳේ වැටුණොත් එවෙලේ ම ඌ ගොඩට අදින්නේ නැද්ද?**

- පරිසිවරු- - විනයධරයන් — එහි සිටි දකුණු අත පණ නැති මිනිසා ජේසුස් වහන්සේ විසින් සුව කරනු ඇත්දැයි උන්වහන්සේට චෝදනාවක් එල්ල කරන අටියෙන් බලා සිටියි.

- ජේසුස් වහන්සේ - **සබත් දිනයේ දී අප කළ යුත්තේ යහපත ද? නොහොත් අයහපත ද? ප්‍රාණයක් නැසීම ද? නොහොත් ගළවා ගැනීම ද?**

ජේසුස් වහන්සේ මෙවිට උන්වහන්සේට චෝදනා එල්ල කළ අයට ව්‍යවස්ථාව පදනම් කරගෙන ම පිළිතුරු ලබා දීම වැදගත් ය. මෙහි දී ජේසුස් වහන්සේ පසක් කර දෙනු ලබන්නේ දේව වචන වචනාර්ථයෙන් ම නොව හරයාත්මක ව අවබෝධකර ගත යුතු බව ය. සුව කිරීම යුතු ද ? අයුතු ද? සබත් දිනයේ දී කළ යුත්තේ යහපත ද? අයහපත ද? ඔවුන්ගෙන් ම පෙරළා ප්‍රශ්න කිරීම තුළ ජේසුස් වහන්සේ විසින් ම වදාළ "රන් අණ" අපට සිහිපත් කර දෙමින් සිය මෙහෙවරහි පදනම නැවතත් අවධාරණය කරන සේක.

## ශු.ලූක් 11:37-54
## පරිසිවරුන්ට හා විනයධරයන්ට තරවටු

පරිසිවරයා - කෑම කන්නට පළමු ව ජේසුස් වහන්සේ අත් සේදීමේ පිළිවෙත ඉටු නොකළ බව දැක පුදුම විය.

ජේසුස් වහන්සේ - **පරිසිවරුනි ඔබ කෝප්පයේ ද පිඟානේ ද පිට පැත්ත සෝදා පිරිසිදු කරනනාහු ය. එහෙත් ඔබගේ ඇතුළත තණ්හාවෙන් ද දුෂ්ට චේතනාවෙන් ද පිරී ඇත. (ලූක් 11: 41, 42, 43, 46 පද )**

තම කෝප්පයේ හා පිඟානේ පිට පැත්ත සේදීම පවා අනුගමනය කළ යුතු ආගමික පිළිවෙතක් බවට අවධාරණය කරමින් සියල්ල දෝවනයෙන් පිරිසිදු කිරීමට හා කරවීමට විශේෂයෙන් විනයධරයන් මහත් උනන්දුවක් දැක් වූහ. බාහිර පිළිවෙත් ගැන වුවමනාවටත් වඩා සැලකිල්ලක් දැක් වූ මොවුහු ආත්මික පවිත්‍රතාවය රැක ගැනිම සම්බන්ධයෙන් දැක්වූයේ උදාසීන පිළිවෙතකි.

'ප්‍රේමයෙන් තොර වී ආගමික පිළිවෙත් කෙරෙහි පමණක් ගැති වීමේ නිසරුකම' මෙහි දී ජේසුස් වහන්සේ සුවිශේෂ ලෙස අවධාරණය කරන ආකාරය පැහැදිලි ය. පිරිසිදුකම උදෙසා බාහිර දෝවනය වෙනුවට "දන් දීමේ වැදගත්කම උන්වහන්සේ මෙහි දී අවධාරණය කළ සේක. එසේ කළේ ඔවුන් තුළ පැවති දැඩි ලෞකික තෘෂ්ණාවෙන් මිදීමේ අවශ්‍යතාවය පෙන්වා දීමට ය.

නිහතමානි හා යටහත් පහත් පැවැත්මේ අවශ්‍යතාව ද ජේසුස් වහන්සේ මෙහි දී තව දුරටත් අවධාරණය කරන සේක. සාමාන්‍ය ජනතාවට සහනය සලසනු වෙනුවට ආගමික වත් පිළිවෙත් නාමයෙන් ඔවුන් පීඩනයට ලක් කිරීම තරයේ හෙළා දකිමින් හුදෙක් " ප්‍රේමයේ" පදනම මත කටයුතු කළ යුතු ආකාරය පහදා දුන් සේක.

## ශු. ලූක් 16: 14-17
## ව්‍යවස්ථාවලිය හා ස්වර්ග රාජ්‍යය

## ශු.ලූක් 17: 20-21
## දෙවියන්වහන්සේගේ රාජ්‍යය උදාව

ජේසුස් වහන්සේ -.....ඔබ නම් මිනිසුන් ඉදිරියෙහි ඔබගේ දමිටුකම ගැන පාරට්ටු කර ගන්නා අය ය. එහෙත් දෙවියන් වහන්සේ ඔබගේ සිත් දන්නා සේක. මනුෂ්‍යයන් විශිෂ්ට යැයි සලකනු ලබන දෙය දෙවියන් වහන්සේ ඉදිරියෙහි පිළිකුලකි.....එහෙත් ව්‍යවස්ථාවලියෙහි බිංදු මාත්‍රයක්වත් අහෝසි වී යාමට වඩා අහස පොළව පහවී යාම පහසු ය.

පරිසිවරු - **දෙවියන් වහන්සේගේ රාජ්‍යය කවර කළෙක පහළ වන්නේ ද?**

ජේසුස් වහන්සේ- - **දෙවියන් වහන්සේගේ රාජ්‍යය ඇසට පෙනෙන අයුරින් නොපැමිණෙයි. මෙන්න මෙතන ය. අන්න අතන යැයි කිව නොහැක. මන්ද දෙවියන් වහන්සේගේ රාජ්‍යය ඔබ අතරෙහි ය.**

මෙලෙස ඔවුහු තමන්ගේ ශ්‍රේෂ්ඨකම ගැන පාරට්ටු කර ගනිමින් බාහිර ලෝකය ඉදිරියේ තමන්ගේ ධර්මිෂ්ඨකම මවා පෑමක් සිදු කළ ද දෙවියන් වහන්සේ ඉදිරියේ ඔවුන්ගේ සිත් වසන් කළ නොහැකි බව ජේසුස් වහන්සේ පෙන්වා දුන් සේක. මනුෂ්‍යයන් විශිෂ්ට යැයි සලකන දෙය දෙවිඳුන් ඉදිරියේ පිළිකුල් විය හැකි බව ද උන්වහන්සේ අවධාරණය කළ සේක.

නමුත් ජේසුස් වහන්සේ ව්‍යවස්ථාවට පටහැනි ව ක්‍රියා කරන බව පවසමින් උන්වහන්සේ පිට වරද තබන්නට මාන බලමින් ඔවුහු කටයුතු කළහ. තමන් වහන්සේ පැමිණියේ ව්‍යවස්ථාවට එරෙහි ව නොව එය සම්පූර්ණ කිරීමට බව ජේසුස් වහන්සේ පැවසූ අතර ව්‍යවස්ථාවලියේ බිංදු මාත්‍රයක් හෝ අහෝසි වීමට වඩා අහස පොළව පහව යාම පහසු බව උන්වහන්සේ අවධාරණය කළ සේක. "සබත මිනිසා උදෙසා මිස මිනිසා සබත උදෙසා නොවන බව පවසමින් ජේසුස් වහන්සේ පැහැදිළි කළේ ව්‍යවස්ථාව මිනිසාගේ යහපතට මිස මිනිසා පීඩාවට පත් කිරීමට යොදා නො ගත යුතු බව ය. ඔවුන් ව්‍යවස්ථාව දැන සිටියත් එය නිරතුරු ව අධ්‍යයනය කළත් එය අන්‍යයන්ට සෙතක් වන ආකාරයට නොව ඔවුන් අසහනයට පත්වන ආකාරයට යොදා ගන්නා බවට පරිසිවරුන් හා විනයධරයන් සම්බන්ධයෙන් ජේසුස් වහන්සේගේ චෝදනා ව විය.

පරිසිවරුන්ගේ හා විනයධරයන්ගේ ක්‍රියා පිළිවෙත දැඩි ලෙස විවේචනය කරමින් සංවාදයේ යෙදුන ද උන්වහන්සේ ඔවුන් හා එක් ව කෑමට වාඩි වූ අවස්ථා ද හඳුනා ගත හැකි ය. ඉන් ගම්‍ය වන්නේ ජේසුස් වහන්සේ පාපය මිස පව්කරුවා ප්‍රතික්ෂේප නොකළ බව ය.

මෙලෙස කිතුනු දිවියේ යහ පැවැත්ම උදෙසා ජේසුස් වහන්සේ හා පරිසි විනයධරයන් අතර පැවති සංවාද තුළින් අපගේ ජීවිතවලට එකතු කර ගත හැකි ගුණාංග මෙලෙස සාරාංශ ගත කර දැක්විය හැකි ය.

- දේව වචනය වචනාර්ථයෙන් ම පමණක් නොව එහි ඇති හරය අවබෝධ කර ගත යුතු බව
- ලොවට පෙනෙන ලෙස බාහිර පිළිවෙත්වලින් නොව, අපගේ ඇතුලාන්ත (අධ්‍යාත්මය) නිවැරදි විය යුතු බව
- දේව රාජ්‍යයේ පණිවුඩයේ පදනම 'ප්‍රේමය' බව
- නිහතමානී යටහත් පහත් පැවැත්ම කිතුනු ජීවිතවලින් නිරන්තරයෙන් ප්‍රකාශ විය යුතු බව
- දෙවියන් වහන්සේට හා ලෞකික වස්තුව ට එකවර සේවය කළ නොහැකි බව
- අප ප්‍රතික්ෂේප කළ යුත්තේ පාපය මිස පව්කරුවා නොවන බව
- දේවරාජ්‍යයේ වටිනාකම් අප තුළ ගොඩ නංවා ගත යුතු බව.

ක්‍රියාකාරකම

1. ව්‍යවස්ථාව - නීති රීති - සම්ප්‍රදායයන් සහ වත්පිළිවෙත් මිනිසාගේ යහපතට මිස මිනිසා පීඩාවට පත් කිරීමට යොදා නොගත යුතු බවට ජේසුස් වහන්සේ අවධාරණය කළ ආකාරය උදාහරණ සහිත ව පෙන්වා දෙන්න.

# 11. අභියෝග මැද සේවය

වසර තුනක පමණ වූ මුළු සේවා කාලය පුරා ම තම මෙහෙවරට කැප වූ ජේසුස් වහන්සේට විවිධ අභියෝග හා ගැටුම්වලට මුහුණ දීමට සිදු විය. ජේසුස් වහන්සේට පරිසිවරු හා විනයධරයන් එල්ල කළ අභියෝගවලට සාර්ථක ව මුහුණ දුන් ආකාරය හා උන්වහන්සේ ඒවා ජයගත් ආකාරයත් ඒ තුළින් අපට ලද හැකි ආදර්ශයත් පෙර පාඩමින් අප විමසා බැලීමු.

මෙම පාඩමෙන් අප උත්සාහ කරන්නේ ජේසුස් වහන්සේට එකල සද්දුසිවරුන්ගෙන් එල්ල වූ අභියෝග සහ ඒවාට උන්වහන්සේගේ ප්‍රතිචාරත් ඉන් අපට ලද හැකි ආදර්ශත් විමසා බැලීමට ය.

**ශු. ලූක් 20: 1-40**

අලුත් ගිවිසුමේ අවධියට බොහෝ කලකට පෙර මහා ඇලෙක්සැන්ඩර් රජතුමා ඔහුගේ ග්‍රීක් හමුදාව යොදා පලස්තීන දේශය යටත් කර ගෙන ග්‍රීක් අදහස් ජුදෙව්වන්ට ආදේශ කිරීමට උත්සාහ කළේ ය. 'සද්දුසිවරු' යනු එම අදහස් පිළිගෙන අනුගමනය කළ අය වූහ. " සැඩොක්" නමැත්තෙකුගෙන් පැවතෙන්නන් වශයෙන් "සද්දුසි" නම භාවිත කළ මොවුහු ජෙරුසලමේ ධනවත් පවුල් කීපයකට සීමා විය. නායක පූජකයන් හා වැඩි මහල්ලන් පත් වුයේ මොවුන් අතරිනි. නායක පූජක තනතුර තම පවුල්වල සාමාජිකයකුට පැවරෙන අන්දමට සද්දුසිවරු වග බලා ගත්හ. නායක පූජකවරයකු පත් කර ගැනීමට රෝම අධිරාජයාගෙන් අනුමැතිය අවශ්‍ය විය . රෝම අධිරාජ්‍යයට අකමැති වුවත් රෝම පාලකයන් සතුටු වන අන්දමට ක්‍රියා කිරීම නුවණට හුරු යයි සිතා ඒ අනුව සද්දුසිවරු කටයුතු කළහ. පලස්තීනය පුරා පැවති ධර්මශාලා පරිසිවරුන්ගේ මධ්‍යස්ථාන ලෙස කටයුතු කරද්දී ජෙරුසලම් දේවමාලිගාව සද්දුසිවරුන්ගේ කේන්ද්‍රස්ථානය බවට පත් විය. රෝම පාලනයට එරෙහි ව කලින් කලට නැගී සිටි කණ්ඩායම් මර්දනය කිරීමට සද්දුසිවරු රෝම රජයට සහාය දුන්නේ ය. ඒ තමන්ගේ තත්ත්වය හා බලය ආරක්ෂා කර ගැනීමට ය.

**ගතානුගතික අදහස්වල ඉතා දැඩි ලෙස එල්බගත් මෙම ආගමික කණ්ඩායම තුළ හඳුනා ගැනීමට ඇති තවත් වැදගත් ලක්ෂණ කිහිපයකි.**

- පරිසිවරු වාචික සම්ප්‍රදායට අයත් නීති රීති පිළිගත් නමුත් සද්දුසිවරුන්ගේ විනයධර පිරිස භාවිත කළේ **ලිඛිත ව්‍යවස්ථාව** පමණ ය.
- **දේව දූතයන් හා පුනරුජ්ජීවනය** ගැන පරිසිවරු ප්‍රචලිත කළ අදහස් සද්දුසිවරු පිළි ගත්තේ නැත.
- **ස්නාවක ජොහාන්තුමාගේ ඉගැන්වීම්** ජනතාව විශ්වාස කරන බව සද්දුසිවරු දැන සිටිය ද මොවුහු එතුමා ට සවන් දීමට සූදානම් වූයේ නැත.

මේ අනුව සද්දුසිවරුන්ගේ ආගමික හා දේශපාලන පිළිවෙත් හුදෙක් තමන්ගේ ම වාසිය උදෙසා සැලසුම් කරගත් ඒවා බව පැහැදිලි ය. සද්දුසිවරුන්ට ජේසුස් වහන්සේ පෙනුණේ තම බලයට තර්ජනයක් ලෙස ය. මන්ද උන්වහන්සේ ජෙරුසලමට වැඩිය සැම අවස්ථාවක දී ම ජනතාවට අනුශාසනා කරමින් දේව රාජ්‍යයේ සුබ අස්න දේශනා කළ බැවිනි. උන්වහන්සේ ඉගැන්වීම් සද්දුසිවරුන්ගේ ආකල්ප හා ක්‍රියා පිළිවෙත් සමග සැසඳුණේ නැත. ජේසුස් වහන්සේගේ බලය ද ඉගැන්වීම් ද අවතක්සේරුවට ලක් කිරිමට ඔවුන් කටයුතු කළේ එහෙයිනි.

## එවන් අවස්ථා තුනක් පිළිබඳ ව විමසා බලමු

**ශු. ලූක් 20: 1-08**
**අධිකාරි බලය පිළිබඳ ව ප්‍රශ්න කිරීම**

ජේසුස් වහන්සේ ජනයාගේ හරසර මැද රාජ තේජසින් ජෙරුසලමට පිවිස එහි දේව මාලිගාවට ඇතුළු වී, එහි සිටි වෙළෙඳුන් පලවා හරින්නට පටන් ගත් සේක. ඒ

***"මාගේ ගෘහය යාච්ඤාවේ ගෘහයක් වන්නේ ය.***
***එහෙත් ඔබ එය සොරුන්ගේ ගුහාවක් කර තිබේ"***

යයි පවසමිනි. මෙලෙස උන්වහන්සේ සද්දුසිවරුන්ගේ මෙම ප්‍රශ්න කිරීම්වලට ලක් වනුයේ, සද්දුසිවරුන්ගේ කේන්ද්‍ර ස්ථානය වූ දේව මාලිගාව පවිත්‍ර කිරීමේ කාර්යය නිම කිරීමෙන් අනතුරුව ය.

> ***" ඔබ මේ දේවල් කරන්නේ කුමන අධිකාරි බලයකින් ද නොහොත් මේ අධිකාරි බලය ඔබට පැවරුවේ කවරෙක් දැයි අපට කියන්නැ"යි නායක පූජකයෝ ද විනයධරයෝ ද උන්වහන්සේ වෙත පැමිණ විමසී ය.***

සද්දුසිවරුන්ගේ බල කේන්ද්‍රස්ථානය වූ මෙම දේව මාලිගාව තුළ ඔවුහු අන් කෙනකුගේ බලය පිළි නොගන්නා බව ජේසුස් වහන්සේ දැන සිටි සේක. උන්වහන්සේ ඔවුන්ගේ පැනයට පිළිතුරු දීම වෙනුවට ඔවුන් වෙත ද ප්‍රශ්නයක් ඉදිරිපත් කළේ එහෙයිනි.

ජේසුස් වහන්සේගේ එම පැනයට ඔවුන් කුමන පිළිතුරක් ලබා දුන්න ද එය ජේසුස් වහන්සේගේ ම නැවත ප්‍රශ්න කිරීමකට හෝ ජනතාවගේ උදහසට හෝ තමන් ලක්වන බව සද්දුසිවරු තේරුම් ගත්හ. එය ඔවුනොවුන් අතර හුවමාරු වූ දෙබසින් පැහැදිලි වේ. එහෙයින් " අපි නොදනිමු" පිළිතුර දීම නුවණට හුරු බව ඔවුන්ගේ තීරණය විය. එයට ජේසුස් වහන්සේගේ ප්‍රතිචාර වූයේ " එසේ නම් මමත් නො දනිමි." නොව "මමත් ඔබට නො කියමි යි යන්න ය. දේව මාළිගාව තුළ ජනතාව ඉදිරියේ දී ම මෙවන් පසු බෑමකට ලක් වීමට සිදු වීම සද්දුසිවරුනට කොහෙත් ම ඔරොත්තු දෙන්නක් නොවීය.

**සද්දුසිවරුන්ගේ දරදඬු සිත්වලට ස්වාමින් වහන්සේගේ මෙහෙවර තේරුම් ගත නොහැකි බව උන්වහන්සේට පසක් විය. මේ වන විට ජේසුස් වහන්සේ තමන්වහන්සේ දේව පුත්‍රයාණෝ බව බොහෝ අවස්ථාවල දී අවධාරණය කළ සේක. එහෙත් එය වටහා ගන්නට කිසිවකුට හැකි වූයේ නැත. නැතහොත් පිළිගන්නට සූදානම් වූයේ නැත. තවදුරටත් උපමාවක් ගෙන හැර දක්වමින්, එමගින් ඔවුනට තමන්ගේ ම සිත් සෝදිසි කර ගැනීමට ජේසුස් වහන්සේ අභියෝග කළේ එහෙයිනි.**

ඒ උපමාව මෙලෙස වේ.

**ශු. ලූක් 20: 9-18**
**මිදි වත්ත හා ගොවීන් පිළිබඳ උපමාව**

උපමාවේ දැක්වෙන පරිදි මිනිසෙක් මිදි වත්තක් වවා ගොවීන්ට අඳයට දී බොහෝ කලකට පිටරට යෑම, දෙවියන් වහන්සේ මෙලොව සියල්ල නිර්මාණය කොට මිනිසාට එහි පාලනය හා නිදහස බාර දීමට සමාන කළ හැකි ය.

වත්තේ හිමිකරු විසින් එවන ලද දාසයින්ට සමාන වන්නේ මිනිසා දේව අණට පිටුපා පාපයට ගැති වීම නිසා එය වටහා දී මනස්ථාපනයට කැඳවීම උදෙසා දෙවියන් වහන්සේ විසින් එවන ලද දිවැසිවරුන් ය. දිවැසිවරුන් සම්බන්ධයෙන් මිනිසා ක්‍රියා කළේ ගොවීන් විසින් වත්ත හිමිකරුගේ දාසයන්ට ක්‍රියා කළ ආකාරයට ම ය.

අවසානයේ මිනිසා පාපයෙන් ගලවා ගැනීම උදෙසා දෙවි සමිඳාණන් විසින් තම එකම ප්‍රේම වන්ත පුත්‍රයා එවා වදාළ සේක. ඒ ජේසුස් වහන්සේ ය. උපමාවේ සඳහන් පරිදි ගොවීන් වත්ත හිමිකරුගේ දාසයාට කළ ලෙස මිනිසා විසින් ජේසුස් වහන්සේ කුරුසිපත් කොට මරණයට පත් කළෝය.

**උපමාවේ මතුපිට අරුත (කතාන්දරය) පමණක් තේරුම් ගත් සද්දුසිවරු " එසේ නොවේවා!" යි කීවේ උපමාවේ යටි අරුත (උපමේය) අවබෝධ කර නොගෙන බව පැහැදිලි ය.එවිට ජේසුස් වහන්සේ ඔවුන් දෙස බලා " එසේ වී නම් ගෘහ ශිල්පීන් ඉවත ලූ ගල ම කොනේ ප්‍රධාන ගල වී ඇත."..... යනුවෙන් වදාළේ සද්දුසිවරුන් විසින් එපා කරනු ලබන තමන්වහන්සේ එළිදරව් වන දිනය වැඩි ඈතක නොවන බව දැන සිටි හෙයිනි. එලෙස තමන්වහන්සේ ප්‍රතික්ෂේප කිරීමේ ආදීන ව ද තව දුරටත් මෙහි දී උන්වහන්සේ පැහැදිලි කර දෙන සේක.**

එය මෙලෙස වේ;

**ශු. ලූක් 20: 19-26**
**අධිරාජ්‍යයාට බදු ගෙවීම.**

කලින් පවසන ලද උපමාව තමන්ට විරුද්ධ ව එල්ල කළ බව වටහා ගත් නායක පූජකයන් හා විනයධරයන් උන්වහන්සේ අල්ලා ගන්නට සෙවූ නමුත් සෙනග උන්වහන්සේ ගැන ප්‍රසන්නව සිටි හෙයින් පසු බට විය. උන්වහන්සේ වැරදිකරු කරන පිණිස ඔවුහු තව දුරටත් ක්‍රියාත්මක වෙමින් අවංකයන් සේ පෙනී සිටින ඔත්තු කරුවන්

යැව්වේ එහෙයිනි. මෙවර ඔවුන් ජේසුස් වහන්සේගෙන් විමසූ පැනය වූයේ " අප සීසර් අධිරාජ්‍යයාට බදු ගෙවිය යුතු ද යන්න ය. "ගෙවිය යුතුය" යනුවෙන් උන්වහන්සේ පිළිතුරු දුන්නේ නම් ජනතාව ජේසුස් වහන්සේට විරුද්ධ ව නැගී සිටිනු ඇත. මන්ද මේ වන විට බදු වර්ග දෙකකට යටත් ව ජනතාව මහත් පීඩාකාරී තත්ත්වයකට පත් ව සිටි හෙයිනි. අනෙක් අතට " බදු නොගෙවිය යුතු යැයි" ජේසුස් වහන්සේ වදාළේ නම්, රෝම අධිරාජ්‍යයාට විරුද්ධ ව ක්‍රියා කරන කැරලි කරුවකු වශයෙන් චෝදනා කර උන්වහන්සේ පාවා දීම පහසුවෙන් කළ හැකි ව තිබූ හෙයිනි.

කාසි දෙවර්ගයක් යොදා ගෙන බදු වර්ග දෙකක් ගෙවීමට එකල ජුදෙව් ජනතාවට සිදු ව තිබිණි. මෙහි දී රෝම රජයට බදු ගෙවීමට සීසර්ගේ රූපය මුද්‍රිත ව තිබූ රිදියෙන් නිම වූ 'දිනාර්' කාසි භාවිත කළ යුතු විය. එහෙත් දේව මාලිගාවේ බද්ද ගෙවීමේ දී තඹ කාසි භාවිත කරන්නට සිදු විය. හේතුව යමෙකුගේ රූපය මුද්‍රිත කාසිවලින් එම බද්ද ගෙවීම ව්‍යවස්ථාවෙන් තහනම් වූ නිසාය.



**පැරණි රෝම කාසි හා තඹ කාසි**

මෙහිදි 'දිනාර්' කාසියක් අතට ගෙන, ඒ ගැන සෙනඟගෙන් ම ප්‍රශ්න ඇසීමෙන් ජේසුස් වහන්සේ ඊට නිසි පිළිතුර ලබා දුන් සේක. ඒ "සීසර්ගේ දේ සීසර්ටත්, දෙවියන් වහන්සේගේ දේ දෙවියන් වහන්සේටත් දෙන්නැයි" යනුවෙනි. මෙවිට ද උන්වහන්සේ කට වචනයෙන් අල්ලා ගන්නට නොහැකි වූ ඔවුහු ජේසුස් වහන්සේ ගැන පුදුමයට පත් වූහ.

දේව රාජ්‍ය කිසි සේත් ලෞකික රාජ්‍යයකට සමාන කළ නොහැකි බව මෙහි දී අවධාරණය කෙරේ. දෙවියන් වහන්සේගේ දේ දෙවියන් වහන්සේට දීම යනු අපගේ මුළු ජීවිතයෙන් ම උන්වහන්සේට සේවය කිරීම යි. ඒ අතර ම ලෞකික රාජ්‍යය වෙනුවෙන් කළ යුතු යුතුකම් අතපසු නොකළ යුතු බව ද ජේසුස් වහන්සේ තම පිළිතුරෙන් අවධාරණය කරන සේක.

## ශු. ලූක් 20:27-40
## පුනරුජ්ජීවනය ප්‍රශ්නය

ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් තම ඉගැන්වීම්වලට එරෙහි ව යන කළ තම මත තහවුරු කර ගැනීමේ අරමුණෙන් සද්දුසිවරු උන්වහන්සේ වෙත විවිධ ප්‍රශ්න නිර්මාණය කොට යොමු කළහ. නමුත් එම ප්‍රශ්නවල යටි අරමුණ මැනවින් දත් ජේසුස් වහන්සේ ඔවුන්ට තව දුරටත් යමක් ප්‍රශ්න කිරීමට ඉඩ නොතබා ඒවාට මැනවින් පිළිතුරු දුන් සේක.

ජේසුස් වහන්සේ මරණින් මතු ජීවිතයක් (පුනරුප්ජීවනය) ගැන සඳහන් කලත් සද්දුසිවරු මතු ජීවිතයක් ගැන විශ්වාසයෙන් බැහැර වූ පිරිසක් වූහ. පුනරුප්ජීවනය පිළිබඳ විශ්වාසය හාස්‍යයට ලක් කිරීමත්, එම විශ්වාසය පිළිබඳ ව ජනතාවගේ සිත් තුළ සැකයක් ඇති කිරීමේත් අරමුණෙන් මෙම "සත් දෙනෙකුගේ බිරිඳ වූ ස්ත්‍රිය" පිළිබඳ ව නිර්මාණය කළ පැනය සද්දුසිවරු විසින් ජේසුස් වහන්සේ වෙත ඉදිරිපත් කළ බව පෙනේ. මෙවර ද ජේසුස් වහන්සේ සද්දුසි වරුන්ගේ අභියෝගයට මුහුණ දෙමින් පුනරුප්ජීවනය පිළිබඳ ව අපගේ දැනුම හා විශ්වාසය පුළුල් කළ සේක.

**ඒ අනුව**

අපගේ මෙලොව ජීවිතය හා මරණින් මතු ජීවිතයේ වෙනස මැනවින් පහදා දෙන සේක.

පුනරුප්ජීවනය දෙවියන් වහන්සේගෙන් ලබන වරමකි. එම වරම ලබන්නෝ දේව දූතයන්ට සම වෙති. ඔවුහු දෙවියන් වහන්සේගේ දරුවන් බවට පත් වෙති.

මෝසෙස් පවා පුනර්ජීවනයක් ඇති බව පිළිගෙන ඇත. මන්ද මෝසෙස් දෙවියන් වහන්සේ අමතන ලද්දේ "ආබ්‍රහම්,ඊසාක්, ජාකොබ් ගේ දෙවියන් වහන්සේ යනුවෙන් වන හෙයිනි. (මෝසෙස් වනාහි සද්දුසිවරුන් ද පිළිගත් ව්‍යවස්ථාවලියේ කතෘවරයාණෝ ය.)

සද්දුසි පාර්ශවය ව්‍යවස්ථාවේ කතෘ ලෙස මෝසෙස්තුමා පිළිගෙන තිබුණි.

**ජේසුස් වහන්සේට තම මෙහෙවරේ දී පැමිණි අභියෝග මෙන්, උන්වහන්සේගේ අනුගාමිකයන් වන අපට ද එවන් අභියෝගවලට මුහුණ දීමට සිදුවනු ඇත. එවිට ;**

- සැබෑ ප්‍රශ්න හා එසේ නොවන ඒවා නිවැරදි ව හඳුනා ගෙන නිසි ප්‍රතිචාර දැක්වීමටත්
- අවංකයන් ලෙස පෙනී සිටි වංක පුද්ගලයන්ගෙන් ප්‍රවේශම් වීමටත්
- අපගේ ඇදහිල්ල අභියෝගයට ලක් කිරීම පිණිස නිර්මාණය කර අප හමුවට ගෙනෙන ප්‍රශ්නවල දී ප්‍රවේශම් වීමටත්
- ජේසුස් වහන්සේ දෙවිඳුන් බව ම විශ්වාසයෙන් හා ඇදහිල්ලෙන් සියළු අභියෝගවලට මුහුණ දෙමින් සේවය කිරීමටත් අපට හැකි විය යුතු ය.

ක්‍රියාකාරකම

1. පහත සඳහන් ප්‍රකාශවල අදහස ඔබගේ වචනයෙන් ලියන්න.
   - **i** "මගේ ගෘහය යාච්ඤාවේ ගෘහයක් වන්නේ ය."
   - **ii** "සීසර්ගේ දේ සීසර්ටත්, දෙවියන් වහන්සේගේ දේ දෙවියන් වහන්සේටත් දෙන්න."
2. අපගේ ඇදහිල්ල දුබල විය හැකි අවස්ථා තුනක් කෙටියෙන් විස්තර කරන්න.

# 12. අභියෝග මැද සාමය

**මිහිපිට ජනතාවගේ සදාතන විමුක්තිය උදෙසා දේව රාජ්‍යය හඳුන්වා දීමත් එදා ජුදෙව් සමාජයේ පීඩිත ජනතාව වෙනුවෙන් පෙනී සිටිමින් ඔවුන්ට විමුක්තිය උදා කර දී ඒ වෙනුවෙන් ජේසුස් වහන්සේ තම ජීවිතය පූජා කිරීමත් දේව සැලැස්මට අනුව සිදු විය යුතුව තිබූ දෙයක් විය. ඒ අනුව උන්වහන්සේගේ ජීවිත පූජාවට ආසන්න කාලයේ සිදු වූ වැදගත් සිදුවීම් පෙළ ගැස්වීම හා ඒ තුළින් අපගේ ජීවිතවලට ගෙන එන අභියෝග විමසා බැලීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.**

ශු. ලූක් 19: 28-48, 22:1-23

ශු. ලූක් 19 : 28-40
රාජ තේජසින් ජෙරුසලමට පිවිසීම

ජෙරුසලම වෙත අවසන් වතාවට පිවිසෙන ජේසුස් වහන්සේ මේ ගත වන්නේ තමන්වහන්සේගේ මෙහෙවරෙ හි මෙන්ම දිවියෙහි ද තීරණාත්මක හා අවසන් දින කිහිපය බව දැන සිටි සේක. ඉදිරියේ දී සිදුවන්නට යන සියළු දේ පිළිබඳවත් දුක් පීඩා මැද තම මරණය මෙහි දී සිදුවන බවත් උන්වහන්සේ දැන සිටි සේක. මේ සියල්ල කලින් තීරණය වූ දේව සැලැස්මට අනුව සිදුවන බව ද පැහැදිලි ය.

රජ කෙනෙකු සේ ජයාන්විත ව ජෙරුසලමට පිවිසෙන ජේසුස් වහන්සේ ඒ සඳහා "නැවුම්" කොටලු නාම්බකු ගෙන්වා ගැනීමට දෙදෙනකු යැවීම, උගේ අයිතිකරු අසන ප්‍රශ්නය හා දිය යුතු පිළිතුරු යන මේ සියල්ල කලින් සැලසුම් වී දැන සිටි ඒවා විය. සෙකරියා 9:9 සඳහන් දිවැස්වැකියෙන් පවා මෙම සිදුවීම කලින් ප්‍රකාශයට පත් වී තිබුණි.

**මෙම සිදුවීම් තුළ පාර්ශව දෙකක් වෙතින් එල්ලවන අභියෝග හඳුනා ගත හැකි වේ.**

1. **ජනතාව වෙතින් පැමිණි අභියෝග**

   ජනතාව ඔල්වරසන් දෙමින් ජේසුස් වහන්සේ මෙලෙස කැඳවාගෙන ආවේ තමන්ගේ විමුක්තිය උදෙසා පැමිණෙතැයි බලා සිටි "මෙසියස් වරයාණෝ" මෙතුමාණෝ ය යන අපේක්ෂාවෙනි.

2. **ජුදෙව් ජන නායකයන් වෙතින් පැමිණි අභියෝග**

   පසුගිය කාලය තුළ ජේසුස් වහන්සේ විසින් කළ කී දේ හා හැසිරුණු ආකාරය අනුව තමන් අභිබවා යන නායකයකු පහළ වී දැයි යන සැකය.

නමුත් මේ දෙපිරිසගේ ම අරමුණු ජේසුස් වහන්සේගේ ද අරමුණ වී නම් උන්වහන්සේ වැඩිය යුතු ව තිබුණේ කොටළුවකු මත නොව අශ්වයකු මත ය. අශ්වයා රණකාමිත්වයේ සංකේතය වන අතර කොටළුවා අහිංසකත්වයේ සංකේතය යි.

මෙහි දී සමූහයාගේ හැසිරීම සම්බන්ධයෙන් පරිසිවරුන් කළ චෝදනාව ප්‍රතික්ෂේප කරමින් ඊට නිසි පිළිතුරු සැපයූ ජේසුස් වහන්සේ, දේව රාජ්‍යයේ පදනම සාමය බව සංකේතාත්මක ව පිළිබිඹු කළ සේක. මේ සාමය පදනම් කර ගනිමින් සහෝදරත්වයෙන් සහ සහයෝගයෙන් ජීවත් වීමට අපට කෙරෙන මග පෙන්වීමකි. එපමණක් නොව ජෙරුසලමේ වැසියන් නියම විමුක්තිය සලසන දේ පිළිබඳ ව නොදැන සිටීම ගැන හා ජෙරුසලමට සිදුවන විපත ගැන අනාවැකි පළ කරමින් ඒ ගැන හඬමින් වදාළ වචනවලින් පැහැදිලි වේ.

## ලූක් 19:45-48
## දේව මාලිගාව පවිත්‍ර කිරීම

තම මෙහෙවරෙහි මෙන් ම ජීවිතයෙහි ද අවසාන දින කිහිපය ගත වෙමින් පවතින බව මේ වන විට ජේසුස් වහන්සේ දැන සිටි සේක. රාජතේජසින් ජෙරුසලමට වැඩිය උන්වහන්සේ ජෙරුසලම ගැන හඬා කම්පා වෙමින් දේව මාලිගාවට පිවිසීමෙන් අනතුරුව ය දේව මාලිගාව පවිත්‍ර කිරීමේ කාර්යය සිදුකරන ලද්දේ. නමුත් උන්වහන්සේ "රබ්බි" හෙවත් ගුරුවරයකු ලෙස කටයුතු කරමින් කලින් ද නිතර දේව මාලිගාවට වැඩිය හෙයින් දේවමාලිගාවේ පැවති දූෂිත පරිසරය ගැන නොදැන සිටියා නොවේ. මෙහි ආගමික නායකයන් තම පෞද්ගලික  අරමුණු ඉටු කර ගැනීම සඳහා නීති රීති තමන්ට රිසි පරිදි යොදාගත් අතර ආගමේ මුවාවෙන් ජනතාව සූරාකෑමටත්, පෙළීමටත් යොමු ව සිටිය හ. දේව මාලිගාව තුළ පවා වංචනික ව්‍යාපාරවල යෙදීමට ඔවුහු මැලි නොවූ හ. මෙලෙස දේව මාලිගාව තුළ සිදුවෙමින් පැවති නොමනා දේ උන්වහන්සේට අලුත් ඇත්දැකීමක් නොවී ය. නමුත් මෙම අවස්ථාවේ ජේසුස් වහන්සේ හැසිරුණේ "මාගේ ගෘහය යාච්ඤාවේ ගෘහයක් යැයි ලියා ඇත. එහෙත් ඔබ එය හොරුන්ගේ ගුහාවක් කර තිබේ ය" යන අභියෝගය ඉදිරිපත් කරමිනි. හුදෙක් දේව මාලිගාව පවිත්‍ර කිරීමේ ව්‍යායාමයක යෙදීම පමණක් නොව දෙවියන් වහන්සේගේ ධර්මිෂ්ඨ කම නොතකා ක්‍රියා කරන ජුදෙව් ජනතාව අවදි කිරීමට උන්වහන්සේ සංකේතාත්මක ව මෙම ක්‍රියාවන් සිදු කළ බව පැහැදිලි ය.

තවද අපගේ දේව ගෘහයන් කෙලෙස පවත්වා ගත යුතු ද යන්න පිළිබඳ ව ද පූර්වාදර්ශයක් මෙම සිදුවීම මගින් විශේෂයෙන් අවධාරණය කර දෙනු ලබයි.

## ශු. ලූක් 22:1-6
## ජේසුස්වහන්සේ නැසීමට කුමන්ත්‍රණය

ජේසුස් වහන්සේ දේව රාජ්‍යය උදෙසා වන තම මෙහෙවර වෙනුවෙන් ශ්‍රාවකයන් තෝරා ගනු ලැබුව ද ඔවුන් සැම කෙනෙක් ම ඒකාවන් ව එම අරමුණෙහි ම පිහිටා කටයුතු කල බවක් පෙනෙන්නට නැත. ඒ බව ශ්‍රාවකයන් විවිධ අවස්ථාවන්හි කළ ප්‍රකාශයන් හා ඔවුන් හැසිරුණු ආකාරයෙන් පැහැදිලි වේ. ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් ඔවුන් තේරුම් ගත්තේ වෙනත් ආකාරයකට ය. 'උන්වහන්සේ පැවසූ දෙය නොවැටහෙන සේ එය ඔවුන් කෙරෙන් සැඟවී තිබුණි.' යනුවෙන් ශුද්ධ බයිබලයේ ශු. ලූක් 18:34 හි සඳහන් ය.

**ජූදස්, ජේසුස් වහන්සේ පාවා දීමට පෙළඹුණේ මන් ද?**
**මුදලට ඇති ගිජුකම නිසා ම ද?**

රෝම රාජ්‍යයට එරෙහි ව ජේසුස් වහන්සේගේ නායකත්වයෙන් පිහිටවනු ලබන රජයක තනතුරු අපේක්ෂාවෙන් පසු වූ ශ්‍රාවකයන් ද සිටියහ. නමුත් ජේසුස් වහන්සේ මේ කාලය වන විට පැවසූ වදන් හා හැසිරුණු ආකාරය ඔවුන්ගේ එම බලාපොරොත්තුවලට ප්‍රශ්නාර්ථයක් එකතු කරන්නක් විය.

උදාහරණ ලෙස ජේසුස් වහන්සේ රජකු සේ ජෙරුසලමට වැඩම කළත් ඒ කොටළුවකු පිට ය. රෝම අධිරාජ්‍යයට එරෙහි ව සටන් කිරීමේ අභිලාෂයක් උන්වහන්සේ තුළ නොමැති බවට එය ප්‍රබල ඉඟියක් විය. සෙනඟගේ අපේක්ෂාව වූයේ එය නොවේ. මේ නිසා මින් ඉදිරියට ජේසුස් වහන්සේගේ ජනප්‍රියතාව හීන වී තම අපේක්ෂාවන් ද ගිලිහී යන බව 'ජූදස්' ට වැටහෙන්නට ඇත. එය එලෙස ම සිදු විය. හෝසන්නා නගමින් ජේසුස් වහන්සේ රජකු සේ ජෙරුසලමට පෙරහරින් කැඳවාගෙන පැමිණි ජනතාව ම උන්වහන්සේ කුරුසිපත් කරන්නට කෑමොර දුන්හ. ජේසුස් වහන්සේගේ මහත් බලය ගැන අත්දැකීමෙන් දත් ජූදස් තමා උන්වහන්සේ පාවා දුන්න ද උන්වහන්සේට මෙවන් අවසානයක් සිදු නොවී ගැලවෙන්නට හැකිවේ යයි විශ්වාස කරන්නට ඇත. මෙලෙස අතීත දිවැස් වැකි සම්පූර්ණ කරන්නට ඉදිරිපත් වූ ජේසුස් වහන්සේ විසින් වදාළ අනාගත පෙර නිමිති ද සම්පූර්ණ කරමින් උන්වහන්සේ පාවා දෙනු ලැබී ය.

අප ජේසුස් වහන්සේගේ රැළට එකතු විය යුත්තේ දේව රාජ්‍යය උරුම කර ගැනීමේ ඒකායන අරමුණෙනි. වෙනත් බාහිර, ලෞකික අරමුණු ඒ තුළ තිබිය යුතු නොවේ. ඒ උදෙසා උන්වහන්සේගේ ඉගැන්වීම් මනා ලෙස අධ්‍යයනය කර නිවැරදි ව අවබෝධ කර ගත යුතු වේ. අප ඉදිරියේ පවත්නා ප්‍රධාන අභියෝගය එය වේ.

## ශු. ලූක් 22:14-23
## අන්තිම රාත්‍රී භෝජනය

පාස්කුව නම් වූ නුමුහුන් රොටි මංගල්‍යය ජුදෙව්වරු වාර්ෂික ව අති විශේෂ ලෙස පැවැත් වූයේ දෙවියන් වහන්සේ විසින් ඉශ්‍රායෙල් ජනතාව මිසරයේ වහල් බවින් මුදවා ගනු ලැබූ අන්දම ස්තුතිවන්ත ව සිහිපත් කරනු පිණිස ය.

සමකාලීන සමාජ සිරිත් අර්ථාන්විත ව අනුගමනය කළ ජේසුස් වහන්සේ මෙවර පාස්කු මංගල්‍යය උදෙසා සූදානම් වූයේ උන්වහන්සේගේ මෙහෙවරෙහි අතිශයින් ම තීරණාත්මක අවස්ථාවක වීම වැදගත් ය. එමෙන්ම සියල්ල දේව සැලැස්මට අනුකූලව සැලසුම් වූ පරිදි සිදුවන බව 'පාස්කු මංගල්‍යය සූදානම' යටතේ (ශු. ලූක් 22:7--13) විමසීමෙන් පැහැදිලි වේ.

පාස්කු මංගල්‍යය අවස්ථාව පදනම් කර ගනිමින් ජේසුස් වහන්සේ විසින් සිදුකරන ලද විශේෂ කාර්යය වූයේ රොටි කැඩීමේ පිළිවෙත ය. එම ක්‍රියාවලිය තුළ තෙයාකාරයක වැදගත්කමක් දක්නට ඇත.

පළමු ව ජේසුස් වහන්සේ පැවති සමාජ සිරිත්, සාම්ප්‍රදායන්වලට අනුගත වූ ආකාරය යි.

දෙවනුව තම සහෝදර ශ්‍රාවකයන් සමග එය සිදු කිරීමෙන් පෙන්වන ලද සහෝදරත්වය හා සහභාගිත්වයේ ආදර්ශය යි.

තෙවනුව උන්වහන්සේ දේව රාජ්‍යය පිළිබඳ ව මෙතෙක් සිදුකරන ලද ඉගැන්වීම් මෙම ක්‍රියාවලිය තුළ සංකේතවත් කර තිබීම යි.

මෙම අවස්ථාවේ දී ජේසුස් වහන්සේ රොටියක් අතට ගෙන තුති පුදා ඒවා කඩා ඔවුන්ට දුන්නේ විශේෂ භාවිතයක් ද සමගිනි. **"ඔබ උදෙසා දෙනු ලබන මාගේ ශරීරය වේය. මා සිහිවන පිණිස මෙය සිදු කරන්න"** යනුවෙනි.

අනතුරුව කුසලාන ඔවුන්ට පිළිගන්වා වදාළේ ද **"මේ කුසලාන ඔබ උදෙසා වගුරුවනු ලබන මාගේ රුධිරයෙන් කළ නව ගිවිසුම යි."**

සාමාන්‍යයෙන් ජුදෙව් පාස්කු මංගල්‍යය භෝජන අවස්ථාවේ දී එක් අයකුට මුද්‍රික පාන කුසලාන හතරක් සපයනු ලැබී ය. නමුත් ජේසුස් වහන්සේ **එකම රොටිය** කඩාගෙන අනුභව කොට **එකම කුසලානයේ** පානය කිරීමට සැලසූ සේක.

එපමණක් නොව උන්වහන්සේ සිහි වීම පිණිස එය නොකඩවා ම සිදුකරන ලෙස ද දන්වා සිටි සේක. මෙම ක්‍රියාවලිය තුළ ජේසුස් වහන්සේ විසින් කිතුනු අප හට අවධාරණය කරන කාරණා කිහිපයකි ;

- එකම රොටිය කඩා අනුභව කිරීමෙන් හා එකම කුසලානයෙන් පානය කිරීමෙන් සංකේතාත්මක ව ගම්‍ය වන සහෝදරත්වය හා සහභාගිත්වය නොකඩවා පවත්වා ගැනීමේ අවශ්‍යතාවය යි.
- එය අප උදෙසා උන්වහන්සේ වගුරවනු ලද රුධිරයෙන් කළ නව ගිවිසුම වේ. එනම් පාපයේ මිල ගෙවන ලද බැටළු පෝතකයාණෝ බවට පත්ව උන්වහන්සේගේ රුධිරය කරණකොටගෙන ජන්ම පාපයේ විපාකවලින් අපට, ගැලවීම අත් කර දීමයි.

- අප උන්වහන්සේගේ දුක් විඳීමේ පංගුකාර කමට පත් වන බව යි.
- ජේසුස් වහන්සේගේ මෙහෙවර එනම් දේව රාජ්‍යය ව්‍යාප්ත කිරීමේ කාර්ය භාරය පොදුවේ කිතුනුවන් වන අප වෙත බාර කරන ලද බව යි.

මෙම කාරණා අභියෝග ලෙස භාර ගෙන ප්‍රේමය පදනම් කොට ගෙන දේව රාජ්‍යයේ වර්ධනය උදෙසා වන මෙහෙවරෙහි පංගුකාරයන් වීමට ඇප කැප වීම කිතුනු දරුවන් වන අපගෙන් අපේක්ෂිත ය.

ක්‍රියාකාරකම

1. i අතීතයේ පැවති පාස්කුව නම් වූ "නුමුහුන් රොටි මංගල්‍යය" පිළිවෙතෙහි පසුබිම කුමක් වීද?

   ii ජේසුස් වහන්සේ විසින් සිදු කරන ලද "රොටි කැඩීමේ පිළිවෙත" කිතුනු අපට අවධාරණය කරන කාරණා මොනවා ද?

# 13. ගෙත්සෙමන යාච්ඤාවෙන් සවිය

ජේසුස් වහන්සේ තම මෙහෙවර උදෙසා කැපවීමේ දී බොහෝ අභියෝගවලට මුහුණ පෑ ආකාරය අපි පසුගිය පාඩම් වලින් හැදෑරුවෙමු. උන්වහන්සේ තමන් ජීවත් වූ සමකාලීන සමාජයේ පීඩනයට ලක් වූවන්ගේ විමුක්තිය වෙනුවෙන් මැදිහත් වූ නිසාත්, මානව වර්ගයාගේ පාපයට කමාව ලබා දීම උදෙසාත්, ජේසුස් වහන්සේට ඉතා කටුක වේදනාවන්ට ලක් ව කුරුසිය මත තම ජීවිතය පරිත්‍යාග කිරීමට සිදු විය.

තම ජීවිතයේ අවසාන දින කිහිපයේ එම කටුක අත්දැකීම්වලට මුහුණ දීම උදෙසා ජේසුස් වහන්සේ යාච්ඤාව පෙරදැරිව 'ඉවසීම' හා 'ශක්තිය' ලබා ගත් ආකාරයත්, එය අපගේ ජීවිතවලට ගෙන එනු ලබන ආදර්ශය හා මග පෙන්වීම විමසා බැලීමත් මෙම පාඩමෙන් අපේක්ෂිත ය.

ශු. ලුක් 22: 39-53

### ලූක් 22:39-46
### ඔලීව කන්දෙහි යාච්ඤාව

පෙර පාඩමෙහි අප විමසා බලන ලද අන්තිම රාත්‍රී භෝජනයෙන් පසුව ජේසුස් වහන්සේ සිරිත් පරිදි තම ශ්‍රාවකයින් සමග ඔලීව කන්දට වැඩම කළ සේක. ඉදිරි දින කීපය තුළ තම දිවි ගමනෙහි අත්විඳින්නට නියමිතව තිබූ අභියෝග ජේසුස් වහන්සේ දැන සිටි සේක. සැබෑ මනුෂ්‍යයකු ලෙස මෙලොව ජීවත් වූ උන්වහන්සේට මෙතෙක් දැනුණ බඩගින්න, පිපාසය, දුක, සතුට මෙන් ම දැන් මරණයේ වේදනාව ද දැනෙන්නට වූවාට කිසිදු සැකයක් නැත. ජේසුස් වහන්සේ මෙම අවස්ථාවේ දී කෙතරම් සිත් වේදනාවෙන් පෙළුණ සේක් ද යත් මෙම පීඩාව තමන්වහන්සේගෙන් පහකරන ලෙස ඉල්ලා වඩාත් ඕනෑ කමින් යාච්ඤා කළ බවත්, මෙවිට උන්වහන්සේගේ දහදිය බිංදු ලේ බිංදු මෙන් බිමට වැටුණ බව ත් සඳහන් වේ.



රූපය 13:1 - ගෙත්සෙමන උයනේ යාච්ඤාව

"මාගේ කැමැත්ත නොව ඔබගේ කැමැත්ත වේවා"යි යන්න ජේසුස් වහන්සේ ඔලීව කන්දෙහි සිදු කළ යාච්ඤාවෙහි හරය වේ. තමන්ට අත්විඳින්නට සිදු වන දුක් වේදනා දැන දැනත් ජේසුස් වහන්සේ එලෙස පවසමින් 'තම කම සම්පූර්ණයෙන් නසා දැමූ බව' පසක් වේ. උන්වහන්සේ දැඩි සිත් වේදනාවෙන් කළ එම යැදුමට දේව ප්‍රතිචාරය වූයේ දේව දූතයෙක් ස්වර්ගයෙන් පහළ වී උන්වහන්සේ ශක්තිමත් කිරීම ය.

ජේසුස් වහන්සේ මෙලෙස ඔලීව කන්දෙහි සිදු කළ යාච්ඤාව තුළින් දේව කැමැත්තට කීකරු ව දුක් විඳීම හා මරණය කැමැත්තෙන් පිළිගත් සේක.

යමෙකුට දුක් විඳීමට සිදු වීම දේව කැමැත්තට විරුද්ධ ව ක්‍රියා කිරීමේ ප්‍රතිඵලයක් බව එකල ජුදෙව් සමාජයේ සාමාන්‍ය පිළිගැනීම විය. එහෙත් ජේසුස් වහන්සේ තම දුක්විඳීම හා මරණය තුළින් අන්‍යයන්ගේ යහපත උදෙසා දේව කැමැත්තට එකඟව ක්‍රියා කළ සේක. දේව රාජ්‍යය උරුම කර ගැනීම සඳහා දුක් විඳීම වරප්‍රසාදයක් මෙන්ම අවසානයේ දී ජයග්‍රහණයක් ද වන බව උන්වහන්සේ මෙහි දී පසක් කර දෙන සේක. ඒ සඳහා මග පෙන්වීම ද ශක්තිය ද ධෛර්යය ද ලබා ගත හැකි වන්නේ යාච්ඤාව තුළින් බව තවදුරටත් අවධාරණය කර දුන් සේක.

තවද ජේසුස් වහන්සේ යාච්ඤා කරමින් සිට නැගිට ශ්‍රාවකයන් වෙත අවුත් ඔවුන් ශෝකය නිසා නිදා හිඳිනු දැක "පරීක්ෂාවට නොවැටෙන පිණිස නැගිට යාච්ඤා කරන්න"යැයි වදාළ සේක. මෙලෙස තමන් වහන්සේගේ සිත් තැවුල මධ්‍යයේ පවා තම ශ්‍රාවකයන්ට ද යාච්ඤා කරන්න ධෛර්යය දුන් සේක. මෙලෙස ජේසුස් වහන්සේ මෙම තීරණාත්මක අවස්ථාවේ දී ඊට මුහුණ දීමට යාච්ඤාවෙන් ශක්තියත්, ධෛර්යයත් ලබාගත් ආකාරයෙන් අපගේ ජීවිතවලට ද මෙවැනි අභියෝග ඉදිරියේ යාච්ඤාව අදාළ කර ගැනීමට මග පෙන්වයි. ජේසුස් වහන්සේ අල්ලා ගැනීමට පෙර ශ්‍රාවකයන්ට යොමු කළ අවසාන ඉල්ලීම වූයේ ද"පරීක්ෂාවට නොවැටෙන පිණිස නැගිට යාච්ඤා කරන්න" යනුවෙනි.

## ශු ලූක් 22:47-53
## ජේසුස් වහන්සේ පාවා දීම

දොළොස් දෙනාගෙන් කෙනෙක් තමන්වහන්සේ පාවා දෙන බව අන්තිම රාත්‍රී භෝජන අවස්ථාවේ දී ජේසුස් වහන්සේ පෙර ඇඟවීමක් කළ සේක. ගෙත්සෙමන උයනේ දී එතැන සිටි අයගෙන් වෙන්කොට ජේසුස් වහන්සේ හඳුන්වා දෙනු සඳහා ජූදස් සිඹීම පිණිස උන්වහන්සේ වෙත ළඟා විය. ජුදෙව් සමාජයේ යමෙක් ගෞරවයෙන් පිළිගැනීමේ දී සිඹීම චාරිත්‍රානුකූල ව සිදු කරුණි. එහෙත් මෙම සිඹීම පාවා දීමේ ලකුණක් ලෙස ජේසුස් වහන්සේ හඳුනා ගත් සේක. මේ අවස්ථාවේ දී ජේසුස් වහන්සේ විසින් ජූදස්ට පැවසූ වදන් චෝදනා නැගීමක් නොව ශෝක ප්‍රකාශයක් මෙනි. මින් ජූදස් කෙරෙහි උන්වහන්සේ දැක්වූ අනුකම්පාව හෙළි වේ. පාපය මිස පව්කරුවා ප්‍රතික්ෂේප කිරීම ජේසුස් වහන්සේගේ පිළිවෙත නොවී ය.

ජේසුස් වහන්සේගේ ගෝලයන්ගෙන් එක් අයෙක් උත්තම පූජකයාගේ දාසයාගේ කණ කපා දැමූ විට තවත් එලෙස නොකරන්නට ගෝලයින්ට අණ කොට ඔහු සුවපත් කළ සේක. තව ද උන්වහන්සේ අල්ලන්නට ජූදස් සමග පැමිණි නායක පූජකයන් ඇතුළු පිරිසට උන්වහන්සේ දුන් පිළිතුරු ද මෙවන් මොහොතක ඔවුන්ගෙන් නිර්භීත ව ප්‍රශ්න ඇසීමට තරම් ධෛර්යයක් ජේසුස් වහන්සේට තිබීම ද පුදුමයට කරුණකි. ඇත්ත

වශයෙන් ම මේ සියළු කැපවීම් උන්වහන්සේ විසින් සිදු කරනු ලද්දේ ඔලීව කන්දෙහි සිදු කරන ලද යාච්ඤාවේ ශක්තියෙන් හා බලයෙනි.

මෙලෙස ක්‍රියා කිරීමට ජේසුස් වහන්සේට හැකියාව ලැබුණේ උන්වහන්සේ ගෙත්සෙමෙනේ උයනෙහි සිදු කළ ප්‍රබල යාච්ඤාව පෙරදැරි කරගෙන දේව කැමැත්තට කීකරු වූ නිසා ය.

කිතුනු දිවියකට යාච්ඤාවේ ඇති ප්‍රබල ශක්තිය හා වැදගත්කම ජේසුස් වහන්සේ මෙසේ අපට පසක් කර දෙන සේක.

ක්‍රියාකාරකම

පාපය මිස පව්කරුවා ප්‍රතික්ෂේප කිරීම ජේසුස් වහන්සේගේ පිළිවෙත නො වී ය.

1. මෙම ප්‍රකාශය ජේසුස් වහන්සේ ක්‍රියාවට නැංවූ ආකාරය උදාහරණ සහිත ව පෙන්වා දෙන්න.

# 14. විනිශ්චය හා කුරුසිපත්වීම

**ජේසුස් වහන්සේගේ පැවැත්මෙහි කෙළවරක් දක්නට නායක පූජකයන් හා විනයධරයන් ඇතුළු ප්‍රජා මූලිකයන් විසින් කටයුතු කළ ආකාරය අපි පෙර පාඩම්වලින් විමසා බැලීමු. තමන් වහන්සේගේ ජීවිත පූජාව ඉදිරි කාලයෙහි සිදුවීමට නියමිත ව තිබිය දී ඒ සඳහා අවශ්‍ය ශක්තිය හා ධෛර්යය " ඔලීව කන්දෙහි යාච්ඤාව " තුළින් ලබා ගත් අන්දම ද හඳුනා ගතිමු.**

**ජූදස් විසින් ජේසුස් වහන්සේ පාවා දීමෙන් අනතුරුව නිර්දෝෂී උන්වහන්සේ වරදකරු බවට තීරණය කරනු ලැබ කුරුසි පත් කිරීමට යොමු කළ ආකාරය හා එම අසාධාරණ ක්‍රියාවලිය ඉදිරියේ උන්වහන්සේ නොසැලී ඊට මුහුණ දුන් ආකාරයෙන් අපගේ ජීවිතවලට ගත හැකි ආදර්ශය විමසා බැලීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.**

ශු. ලූක් 22 : 63- 23: 25, 23: 33, 44-49

ජූදස් විසින් ජේසුස් වහන්සේ පාවා දීමෙන් පසු නායක පූජකයන් ද ප්‍රජා මූලිකයන් ද සමග පැමිණි දේව මාලිගාවේ මුර සෙබළුන් විසින් උන්වහන්සේ උත්තම පූජකයාගේ මැදුරට ගෙන යන ලදි. පසු දා රැය පහන් වන තෙක් එහි රඳවා ගෙන ජේසුස් වහන්සේ දැඩි පීඩනයට ලක් කළ ආකාරය විමසා බලමු.

**එකළ ජේසුස් වහන්සේ අල්ලාගෙන සිටි මනුෂ්‍යයෝ**
**උන්වහන්සේට කවටකම් කරමින් පහර දුන්හ.**
**ඔවුහු ජේසුස් වහන්සේගේ ඇස් වසා බැඳ**
**"ඔබට ගැසුවේ කවරෙක් ද කියා දිවැසින් කියන්නැයි"**
**උන්වහන්සේට කීහ. ඔවුහු තවත් බොහෝ දේ**
**උන්වහන්සේට විරුද්ධ ව කියමින් අපහාස කළහ.**
**ශු. ලූක් 22 : 63 - 65**

රෝම නීතිය අනුව සිරකරුවකුට විරුද්ධව නගන චෝදනා ඔප්පු කරන තෙක් ඔහු නිදොස් තැනැත්තකු ලෙස පිළිගැණින. ඒ අනුව නිසි නඩු විභාගයක් පවත්වා චූදිතයකු වරදකරුවකු කරන තෙක් ඔහුට දඬුවම් කිරීම නීති විරෝධී වේ. නමුත් ජේසුස් වහන්සේ කෙරෙහි එම සාධාරණය ඉටු නොවූ බව මින් පැහැදිලි වේ.

දිගු කාලයක් පුරා ප්‍රජා මූලිකයන් ඇතුළු විවිධ කණ්ඩායම් වෙතින් දැඩි පීඩනයට ලක්ව අසරණ ව සිටි ජනතාව, තම විමුක්තිදායකයාණන් ලෙස සලකා ජේසුස් වහන්සේ

පෙරහරින් ජෙරුසලමට ගෙන ආවේ "හෝසන්නා" නගමිනි. නමුත් දැන් පිලාත් විසින් උන්වහන්සේ ව මරණයට තීන්දු කරනු ලබන්නේ, ඒ ජනතාව විසින් ම, ප්‍රජා මූලිකයන්ගේ පෙළඹවීම මත ''ජේසුස් වහන්සේ කුරුසියේ ඇණ ගසන්නැ''යි කරනු ලබන උද්ඝෝෂණය නිසා ය. එය සිදුවූ ආකාරය සංකෂිප්ත ව විමසා බලමු.

**ශු. ලූක් 22: 66 - 23:24**

පහන් වූ කල නායක පූජකයන් ද විනයධරයන් ද ඇතුළු ප්‍රජා මූලිකයන්ගේ සංගමය රැස් ව සිය ශ්‍රේෂ්ඨාධිකරණය ඉදිරියට උන්වහන්සේ ගෙන ගියහ. ජුදෙව් ආගමික නීතිය අනුව චෝදනා විභාග කර තීන්දුව දෙනු ලැබුවේ ශ්‍රේෂ්ඨාධිකරණය යි. මෙහි නායකත්වය දැරුවේ උත්තම පූජකයා ය. තව ද සද්දුසිවරු හා පරිසිවරු යන දෙපාර්ශවය නියෝජනය කළ සැත්තෑ දෙනෙක් (70) පමණ ද එහි අසුන් ගත්හ. ඔවුන් ජේසුස් වහන්සේගෙන් විචාල ප්‍රශ්න හා උන්වහන්සේ වදාළ පිළිතුරු සැකෙවින් මෙසේ ය.

ප්‍රශ්නයः **ඔබ ක්‍රිස්තුස් ද? අපට කියන්න.**

පිළිතුරः **මා ඔබට කීවත් ඔබ විශ්වාස කරන්නේ නැත. මා ඔබෙන් ඇසුවත් ඔබ පිළිතුරු දෙන්නේ නැත. එහෙත් මෙතැන් පටන් මනුෂ්‍ය පුත්‍රයාණන් දෙවියන් වහන්සේගේ බල පරාක්‍රමයේ දකුණු පස වැඩ හිඳිනු ඇත.**

ප්‍රශ්නයः **එසේ නම් ඔබ දෙවියන් වහන්සේගේ පුත්‍රයාණෝ ද?**

පිළිතුරः **මා එසේ බැව් පවසන්නේ ඔබ ය.**

මෙවිට ඔවුහු **"වෙන සාක්ෂියක් අපට කුමට ද? මෙය ඔහුගේ ම කටින් කියනවා අපගේ ම කනින් ඇසීමු"** යි කියා උන්වහන්සේ පිලාත් ඉදිරියට ගෙන ගියහ.

ජේසුස් වහන්සේගෙන් ඔවුන් මෙසේ ප්‍රශ්න ඇසීමේ අරමුණ උන්වහන්සේගේ වචන උන්වහන්සේට ම විරුද්ධ ව සාක්ෂි ලෙස ඉදිරිපත් කිරීම බව පැහැදිලි ය. පසුගිය කාලය පුරා ම මොවුන් මෙලෙස තමන් වහන්සේ පසු පස හඹා එමින් වරදට පත් කරන්නට ක්‍රියා කළ ආකාරය ජේසුස් වහන්සේට අළුත් අත්දැකීමක් නොවීය. ඔවුන්ගේ අරමුණ පැහැදිලි ය. තමන්ගේ ඉරණම ද උන්වහන්සේ දැන සිටි සේක. ඒ නිසා ම ජේසුස් වහන්සේ නොසැලී ඉතා බුද්ධිමත් ව, තම පිළිතුරු ලෙස ඔවුන්ගේ ප්‍රශ්න පෙරලා ඔවුන් වෙත ම නැවත යොමු කළ ආකාරය ආකර්ශණීය වේ.

කෙසේ වෙතත් විත්තිකරුවකු විසින් ඉදිරිපත් කරන සාක්ෂි මත පමණක් පිහිටා නඩු තීන්දුවක් දීම ජුදෙව් ආගමික නීතිවලට එකඟ නැත. එය ද නොසැලකූ නායක පූජකයන්ට අවශ්‍ය වූයේ ජේසුස් වහන්සේ මරණයට පත් කිරීමට ය. එහෙත් එම තීරණය ගැනීමට බලතල මෙම ශ්‍රේෂ්ඨාධිකරණය සතු නොවී ය. පලස්තීනය රෝම අධිරාජ්‍යයට යටත් ව සිටි හෙයින් එම බලය පවරා තිබුණේ ජුදයේ සිටි රෝම ආණ්ඩුකාරයාට ය.

එම නිසා ඔවුහු එවකට ජුදයේ රෝම ආණ්ඩුකාරයා ව සිටි පොන්තියුස් පිලාත් ඉදිරියට ජේසුස් වහන්සේ ගෙන ගියහ.

සැන්හෙන්ඩ්‍රින් නමින් හැඳින්වූ ජුදෙව් ශ්‍රේෂ්ඨාධිකරණයේ දී උන්වහන්සේට විරුද්ධ ව කලින් ඉදිරිපත් කළ ජුදෙව් ආගමික පදනමක් සහිත චෝදනා වෙනුවට රෝම ආණ්ඩුකාරයා ඉදිරියෙහි ජේසුස් වහන්සේට එරෙහි ව රාජ්‍ය විරෝධී පදනමක් සහිත චෝදනා ඉදිරිපත් කළේ එහෙයිනි.

එම චෝදනා වූයේ ජේසුස් වහන්සේ

- ජාතිය කැරලි ගැසීමට පෙළඹවීම
- අධිරාජ්‍යයාට බදු ගෙවීම තහනම් කිරීම
- තමා ක්‍රිස්තුස් නම් රජකු බව ප්‍රකාශ කිරීම.

' **අධිරාජ්‍යයාට බදු ගෙවීම** ' (ශු. ලූක් 20 : 19 - 26) පිළිබඳ විවාදයේ දී මෙම චෝදනාවට ජේසුස් වහන්සේ ලක් කිරීමට ගත් උත්සහය ව්‍යාර්ථ වූ ආකාරය පෙර පාඩමක දී අපි හැදෑරුවෙමු.

ඉහත චෝදනා මත පිලාත් නම් ආණ්ඩුකරු හා ජේසුස් වහන්සේ අතර සිදු වූ දෙබස සංක්ෂිප්ත ව මෙලෙස වේ.

පිලාත් - **ඔබ ජුදෙව්වන්ගේ රජ ද ?**

ජේසුස් වහන්සේ - **එසේ කියන්නේ ඔබ ය.**

පිලාත් - **මේ මනුෂ්‍යයා අත කිසි වරදක් මට නොපෙනේ**

සෙනග - **හෙතෙම ගලීලයේ සිට මෙතැන දක්වා ජුදය මුළුල්ලෙහි උගන්වමින් සෙනඟ කළඹන්නෙහි ය.**

පිලාත් - **මේ මනුෂ්‍යයා ගලීලයෙක් ද ?**

මෙහිදී පිලාත් ද ජේසුස් වහන්සේ නිර්දෝෂී බව දුටු නිසා උන්වහන්සේ වරදට ලක් කිරීමට අකමැති විය. එහෙත් සෙනඟගේ විරෝධය නොතකා හැරීමට ඔහුට ආත්ම ශක්තියක් නොවී ය. එනිසා පිලාත් විසින් ජේසුස් වහන්සේ විනිශ්චය කරනු පිණිස එම කාලයේ ජෙරුසලමෙහි සිටි හෙරොද් රජ වෙත යවන ලදි.

ජේසුස් වහන්සේගේ බලවත් ක්‍රියා පිළිබඳ ව බොහෝ කලක සිට අසා සිටි හෙරොද් රජ උන්වහන්සේගේ ආශ්චර්යයන් දකිනු රිසියෙන් උන්වහන්සේ දැක බොහෝ සතුටු විය. නායක පූජකයන් ද විනයධරයන් ද හෙරොද් රජ ඉදිරියේ උන්වහන්සේට තදින් වරද තැබූහ. හෙරොද් රජු ද උන්වහන්සේගෙන් බොහෝ ප්‍රශ්න ඇසී ය. ඒ සාධාරණ විසඳීමකට එළඹීම සඳහා නොව උන්වහන්සේට මෙබදු බලයක් හිමි

වූයේ කෙලෙසදැයි විමසා දැන ගැනීමට ය. මේ බව වටහා ගත් උන්වහන්සේ කිසිදු පිළිතුරක් නොදුන් සේක.

අසාධාරණය ඉදිරියේ මෙලෙස නොසැලී - එඩිතර ව සිටින්නට ජේසුස් වහන්සේට හැකි විය. කෙසේ වෙතත් ජේසුස් වහන්සේ අරඹයා හෙරොද්ගේ නිගමනය වූයේ ද පිලාත්ගේ කලින් නිගමනය ම ය. ඒ ජේසුස් වහන්සේ අත මරණීය දඬුවමට සුදුසු තරම් වරදක් නොමැති බව යි. මේ බව ද අවධාරණය කර, හොරොද් විසින් ජේසුස් වහන්සේ පිලාත් වෙත නැවත යොමු කරන ලදි.

## ශු. ලූක් 23 : 13 - 25
## ජේසුස් වහන්සේට මරණීය දණ්ඩනය

ජේසුස් වහන්සේ පිළිබඳ චෝදනා සම්බන්ධයෙන් අවසාන තීරණය දීමට ජුදයේ රෝම ආණ්ඩුකාර පිලත් ට බලය තිබුණි. සෙනග ඉල්ලූ මරණීය දණ්ඩනය උන්වහන්සේට ලබා දීමට පිලාත් එකඟ නොවූයේ ජේසුස් වහන්සේ අත කිසිදු වරදක් නොමැති වූ හෙයිනි. තෙවරක් ම ඒ ගැන ඔහු තර්ක කළ ආකාරයෙන් පැහැදිලි ය. ජේසුස් වහන්සේ නිදොස් බව පිලාත් නැවත නැවත පැවසූ නමුත් ජනතා උද්ඝෝෂණය උග්‍ර වන බව ඔහුට වැටහුණි. මෙලෙස ජේසුස් වහන්සේ කුරුසියේ ඇණ ගසන ලෙස ඉල්ලා කළ ජනතා උද්ඝෝෂණය සාර්ථක විය. පිලාත් ආණ්ඩුකාරයා ඔවුන්ගේ ඉල්ලීම අනුව තීන්දුව ප්‍රකාශ කළේ ය. ඒ අනුව ඔවුහු ජේසුස් වහන්සේ කපාල පිටිය නම් ස්ථානයට ගෙන ගොස් එහිදී උන්වහන්සේ කුරුසිය මත ඇණ ගැසූහ.

ලෞකික රාජ්‍යයක රජකු ලෙස ජේසුස් වහන්සේගෙන් විමුක්තිය පැතූ ජනතාව පසුව ජාතිවාදී කැරලි කරුවකු හා මිනීමරුවකු ද වූ බරබ්බස්ව තෝරා ගත්තෝ ය. ජේසුස් වහන්සේ විසින් හඳුන්වා දුන් දේව රාජ්‍යය තුළ ලද හැකි විමුක්තිය ඔවුහු ප්‍රතික්ෂේප කළහ.

**මෙය එදා පමණක් නොව ඉතිහාසය තුළ සදාකාලික ව ම පවත්නා සංසිද්ධියකි. මෙහි දී ඔබ සිටින්නේ කොතැන ද?**

## ශු. ලූක් 23:44-49
## ජේසුස් වහන්සේගේ මරණය

***එය මධ්‍යහ්න වේලාව පමණ විය. රට පුරා අන්ධකාරයක් පහළ වී එය සවස තුන දක්වා පැවතිණි. හිරු අඳුරු විය.***

මනුෂ්‍යයා පාපයෙන් ගලවා විමුක්තිය උදාකරදීම උදෙසා මෙලොවට වැඩිය ජේසුස් වහන්සේ මනුෂ්‍යා විසින් ම ප්‍රතික්ෂේප කරනු ලැබ මෙවන් කුරිරු ඉරණමක් අත්කර දුන්නත් එයට සොබා දහම දැක්වූ ප්‍රතිචාරය පුදුමාකාර ය. ජේසුස් වහන්සේ කුරුසිය මත

සිටිය දී හිරු අඳුරු වී අන්ධකාරයක් පැතිර ගියේ ය. දේව මාලිගාවේ තිරය දෙකඩව ඉරී ගියේ ය. ජෙරුසලම් දේව මාලිගාවේ අති ශුද්ධස්ථානය වෙන්කර තිබුණේ මෙම තිරයෙනි. ඉන් ඇතුළු ව අති ශුද්ධස්ථානයට පිවිසීමට (සංකේතාත්මක ව සමිඳාණන් වහන්සේ වෙතට පිවිසීමට) වරප්‍රසාද හිමි වූයේ දුම් පූජාව සඳහා වසරකට වරක් එක් පූජකයකුට පමණි. ඒ අනුව මෙම සිදුවීම තුළින් සාමාන්‍ය ජනතාවට අති ශුද්ධ ස්ථානයට හෙවත් දෙවි සමිඳුන් වෙතට ළඟා වීමට තිබූ බාධකය ජේසුස් වහන්සේගේ කුරුසි පූජාව නිසා ඉවත් වූ බව ගම්‍ය වේ.

**ජේසුස් වහන්සේ මහ හඬින් මොර ගසා "පියාණෙනි ඔබගේ හස්තයට මාගේ ආත්මය භාර දෙමි" යි වදාළ සේක.**

මෙවදන් පවසා උන්වහන්සේ අන්තිම හුස්ම හෙලූ සේක. ශු. ලූක් සුබසුනට අනුව ජේසුස් වහන්සේ විසින් වදාළ අවසාන වදන මෙය වේ. මෙය යුදෙව්වන්ට සුපුරුදු යාච්ඤාවකි. (ගීතාවලිය 31:5) බිලිඳු කල පටන් සැම ජුදෙව්වෙක් ම රෑ නින්දට යාමට පෙර මෙම යාච්ඤාව ඔප්පු කිරීමට පුරුදු ව සිටියහ. පියාණන්වහන්සේ කෙරෙහි සම්පූර්ණ විශ්වාසයෙන් හා ඇදහිල්ලෙන් යුතුව ජේසුස් වහන්සේගේ මරණය දක්වා දෙවිපියාණන්ට අවනත වූ බව මෙයින් පසක් වේ.

මෙලෙස සාධාරණ සමාජයක් බිහි කිරීම උදෙසා මිනිසත් බව රැගෙන ජේසුස් වහන්සේ මෙලොවට වැඩිය සේක. මනුෂ්‍ය වර්ගයාගේ අසාධාරණය ඉදිරියේ නොසැලී දේව රාජ්‍යය ලඟා කර දීම උදෙසා තම මෙහෙවර ඉටු කළ සේක . දෙවිසමිඳාණන් වෙත අප හට ලඟාවීමට තිබූ බාධකය වන තිරය දෙකඩ කරමින් තම ආත්මය දෙවිපියාණන් වෙත භාරදුන් සේක. අසාධාරණය ඉදිරියේ නොසැලී දිවි ගෙවීමට අපට ද මහඟු ආදර්ශයක් මෙන් ම ශක්තියක් ලබාදෙමින් ජේසුස් වහන්සේ තම මෙහෙවර අවසන් කළ සේක.

ක්‍රියාකාරකම:

1. ජේසුස් වහන්සේ කුරුසිපත් කිරීමට ලක් කිරීමේ අසාධාරණ ක්‍රියාවලිය ඉදිරියේ, උන්වහන්සේ එයට මුහුණ දුන් ආකාරයෙන්, අපගේ ජීවිතවලට ගත හැකි ආදර්ශ මොනවාදැයි ලියා දක්වන්න.

# 15. දුක් ප්‍රාප්තියට ප්‍රතිචාර

පාප රහිත වූ ජේසුස් වහන්සේ "නීතිය" ඉදිරියේ වරදකරු බවට පත්කොට මරණය තීන්දු කළ අසාධාරණ විනිශ්චය ඉදිරියේ වුව ද ඊට නොසැලී එඩිතර ව මුහුණ දුන් ආකාරය පසු ගිය පාඩමෙන් අපි විමසා බැලීමු.

එලෙස ම ජේසුස් වහන්සේගේ දුක් ප්‍රාප්තියට විවිධ අයුරින් හවුල් වෙමින් ප්‍රතිචාර දැක්වූ පිරිසක් ද විය. මෙම පාඩමෙන් අප විමසා බලන්නේ ඔවුන් ජේසුස් වහන්ස්ගේ දුක් ප්‍රාප්තියට ප්‍රතිචාර දැක්වූ ආකාරය කිතුනු අපගේ දිවියට ගෙන එනු ලබන සාක්ෂිය හා ආදර්ශය කෙලෙස ද යන්න යි.

ශු. ලූක් 23: 26 - 42, 46 පද, 9:18-20, 22:31-34, 22:54-62, 23:50-53

## ශු. ලූක් 9: 18-20
## පේදුරුගේ මහා ප්‍රකාශය

පේදුරු තුමා ජේසුස් වහන්සේගේ ප්‍රධානතම ශ්‍රාවකයා මෙන් ම උන්වහන්සේට මහත් සේ ප්‍රේම කළ ශ්‍රාවකයා ලෙස ද හඳුනාගත හැකි ය. එමෙන් ම පේදුරු තුමා ජේසුස් වහන්සේ පිළිබඳ ව මනා අවබෝධයකින් ක්‍රියා කළ ශ්‍රාවකයෙක් ද විය. ඊට ප්‍රබල සාක්ෂිය වන්නේ පේදුරුගේ මහා ප්‍රකාශය වේ.

"ඔබ දෙවියන් වහන්සේගේ ක්‍රිස්තුවරයාණෝය."

පේදුරු තුමාගේ මෙම ප්‍රකාශය තුළින් පිළිබිඹු වන්නේ ජුදෙව් ජනතාව තුළ තිබූ "ක්‍රිස්තුස්වහන්සේ" පිළිබඳ බලාපොරොත්තුව ජේසුස් වහන්සේ තුළින් ඉටුවී ඇති බව පේදුරුතුමා පසක් කරගත් බව ය. එබැවින් ජේසුස් වහන්සේ ද තම මෙහෙවරෙහි ඉදිරි පියවර පේදුරු තුමාට භාර කළ සේක.

## ශු. ලූක් 22:31-34
## පේදුරුගේ අපලාපය ගැන කලින් කීම

ශ්‍රාවකයින්ගේ සිත් සාතන්ගේ පෙළඹීම මත වෙනස්වීමට ලක්වීමට ඉඩ ඇති බව දන්නා ජේසුස් වහන්සේ ඔවුන්ගේ ඇදහිල්ල නොබිඳෙන පිණිස යාච්ඤා කළ සේක. ඔවුන් සිතින් වැටුණත් **"යළිත් ඔබ හැරුණු පසු ඔබේ සහෝදරයින් ධෛර්යමත් කරන්න"** යනුවෙන් ජේසුස් වහන්සේ පේදුරුතුමාට වදාළ සේක. මෙහිදී පේදුරු තුමාගේ පිළිතුර වූයේ උන්වහන්සේ වෙනුවෙන් මරණයට වුව ද මුහුණ දීමට සූදානම් ව සිටින බව ය. නමුත් ඉදිරියේ දී සිදුවීමට ඇති කාරණා ජේසුස් වහන්සේ මෙලෙස පැහැදිලි කළ සේක.

## ශු. ලූක් 22:54-63
## පේදුරුගේ අපලාපය

ජේසුස් වහන්සේ විනිශ්චය සඳහා උත්තම පූජක මැඳුරට රැගෙන යන මොහොතේ පේදුරුතුමා ක්‍රියා කළ ආකාරය විමසා බැලීමේ දී ජේසුස් වහන්සේ පෙර කල ඉඟිය සිහියට නැංවේ. ජේසුස් වහන්සේ හා සමග මරණයට වුව ද සූදානම් යැයි කී පේදුරු එම මොහොතේ උන්වහන්සේ නාඳුනන බව කීවේ ය. එසේ පවසන බව ජේසුස් වහන්සේ තමාට පෙර ඇඟවීමක් කළ බව සිහිපත් වී පේදුරු පිටතට ගොස් දැඩි දුකින් හැඬී ය.

එදින රාත්‍රියේ පේදුරු තුළ තිබූ ධෛර්යය බිඳ වැටී තිබූ නමුත් ජේසුස් වහන්සේගේ පෙර වදන් වූයේ **"ඔබ යළිත් හැරුණු පසු ඔබේ සහෝදරයින් ධෛර්යමත් කරන්න"** යන්න ය. එම වදන් තුළ පේදුරු ශක්තිමත් වූ බව නිසැක ය.

### පේදුරුතුමාගේ ජීවිතය තුළින් කිතුනු දිවියට ගෙන එන සාක්ෂිය

**"ඔබ දෙවියන් වහන්සේගේ ක්‍රිස්තුවරයාණෝ ය"- ශු. ලූක් 19:20**

**"ස්වාමීනී ඔබ හා සමග හිරේ යාමට හා මරණයට වුව ද මම සූදානම් ව සිටිමි. ශු. ලූක් 22:33**

දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසයෙන් බැහැර වීම පරීක්ෂාවන් අතර වඩාත් ප්‍රබල පරීක්ෂාවකි.

ජේසුස් වහන්සේ තුළ දැඩි විශ්වාසයෙන් සිටි පේදුරු තුමා අරභයා මෙසේ සිදු වී නම් සාමාන්‍ය මනුෂ්‍යයන් වන අප ද මෙවන් පරීක්ෂාවන්ට බෙහෙවින් යොමු විය හැකි ය. එසේ නොවීමට නම් නිරන්තර යාච්ඤාවෙන් සහ ඇදහිල්ලෙන් ක්‍රියා කළ යුතු ය.

**"එහෙත් ඔබේ ඇදහිල්ල නොබිඳෙන පිණිස ඔබ උදෙසා මම යාච්ඤා කළෙමි. "ඔබ යලිත් හැරුණු පසු ඔබේ සහෝදරයන් ධෛර්යවත් කරන්න." ලූක් 22:32**

### කිතුනු දිවියට ගෙනෙන පණිවුඩය

ජේසුස් වහන්සේගේ ජීවිතයේ අවසන් සමයේ **"පරීක්ෂාවට නොවැටෙන පිණිස යාච්ඤා කරන්න යැයි"** උන්වහන්සේ නිතර ම ශ්‍රාවකයන්ට පැවසුවේ ඔවුන්ගේ විශ්වාසයේ ගැඹුර දැඩි ලෙස සෝදිසි කෙරෙන මෙවන් අවදියක් එලඹෙන බව උන්වහන්සේ දැන සිටි හෙයිනි. අනතුරු ඇඟවීමක් කළේ එහෙයිනි.

අපගේ ඇදහිල්ල ශක්තිමත් ව පවත්වාගෙන යාම උන්වහන්සේගේ මැදිහත් වීමක් නොමැති ව අපට තනිව ම කළ නොහැකි බව මින් පැහැදිලි වේ. අප උන්වහන්සේ සමග වර්ධනය කර ගන්නා දේව සබඳතාවය තුළ ඒ සඳහා ධෛර්යය හා ශක්තිය ලැබෙන බව නිසැක ය.

අපගේ ඇදහිල්ලෙහි තාවකාලික පසුබැසීම් ඇති වුව ද, ඒ නොතකා ජේසුස් වහන්සේ දේව රාජ්‍යයෙහි ඉතා වැදගත් වගකීම් සහ කාර්යයන් අප වෙත පවරන බව අප අවබෝධ කර ගත යුතු වේ.

ඒ අනුව අප පරීක්ෂාවට වැටුණ ද, නැවත නිවැරදි වීමට උන්වහන්සේ අපට මග පෙන්වන සේක. අප දිරිමත් කරන සේක.

ජේසුස් වහන්සේගේ දුක් ප්‍රාප්තියට සම්බන්ධ වූවන් අතර පේදුරුතුමා මෙන් ම තවත් බොහෝ අය වූහ. විනිශ්චයෙන් පසු කුරුසි පත් කිරීම දක්වා කාලය තුළ ජේසුස් වහන්සේගේ දුක් ප්‍රාප්තියට ඔවුන් ද සම්බන්ධ වූ අයුරු විමසා බලමු.

## සිරේනියේ සීමොන් - ශු. ලූක් 23: 26

**ඔවුහු උන්වහන්සේ ගෙන යන කල පිටිසරින් පැමිණි සිරේනියේ සීමොන් නම් මනුෂ්‍යයකු අල්ලා ගෙන ජේසුස් වහන්සේ පසුපසින් කුරුසිය දරාගෙන යන පිණිස එය ඔහු පිට තැබූ ය.**
**ශු. ලූක් 23:26**

ශු. මාර්ක් සුබසුනේ දැක්වෙන පරිදි මොහු ඇලෙක්සැන්දර්ගේ ද රූපස්ගේ ද පිය වූ පිටිසරින් ආ පුද්ගලයකු විය. ඔහු ජෙරුසලමට පැමිණියේ පාස්කු මංගල්‍යය සැමරීමට යයි සිතිය හැකි ය. නමුත් ඔහුට එදා සිදු වූයේ ජේසුස් වහන්සේගේ පසුපසින් කුරුසිය දරාගෙන යාමට උපකාර කිරීමට ය.

## කිතුනු දිවියට ගෙනෙන පණිවුඩය

අපට ද නොසිතූ ලෙස, නොසිතූ වේලාවක, නොසිතූ පරිදි ජේසුස් වහන්සේගේ කුරුසියට (දේව රාජ්‍යයේ මෙහෙවරට) දායක වීමට ඇරයුම් ලැබිය හැකි ය. එම වරම දේව වරප්‍රසාදයකි. සිරේනියේ සීමොන් ප්‍රතික්ෂේප කිරීමකින් තොර ව කුරුසිය දරාගෙන යාමට උරදුන් ආකාරයෙන් උන්වහන්සේගේ කුරුසියට (දේව රාජ්‍යයේ මෙහෙවරට) උර දීමට අපට ඇරයුම් ලද මොහොතේ එය කිසිසේත් අත පසු නොකිරීමට සැදී පැහැදී සිටිය යුතු වේ.

## ස්ත්‍රීන් - ශු. ලූක් 23: 27-31

ජේසුස් වහන්සේ දෙස බලා හඬා වැලපෙන ස්ත්‍රීන්ට ජේසුස් වහන්සේ වදාළේ **"ජෙරුසලමේ දූ වරුනි මා නිසා නොහඬන්න. ඔබ සහ ඔබේ දරුවන් නිසා ම හඬන්න"** යනුවෙනි. එම අවස්ථාවේ එකී වදන් තුළින් ජේසුස් වහන්සේ පෙන්වා දුන්නේ හඬා වැළපිය යුත්තේ තමන් වහන්සේට හිමිවූ ඉරණම පිළිබඳ ව නොව උන්වහන්සේ කලින් දැනුවත් කළ පරිදි ඉදිරි කාලයේ දී ජෙරුසලමේ වැටීම කරණකොටගෙන අනාගත පරපුරට අත්විඳින්නට සිදු වන ඉරණම පිළිබඳ ව ය.

## කිතුනු දිවියට ගෙනෙන පණිවුඩය

- **තමා වෙනුවෙන් නොහඬන්න** යයි ජේසුස් වහන්සේ විසින් පැවසීම උන්වහන්සේගේ කුරුසි පත් වීම පරාජයක් නොව විජයග්‍රහණයක් බව ඒත්තු ගැන්වීම ය.
- **ඔබ හා ඔබේ දරුවන් උදෙසා ම හඬන්න** යැයි වදාළේ පැමිණෙන්නට තිබෙන පාපයෙන් පිරි ලොව තුළ අත් විඳින්නට සිදුවන විපත් පිළිබඳ ව පෙර ඉඟියක් ලෙසින් ය.

## සොරුන් - ශු. ලූක් 23:32-33, 39-42

කපාලපිටිය නම් ස්ථානයට ජේසුස් වහන්සේ සමග වරදකරුවන් ලෙස රැගෙන ගිය තවත් දෙදෙනකු විය. ජේසුස් වහන්සේගේ දෙපස මොවුන් දෙදෙන කුරුසියේ ඇණ ගැසූහ. ඉන් එක් වරදකරුවකු එම අවස්ථාවේ ජේසුස් වහන්සේ පරීක්ෂාවට යොමු කිරීමට උත්සාහ කළත් අනෙක් වරදකරු දෙවියන් වහන්සේ ඉදිරියේ තමා කළ වරද පිළිගෙන තමාට හිමි දඬුවම සාධාරණ බව ප්‍රකාශ කළේ ය. ජේසුස් වහන්සේ කෙරෙහි විශ්වාස කළ ඔහුගේ ඉල්ලීම වූයේ.

**"ජේසුස් වහන්ස, ඔබ රාජශ්‍රීයෙන් වඩිනා කල මා සිහි කළ මැනව"** යනු ය. එම ඉල්ලීම ඉටු වූ බව ජේසුස් වහන්සේ ලබා දුන් පිළිතුරෙ හි ගැබ් වී ඇත.

## කිතුනු දිවියට ගෙනෙන පණිවුඩය

පාපයේ ගැලී සිටීමට සූදානම් හා එයින් මිදීමට සූදානම් චරිත දෙකක් පිළිබඳ උදාහරණයකි.

ජීවිතයේ අවසන් මොහොතේ වුව ද, තම වරද පිළිගෙන පසුතැවිලි වී, කමාව ලැබීම තුළ හා ජේසුස් වහන්සේ තම දිවියේ ගැළවුම්කරු ලෙස පිළිගැනීම තුළ ලද හැකි සදාකාල ජීවනය පිළිබඳ සාක්ෂියකි.

## මුර සෙබළුන් - ශු. ලූක් 23 : 35-38

ජේසුස් වහන්සේ කුරුසි පත් කළ මොහොතේ මුර සෙබළුන් ජේසුස් වහන්සේට කාඩි ලං කොට

**"ඔබ ජුදෙව්වන්ගේ රජුනම් ඔබ ඔබ ම ගලවා ගන්න"**

යැයි පවසමින් සරදම් කළා සේම උන්වහන්සේ පරීක්ෂාවට යොමු කිරීමට උත්සාහ කළහ. තව ද ජේසුස් වහන්සේට අපහාසාත්මක ව ද කටයුතු සිදු කළහ.

## කිතුනු දිවියට ගෙනෙන පණිවුඩය

ගැරහුම් කිරීම මෙන් ම අභියෝගයන් ද මුරසෙබළුන්ගේ මෙම ක්‍රියාවලිය තුළ ගැබ් වේ. මෙම අභියෝග ආසන්න දින කිහිපයේ ප්‍රබල ව ද ඊට පෙර පාලුකරයේ දී ද ජේසුස් වහන්සේ මුහුණ දුන් පරීක්ෂාවන්ට අදාළ වේ. උන්වහන්සේ නිහඬ ව එහෙත් එඩිතර ව මෙවර ද මෙම පරීක්ෂාවන් ජය ගත් සේක. එලෙස අපගේ දිවිය තුළ මුහුණ දෙන පරීක්ෂාවන් හි දී දේව වචනයෙන් ශක්තිමත් ව ඊට එඩිතර ව ඊට මුහුණ දීම අවශ්‍ය ය.

## අරිමාතියේ ජෝසෙප් - ශු. ලූක් 23 : 50-53

ජුදෙව් නුවරක් වූ අරිමාතියෙන් පැමිණි ජෝසෙප් නම් මනුෂ්‍යයෙක් උන්වහන්සේගේ මෘත දේහය පිලාත් ගෙන් ඉල්ලීමට තරම් එඩිතර විය. උන්වහන්සේගේ මෘත දේහය හණ රෙදිවලින් වෙලා කිසිවකු නොතැබූ කණින ලද සොහොනක තැන්පත් කිරීමට බාර ගැනීමට ඉදිරිපත් විය.

## කිතුනු දිවියට ගෙනෙන පණිවුඩය

අරිමාතියේ ජෝසෙප් ජුදා මන්ත්‍රණ සභාවේ සාමාජිකයකු ව සිටිමින් වුව ද ජුදෙව්වන්ගේ ක්‍රියා කලාපය අනුමත නොකළ පුද්ගලයකු ලෙස මොහු අගය කළ හැකි ය. මේ වන විට ජේසුස් වහන්සේගේ ශ්‍රාවකයින් පවා උන්වහන්සේ නොහඳුනන බව ප්‍රකාශ කරද්දී දේශපාලන සිරකරුවකු ලෙස කුරුසිපත් කරන ලද ජේසුස් වහන්සේගේ මෘත දේහය ගෞරවාන්විත ව සොහොනේ තැන්පත් කිරීමට ඉල්ලීමෙන් ඔහුගේ එඩිතර බව හා කැපවීම පිලිබිඹු වේ. මෙම තීරණාත්මක අවස්ථාවේ ජේසුස් වහන්සේගේ අනුගාමිකයකු ලෙස ප්‍රසිද්ධියේ පෙනී සිටීමෙන් මොහු දැක්වූ **සත්‍යයට සාක්ෂි දැරීම** අපට මහත් ආදර්ශයකි.

මෙලෙස ජේසුස් වහන්සේගේ දුක් ප්‍රාප්තියට සම්බන්ධ වූවන් අතර, උන්වහන්සේ හා එකඟ ව ක්‍රියා කළ අය මෙන් ම, උන්වහන්සේට විරුද්ධ ව ක්‍රියා කළ අය ද හඳුනා ගත හැකි ය. උන්වහන්සේ හා එකඟ ව ක්‍රියා කළ අය තුළින් ලබන ආදර්ශයන් අපගේ කිතුනු දිවිය තව තවත් අර්ථවත් කර ගැනීමට ද ශක්තිමත් කර ගැනීමට ද ගෙන දෙනු ලබන්නේ මහත් පිටිවහලකි.

ජේසුස් වහන්සේ කුරුසිපත් කරවීමට එකඟ ව ක්‍රියා කළ සියල්ලන් වෙනුවෙන් උන්වහන්සේගේ ආදර්ශමත් ප්‍රතිචාරය වූයේ

**"පියාණෙනි, ඔවුනට කමා වුව මැනව.<br>ඔවුන් කරන දෙය ඔවුහු නොදනිති" යි යනුවෙනි.**

එලෙස උන්වහන්සේ අපගේ ජීවිතය උදෙසා තම ජීවිතය පූජා කරමින් අපට සදාකාල ගැලවීම අත්කරදුන් සේක. දෙවියන් වහන්සේගේ සැලැස්ම ප්‍රකාර ඉටුකළ යුතු ව තිබූ මෙහෙවර සමාප්ත කරමින් මහ හඬින් මොර ගසා කුරුසිය මත අවසන් හුස්ම හෙලන ලද්දේ

**"පියාණෙනි ඔබගේ හස්තයට<br>මාගෙ ආත්මය භාර දෙමි" යි වදාරමිනි.**

ක්‍රියාකාරකම

1 අපගේ ඇදහිල්ලෙහි තාවකාලික පසුබැසීම් ඇති වුවද, ඒ නොතකා, ජේසුස් වහන්සේ දේව රාජ්‍යයෙහි ඉතා වැදගත්, වගකීම් අප වෙත පවරන බව පේදුරුතුමාගේ චරිතය ඇසුරන් පෙන්වා දෙන්න.

# 16. නව බලාපොරොත්තුව

**ජේසුස් වහන්සේ කිසිදු වරදක් නොකළ නමුත් ජුදෙව් අධිකරණය උන්වහන්සේට නියම කළ දඬුවම කුරුසිය මත මරණීය දණ්ඩනය යි. කුරුසිය දරාගෙන එද්දී බොහෝ කස පහර ලැබ, අත් පා සිදුරු කොට කුරුසිය මත ඇණ ගසනු ලැබ, බොහෝ නින්දා අපහාස මැද දරුණු ලෙස වේදනාවට ලක්ව, "පියාණෙනි ඔබගේ හස්තයට මාගේ ආත්මය භාර දෙමි"යි වදාරමින් ජේසුස්වහන්සේ අවසන් හුස්ම හෙළු සේක.**

**"දේව රාජ්‍යයේ උරුමය" අප වෙත නැවත ලබාදීම උදෙසා - අපව පාපයෙන් මුදවා ගැනීම උදෙසා - අපගේ පාපයට කමාව ලබාදීම උදෙසා - අපගේ පාපය වෙනුවෙන්, ජේසුස් වහන්සේ තම දිවි පුදා තමන්වහන්සේගේ "මෙහෙවර" සමාප්ත කළ සේක.**

**ඒ සියල්ල එතෙකින් කෙළවර වී නම්, ජේසුස් වහන්සේගේ දිවි පිදීම, තවත් එක් මරණයක් පමණක් විය හැකි ව තිබුණි. නමුත් එය එසේ නොවී ය. මෙම පාඩමෙන් අප සලකා බලනු ලබන්නේ අපගේ ජීවිතවලට "සදාකාල ජීවනයට" දොරටු විවෘත කරමින් ජේසුස් වහන්සේ ජීවමාන වූ ආකාරය යි.**

ශු. ලූක් 24

***"අප අදහන ජේසුස් වහන්සේ ජීවමාන ය"***

***"දෙවියන් වහන්සේ අප සමඟ සදාකාලයට ම වැඩ වසන සේක"***

ඉහත ප්‍රකාශ ඔබ නිතර අසන ඒවා විය හැකි ය. නමුත් එහි ගැබ් වී ඇති අර්ථය හා සත්‍යතාව පිළිබඳ ව ඔබ වටහාගෙන තිබේ ද?

ඉහත ප්‍රකාශ ගැඹුරු අර්ථයක්, ඓතිහාසික සත්‍ය සිද්ධියක් හා සබැඳි ය. මිනිසා පාපයෙන් මුදවා ගන්නට ජේසුස් වහන්සේ බොහෝ සේ දුක් වේදනා විඳිනු ලැබ කුරුසියේ දිවි පිදූ සේක. මරණය අත්විඳ සොහොන් ගත කළ එම ශරීරය තෙදිනකින් උත්ථාන විය. එම උත්ථාන වීම ජේසුස් වහන්සේගේ ශ්‍රාවකයින් ඇතුළු අනිකුත් අනුගාමිකයින් අත්දුටහ. එම විශ්මිත අත්දැකීම මිනිස් වර්ගයාට සදාකාල ජීවනයට දොරටු විවර කරන, නව බලාපොරොත්තුවේ ශුභාරංචියක් විය.

**ජේසුස් වහන්සේ සමග ලඟින් ඇසුරු කළ ශ්‍රාවක පිරිස හා අනුගාමික පිරිස මළවුන්ගෙන් උත්ථාන වූ ජේසුස්වහන්සේ ජීවමානව වැඩ විසීමට සාක්ෂි දැරූ ආකාරය විමසා බලමු.**

ජේසුස් වහන්සේ, තමන්වහන්සේට අත්විඳින්නට නියමිත ඉරණම පිළිබඳවත් උන්වහන්සේගේ පුනරුජ්ජීවනය පිලිබඳවත් උන්වහන්සේ තම මෙහෙවරෙහි නිරත වූ අවස්ථාවන්හි තම ශ්‍රාවකයින්ට එළිදරව් කළ සේක. එහෙත් එම කාරණා ඉටුවීම පිළිබඳ ව පැහැදිළි අවබෝධයක් එකල ශ්‍රාවකයන් තුළ නොවී ය. ජේසුස් වහන්සේ කුරුසිපත් කිරීමට නියම වූ මොහොතේ සිට උන්වහන්සේ සමග සිටි ශ්‍රාවක පිරිස මහත් වියවුලට පත් වූයේ එහෙයිනි.

නමුත් ජේසුස් වහන්සේගේ "පුනරුජ්ජීවනය" පිළිබඳ ශුභාරංචිය ඔවුන්ට නව බලාපොරොත්තුවක් ගෙන දෙන්නක් විය. එබැවින් ශ්‍රාවක පිරිස ඇතුළු තවත් බොහෝ අය නැවතත් දිරිමත් ව උන්වහන්සේගේ උත්ථාන වීම පිළිබඳ ව සාක්ෂි දැරීමට ඉදිරිපත් වූහ.

**ශු. ලූක් 24 : 1-12**
**ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනය**

සතියේ පළමු වන දින හිමිදිරි උදෑසන කාන්තාවන් සුවඳ ද්‍රව්‍ය රැගෙන ජේසුස් වහන්සේ තැන්පත් කළ සොහොන වෙත පා නැගුවේ ජුදෙව් චාරිත්‍රයක් ලෙස මෘත දේහය සුවඳ ද්‍රව්‍යයෙන් ආලේප කිරීම සඳහා ය. සොහොන වෙත ලඟා වූ එම කාන්තාවන් විශ්මයට පත් කරමින් අසන්නට ලැබුණු දේව දූත පණිවුඩය වූයේ;

***"ජීවමාන තැනැන්වහන්සේ මළවුන් අතර සොයන්නේ මන් ද?***
***උන්වහන්සේ මෙහි නැත. උන්වහන්සේ උත්ථාන වූ සේක." යනු ය.***

මෙම ප්‍රකාශය කාන්තාවන් මහත් වියවුලට හා පුදුමයට පත් කරන්නක් විය. ජේසුස් වහන්සේ ගේ පුනරුජ්ජීවනය ප්‍රබන්ධයක් නොව කාන්තාවන් සියැසින් දැක අවබෝධ කරගත් සත්‍යයකි. කාන්තාවෝ තමන් ලද විශ්මිත අත්දැකීම පිළිබඳ ව ජේසුස් වහන්සේගේ ශ්‍රාවකයින් ඇතුළු සෙසු පිරිසට දැනුම් දෙමින් සත්‍යයට සාක්ෂි දැරූහ. මෙම සිද්ධියේ දී දේව දූත පණිවුඩයෙන් ගෙනෙන අභියෝගය වන්නේ "ජීවමාන තැනැන්වහන්සේ මළවුන් අතර සොයන්නේ මන්ද" යන්න ය.

ජේසුස් වහන්සේ උත්ථාන වූ බව ඇසූ ශ්‍රාවක පිරිස ඇතුළු සෙසු ගෝල පිරිස මහත් වියවුලට මෙන් ම ප්‍රීතියට ද පත් වූහ. නමුත් ස්ත්‍රීන්ගෙන් එම පුවත ලත් පේදුරු තුමා සොහොන වෙත දිව ගියේ ඒ පිළිබඳ ව තමා ම විමසා බලා තහවුරු කර ගැනීමට ය. හිස් වූ සොහොන දුටු පේදුරුතුමා එහි සත්‍යතාව පසක් කර ගත්තේ ය.

ජේසුස්වහන්සේගේ පුනරුජ්ජීවනය පිළිබඳ ව විශ්වාසය නොමැති සැම දෙන ම සිදු කරන්නේ ද උන්වහන්සේ මළවුන් අතර සෙවීම ය. සමහර කිතුනුවෝ පවා තම ජීවිත ප්‍රශ්න-ගැටළු ඉදිරියේ ජේසුස් වහන්සේ කෙරෙහි ඉවත් ව වෙනත් විශ්වාස ඔස්සේ දිව

යන්නේ ජේසුස් වහන්සේ ජීවමාන ව අප සමග වැඩ වසන දෙවිඳුන් බවට විශ්වාසයක් නොමැති නිසා ය. මළ නමුත් උත්ථාන වී සදාකාලිකව ම ජීවමානව අප සමග වැඩ සිටින ජේසුස් වහන්සේ කෙරෙහි අප විශ්වාසය තැබිය යුතු වේ. උන්වහන්සේ කෙරෙහි අපගේ ඇදහිල්ල වර්ධනය කර ගත යුතු වේ.

**සොහොන වෙත ගමන් ගත් කාන්තාවන්ට මෙන් ම තවත් අවස්ථාවක දී එම්මාවුස් ගමට යමින් සිටි උන්වහන්සේගේ ශ්‍රාවක පිරිස ඉදිරියේ ද ජේසුස් වහන්සේ ජීවමාන ව ප්‍රකාශ වූ සේක. ඒ පිළිබඳ ව විමසා බලමු.**

**ශු. ලූක් 24 : 13-35**
**එම්මාවුස් ගමන**

ජෙරුසලමේ සිට එම්මාවුස් ගමට ගිය ගෝලයින් දෙදෙන සමීපයෙහි ම, ජේසුස් වහන්සේ ගමන් කළත් ඔවුන්ගේ සිත් පැහැදෙන පරිදි කතා කළත්, ඔවුන්ට ජේසුස් වහන්සේ හඳුනා ගත නොහැකි වූ බව පැහැදිලි ය.

ඉශ්‍රායෙල් මුදාලීමට සිටි එකම තැනැන් වහන්සේ ජේසුස් වහන්සේ බව, ශ්‍රාවක පිරිස ඇතුළු අනෙක් ගෝල පිරිසගේ ඒකායන විශ්වාසය වූ බවත්, ජේසුස් වහන්සේ මරණයට පත්කිරීම නිසා එම බලාපොරොත්තු පිළිබඳ ව ශ්‍රාවකයින්ගේ සිත් බිඳ වැටී ඇති බවත් ක්ලෙයෝපස් ජේසුස් වහන්සේට පැවසී ය.

එවිට ජීවමාන ජේසුස් වහන්සේ මෝසෙස් හා සියළු දිවැසිවරුන්ගෙන් පටන්ගෙන තමන් වහන්සේ පිළිබඳ ව මුළු ශුද්ධ ලියවිල්ලෙහි සඳහන් කරුණු පහදා දුන් සේක. නමුත් උන්වහන්සේ ජේසුස් වහන්සේ ම බව ඔවුන්ට අවබෝධ වූයේ එදින රාත්‍රියේ කෑමට හිඳගත් කල රොටි ගෙන ආශිර්වාදය පවසා ඔවුන්ට දුන් අවස්ථාවේ දී ය. ඒ අන්තිම රාත්‍රී භෝජනයේ දී උන්වහන්සේ රොටි කඩා ඔවුන් සමග බෙදා ගත් ආකාරය සිහිවීමෙන් විය හැකි ය. සැකය වියවුල තුළ ගමන්ගත් ශ්‍රාවකයින් දෙදෙන ජීවමාන ජේසුස් වහන්සේ සියසින් දැක ඇදහිල්ලෙන් යුතුව ක්‍රියා කළහ.

මෙලෙස ජේසුස් වහන්සේ ජීවමාන ව ඔවුන් අතර වැඩ විසීම අත්දුටු මොහොතේ ඔවුන්ගේ හදවත් දැවී ඇවිලී ගිය ආකාරය ඔවුන්ට මෙනෙහි විය. එනම් ඔවුන්ගේ බුද්ධි හීනභාවය හා විශ්වාසය මදිකම පිළිබඳ ව ඔවුන්ට ම දරාගත නොහැකි වූ නමුත් එම මොහොතේ ම ක්‍රියාත්මක වූ ශ්‍රාවකයින් දෙදෙන තම අත්දැකීම පිළිබඳ ව අනෙකුත් ශ්‍රාවක පිරිස ඉදිරියේ ප්‍රකාශ කළේ;

**"ඒකාන්තයෙන්ම සමිඳාණන් වහන්සේ නැගිට සිටින සේක" යනු යි.**

**මෙලෙස ජේසුස් වහන්සේ නිරන්තරයෙන් අප අසලින් ම වැඩ සිටින නමුත්, අප සමග එක් ව ගමන් ගන්නා නමුත්, අපට උන්වහන්සේ හඳුනාගන්නට නොහැකි ව පවතී. ඒ ;**

- ❖ උන්වහන්සේ ජීවමාන බව විශ්වාසය අප තුළ නොමැති හෙයිනි.
- ❖ අප බලාපොරොත්තු වන ස්වරූපයෙන් හෝ බලාපොරොත්තු නොවන අවස්ථාවක උන්වහන්සේ හමුවිය හැකි බැවිනි.

❖ අපගේ ජීවිත සැකය හා වියවුලෙන් යුතු ව පවත්නා බැවිනි

❖ දේව අභිප්‍රායෙන් බැහැර ව අප පාපයට යොමු ව සිටින බැවිනි.

නමුත් අප ජේසුස් වහන්සේ හඳුනාගත් කල්හි අපගේ ජීවිතවල විශාල වෙනසක් අත්දකින්නට ලැබෙනු ඇත. තව ද ජීවිතයේ මුහුණ දෙන වියවුලෙන් යුතු ප්‍රශ්න ගැටළු ඉදිරියේ අවංක සිතින් දේවපිහිට සොයන විට ජීවමාන ජේසුස් වහන්සේ අප සමීපයේ වැඩ සිටීම අත්දකිනු නියත ය. එලෙස ජීවමාන ජේසුස් වහන්සේ අපගේ ජීවිතවල පෞද්ගලික ව අත්දැකීමට නම්, පාපයෙන් මිදී ඇදහිල්ල වර්ධනය කර ගත යුතු වේ. ඇදහිල්ලෙන් ශක්තිමත් වූ කල අප අදහන ජේසුස් වහන්සේ ජීවමාන බවටත් උන්වහන්සේ අප සමග සදාකාලයට ම වැඩවසන බවටත් අප ලබන අත්දැකීම අන් අය ඉදිරියෙ දී සාක්ෂි දැරීම ද අපගේ වගකීම වේ.

**එම්මාවුස් ගමට ගිය ගෝලයින්ට මෙන් ම තවත් අවස්ථාවක දී ශ්‍රාවකයන් ඉදිරියේ ජේසුස් වහන්සේ ම ප්‍රකාශ වෙමින් ඔවුන්ගේ විශ්වාසය හා ඇදහිල්ල ශක්තිමත් කළ අවස්ථාවක් පිළිබඳ ව විමසා බලමු.**

**ශු. ලූක් 24:36:46**

**ශ්‍රාවකයින්ට ප්‍රකාශ වීම**

ජෙරුසලමේ දී ශ්‍රාවකයින් එක්ව කථා කරමින් සිටිය දී, ජීවමාන ජේසුස් වහන්සේ ඔවුන්ගේ ඇස් හමුවෙහි ප්‍රකාශ වූ සේක. උන්වහන්සේ ඔවුන්ට කථා කොට;

***"ඔබ කැලඹී සිටින්නේ මන් ද? ඔබගේ සිත්වල සැක උපදින්නේ මන් ද? මාගේ අත් හා පා බලන්න. වේ මා ම බව තේරුම් ගන්න. මා ස්පර්ශ කොට බලන්න. ඔබට පෙනෙන ලෙස ඇට මස් සහිත සිරුරක් මට ඇතැ***" යි කී සේක."

ජීවමාන ජේසුස් වහන්සේ තම අත්පා අතගා බලා සත්‍යය අවබෝධ කර ගන්නා පිණිස තම ශ්‍රාවකයින්ට අවස්ථාවක් සලසා දුන් සේක. උන්වහන්සේගේ උත්ථානය වඩා ප්‍රත්‍යක්ෂ කිරීමට ඔවුන් ඉදිරියෙහි උන්වහන්සේ ආහාර පවා වැළඳූ සේක. ඒ අනුව උන්වහන්සේ අවතාරයක් නොවන බවත් උන්වහන්සේගේ පුනරුජ්ජීවනය සත්‍යයක් බවත් අවබෝධ කරගැනීමට ශ්‍රාවකයන්ට අවස්ථාවක් සැලසුණි. මෙලෙස මෝසෙස්ගේ ව්‍යවස්ථාවේ ද දිවැසිවරුන්ගේ ලියවිලි ද සම්පූර්ණ කරමින් සියල්ල ඉටු වී ඇති ආකාරය උන්වහන්සේ පහදා දුන් සේක. ඔවුන් ඉදිරියේ උන්වහන්සේ ජීවමාන ව වැඩ විසීම කරණකොටගෙන ශ්‍රාවක පිරිසගේ බිය තුරන් වීමටත්, කැළඹීමට ලක් ව තිබූ සිත් සමනය වී තවදුරටත් ශක්තිමත් වීමටත් උන්වහන්සේ කෙරෙහි නව බලාපොරොත්තු ඇති කරලීමටත් සමත් විය. ජේසුස් වහන්සේ ශ්‍රාවකයන්ට මෙලෙස ජීවමාන ව ප්‍රකාශ වූයේ පුනරුජ්ජීවනයට ඔවුන් සත්‍ය සාක්ෂියක් වනු පිණිසත් එපමණක් නොව ශ්‍රාවකයන් ද අන් අය කෙරෙහි එයට සාක්ෂිකරුවන් කරනු පිණිසත් ය.

මෙලෙස උන්වහන්සේ ශ්‍රාවකයන් ඉදිරියේ ජීවමාන ව ප්‍රකාශ වීමෙන් අනතුරු ව ඔවුන්ට විශේෂ කාරණයකට ආරාධනා කළ සේක.

**"ජෙරුසලමෙන් පටන් ගෙන සකල ලෝක වාසීන්ට පසුතැවී සිත් හරවා ගැනීම ද පව් කමාව ද උන්වහන්සේගේ නාමයෙන් ප්‍රකාශ කරනු ලබන්නට ද යුතු ම යයි ලියා ඇත. ඔබ මේ දේවලට සාක්ෂි කාරයෝ වන්නාහු ය."**

## ජේසුස් වහන්සේගේ මෙම ආරාධනාව පිළිගෙන . . . .

- ජේසුස් වහන්සේ ජීවමාන බව ප්‍රථමයෙන් අත්දුටු කාන්තාවන් එම ශුභාරංචිය පිළිබඳව ශ්‍රාවකයන් ඉදිරියේ සාක්ෂි දැරූහ
- එම්මාවුස් ගමට ගිය ශ්‍රාවකයින් දෙදෙන ජේසුස් වහන්සේගේ අනෙක් ශ්‍රාවකයින් ඉදිරියේ තමන් අත්දුටු දේ පිළිබඳව සාක්ෂි දැරූහ
- ජේසුස් වහන්සේ ගේ ශ්‍රාවකයන් හා අනුගාමික පිරිස ජේසුස් වහන්සේගේ ජීවමාන ව වැඩ විසීම පිළිබඳ ව සකල ලෝක වාසීන් වෙත ගොස් සාක්ෂි දැරූහ. (පාවුල් තුමා/පේදුරුතුමා ඇතුළු බොහෝ අය.)

## එලෙස ජේසුස් වහන්සේ ඔබට ද මෙම ආරාධනාව කරන බව සිතන්න.

- ❖ එවිට උන්වහන්සේගේ ජීවමාන බව පිළිබඳ ව දැරීමට ඔබට ඇති අත්දැකීම් හා සාක්ෂි සිහිපත් කරන්න
- ❖ ඒවා අන් අය හා බෙදා ගනිමින් ඔවුන් ද ජේසුස් වහන්සේගේ ජීවමාන බව තුළ ශක්තිමත් කිරීම, ඔබේ ද වගකීමක් ලෙස සලකන්න.

ක්‍රියාකාරකම

හිස් වූ සොහොන, සිදුරු වූ අත්පා යන සත්‍ය අත්දැකීම් තුළ එදා ස්ත්‍රීන් හා ශ්‍රාවකයන් ජේසුස් වහන්සේගේ ජීවමාන බව අත්දුටහ.

1. ජේසුස් වහන්සේගේ ජීවමාන බව අත්දැකීමට අප හට පවත්නා බාධා කවරේ ද?
2. උන්වහන්සේගේ ජීවමාන බව අත්දැකීමට අප ජීවිත වල පවත්වා ගත යුතු ගුණාංග මොනවා ද?
3. උන්වහන්සේගේ ජීවමාන බව අත්දකින කල, එය අන් අය සමග බෙදා ගැනීමට අපට කළ හැකි දෙය පහදන්න.

# 17. ශුද්ධාත්ම අනුහසට විවෘත වෙමු

**ශුද්ධ බව්තීස්ම ස්නාපනය සියලු ම කිතුනු අනුගාමිකයන්ට උතුම් ආගමික පිළිවෙතකි. වර්තමානයේ ශුද්ධ සභාව තුළ සිදු කෙරෙන මෙම පිළිවෙත, බාහිර සංකේතයක් වුව ද වේ මගින් ශුද්ධාත්මයාණන්ගේ වැඩ සිටීම ගෞරවාන්විත ව පිළිගනු ලැබේ. කිතුනු නිකායයන්, බිළිඳු, තරුණ, වැඩිහිටි වයස් සීමාවන්හි බෞතීස්ම ස්නාපනය පිළිගන්වන අතර, එමගින් කිතුනු අනුගාමිකත්වය තහවුරු කෙරේ. කිතුනුවා බෞතීස්ම ස්නාපනය තුළ ශුද්ධාත්මයාණන් වහන්සේ වැඩ සිටීම හේතුකොටගෙන දිරිය හා සවිය ලබමින්, තම ජීවිතයේ නවතාවයක් අත්දකියි. අප දැන් යොමු වන්නේ ජේසුස් වහන්සේ බෞතීස්මය ලත් අවස්ථාවන්ටය. එම සිද්ධිය වටහාගෙන, ශුද්ධාත්මයාණන් වහන්සේ තුළින් අප ජීවිතයට නවතාවයක් අත්දැකීමට මග පෙන්වීම් සොයමු.**

**ශු. ලූක් 3: 21-22**

ජේසුස් වහන්සේගේ කාලයට පෙර ජුදෙව් ජනතාව අතර ද බෞතීස්ම පිළිවෙත පැවතුණි. එහෙත් එය ජලයෙන් දෝවනය වී පිරිසිදු වීමේ බාහිර සංකේතයකට පමණක් සීමා විය. ස්නාවක ජොහාන් තුමා මෙයට නව අරුතක් දෙමින් ජනතාව කැඳවනු ලැබුයේ පසුතැවිලි වී ජොර්දාන් ගංගාවෙහි බෞතීස්මය ලැබීමට ය. පෙර පාඩමින් ඔබ හැදෑරූ පරිදි ස්නාවක ජොහාන්ගේ කාර්ය වූයේ තමාට පසු ව පැමිණෙන්නට සිටින තැනැන්වහන්සේ පිළිගැනීමට ජනතාවගේ සිත් සතන් පවිත්‍ර කිරීම ය. ඒ සඳහා ඔවුන්ගේ පාපි ක්‍රියාවලින් ඉවත් වීමට ආරාධනා කළේ ය.

ස්නාවක ජොහාන් තුමා ජනතාව දැනුවත් කළේ තමා වතුරෙන් බෞතීස්ම කළ ද තමාට පසු ව පැමිණීමට සිටින ක්‍රිස්තුස් වහන්සේ ශුද්ධාත්මයාණන් හා ගින්නෙන් ජනතාව බෞතීස්ම කරන බව ය. 'ගින්න' දේව අභිමුඛත්වය හා බලයත් පාපයෙන් දවාලා පිරිසිදු වීමත් සඳහා යෙදෙන සංකේතයකි. ශුද්ධාත්මයාණන් වහන්සේ නව ජීවිත පැවැත්මකට ආලෝකය, ධෛර්යය හා ශක්තියෙන් ද කිතුනුවා සන්නද්ධ කරන බව ය. ශුද්ධාත්මය බෞතීස්මයේ දී අපට දායාද වන දේව වරප්‍රසාදයකි. ඉන් ලැබෙන පන්නරය තුළින් දේව රාජ්‍යයේ පුරවැසියන් ලෙස නිර්භීත ව සාක්ෂි දැරීමට අපට මඟ පෙන්වීම ලැබේ.

මනස්ථාපිත ජනතාව ජොර්දාන් ගංගාවෙහි ස්නාවක ජොහාන් අතින් බෞතීස්ම ලබමින් සිටින අවස්ථාවේ ජේසුස් වහන්සේ ද එහි වැඩම කළ සේක. මනස්ථාපනය වීමට උන්වහන්සේට අවශ්‍යතාවයක් නොවුවද, මෙම බෞතීස්මයට සම්බන්ධ වූයේ මන්දැයි ඔබ මීට පෙර ඉගෙනගෙන ඇත.

ජේසුස් වහන්සේ නිහතමානී ව සිය ඥාති සොහොයුරා වූ ස්නාවක ජොහාන්ගෙන් බෞතීස්ම ලැබීම සේවය ආරම්භයේ ම දැක්වූ උතුම් ආදර්ශයකි. මතෙව්, මාක්, ලූක් යන ශුභාරංචි තුනෙහි ම උන්වහන්සේගේ බෞතීස්මය ගැන සඳහන් වේ. (ශු. ලූක් 3: 21) - තව ද මුළු සෙනග බෞතීස්ම ස්නාපනය ලැබූ විට ජේසුස් වහන්සේ ද බෞතීස්ම ස්නාපනය ලබා යාච්ඤා කරමින් සිටිය දී ශුද්ධාත්මයාණන් වහන්සේ පරවියකුගේ රූපාකාරයෙන් උන්වහන්සේ කෙරෙහි පහළ වූ සේක.

**මෙම පාඨය තුළින් අපට පහත සඳහන් කරුණු වටහාගත හැකි ය.**

❊ ජේසුස් වහන්සේ තම දූත සේවයට නික්ම ආ සේක. ඒ සඳහා උන්වහන්සේ ගලීලයේ නාසරෙත් සිට ජුදයේ ජොර්දාන් ගංතෙරට පැමිණි සේක

❊ ස්නාවක ජොහාන් තුමාගේ පෙරමග දූත සේවය අනුමත කිරීම

❊ මනස්ථාපිත මුළු සෙනග සමග එක් වී ජේසුස් වහන්සේ බෞතීස්ම ස්නාපනය ලැබීම. ඉන් උන්වහන්සේගේ බැහැපත්, නිහතමානී ගුණාංගය ප්‍රකාශ වේ.

❊ ස්නාවක ජොහාන් තුමාගේ සේවය හා තමන් වහන්සේගේ සේවයේ ඇති සබඳතාවය ප්‍රකාශ කරයි

❊ ප්‍රාතිහාර්යයන් සිදුවීම

❊ ස්වර්ගය විවර වීම

❊ ශුද්ධාත්මයාණන් පරෙවියකුගේ ස්වරූපයෙන් පහළ වීම

❊ දේව ප්‍රකාශය

❊ ජේසුස් වහන්සේ බෞතීස්මය ලැබ යාච්ඤාවේ යෙදීම
මින් ශුද්ධ බෞතීස්මය ලත් කිතුනු අපට සිහිපත් කර දෙන්නේ යාච්ඤාව තුළින් දේව සබඳතාවය වර්ධනය කර ගැනීමේ අවශ්‍යතාවය යි.

❊ ඒ මොහොතේ දී ශුද්ධාත්මයාණන් වහන්සේ පහළ වීම.

❊ අප ජීවිත තුළ ශුද්ධාත්මයාණන් වහන්සේගේ වැඩ සිටීම

❊ ජලය බාහිර ජීවිතය පවිත්‍ර කරන අතර ශුද්ධාත්මයාණන් වහන්සේ අපගේ අභ්‍යන්තරය පවිත්‍ර කරමින්, මුලු ජීවිත පැවැත්ම ආලෝකවත් කරන සේක. ස්නාවක ජොහාන් තුමා තමා වෙත පැමිණි ජනතාවට ඒ බව දැනුවත් කර තිබුණි. ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ කරනු ලබන බෞතීස්ම ස්නාපනය ලත් සියල්ලෝම, නව ජීවිත පැවැත්මකින් සන්නද්ධ ව, ආලෝකයට නිර්භීත ව, ධෛර්යවත් ව සාක්ෂි දරති.

**මෙනෙහි කරන්න**

**ඔබ සියල්ලෝ ම ක්‍රිස්තුස් වහන්සේ තුළ ඇදහිල්ල කරණකොටගෙන දෙවියන් වහන්සේගේ පුත්‍රයෝ ය. ඔබ අතරෙන් ක්‍රිස්තුස් වහන්සේගේ නාමයට බෞතීස්ම ස්නාපනය කරනු ලැබූ සියල්ලෝ ක්‍රිස්තුස් වහන්සේගේ ජීවිතයෙන් සැරසී සිටිති.**

**ගලාති 3: 26-27**

**සිතා බලන්න**

ශුද්ධාත්ම බෞතීස්මය ලත් කිතුණු දරුවකු ලෙස, ශුද්ධාත්මයාණන් ඔබ තුළ වැඩ සිටින බව විශ්වාස කරමින්, උන්වහන්සේගේ ආලෝකයන් දැල්වෙන යහපත් ජීවිත පැවැත්මකින්, ඔබ අවට සිටින සැමට දිලෙන තරුවක් වන්න.

ක්‍රියාකාරකම

1. ජේසුස්වහන්සේගේ බෞතීස්ම අවස්ථාවේ දෙවියන් වහන්සේ පවසන ලද වදන්, අන්වෙසක් වූ අවස්ථාවේ ප්‍රකාශ කරන ලද වදන් හා සසඳන්න.

2. 'ශුද්ධාත්මයාණන්' හා ගින්න දේව සංකේත ලෙස බයිබලයේ ඉදිරිපත් කර ඇති තවත් අවස්ථා සොයා බලන්න.

3. බෞතීස්මයේ දී ශුද්ධාත්මයාණන් වහන්සේගෙන් පූර්ණ වූ කිතුනු ඔබ, ඊට සරිලන අයුරින් ක්‍රියා කරන්නේ කෙසේ ද ?

# 18. පරීක්ෂාවන් ජය ගනිමු

**ශු. ලූක් 4 : 1-13**

කිතුනු දරුවකු ඉරුදින දේව නමස්කාරයට යන්නට සූදානම් වෙමින් සිටිය දී දුරකථන ඇමතුමක් ලැබුණි. ඒ ඔහුගේ මිතුරකුගෙන් ලද ආරාධනයකි. එදින විනෝද ගමනකට සහභාගි වී ප්‍රීති ප්‍රමෝද වීමට ඉතා ම ආකර්ෂණීය ඇරයුමකි. දැන් ඔහු ඉදිරියේ තිබුණේ ප්‍රබල පරීක්ෂාවකි. ඔහුට එකවර මතක් වූයේ පාසලේ දී ඉගෙන ගත් පාඩම ය. ජේසුස් වහන්සේ පරීක්ෂා ඉදිරියෙහි දේව වචනය අනුව ක්‍රියා කළ ආකාරය තදින් ම හිතට කා වැදී එකවර ම තීරණය කළේ ඉරුදින කළ යුතු යහපත කරන්නට ය.

අපගේ ජීවිත කාලය තුළ දී මුහුණ දෙන පරීක්ෂා, ඉදිරිපත් කරන්නේ සුන්දර යෝජනා ය. එවැනි අවස්ථා ඔබට මතක් වෙනවා ඇත. ක්‍රීඩා පිටියේ දී පාසලේ වාර විභාගවල දී පරීක්ෂා මගින් පෙළඹවීම් ඇති වේ. යොවුන් වියේ පසුවන ඔබ මුහුණ දෙන පරීක්ෂාවන් වෙනස් බව වැටහෙනවා ඇත. ආනාගතයේ රැකියාවේ යෙදෙන අවස්ථාවේ ද විවිධ පරීක්ෂාවන්ට මුහුණ දීමට සිදු වේ. ජීවිතයේ කුමන අවධියක වුව ද පරීක්ෂා විවිධ ස්වරූපවලින් අප හමුවට එන බව ද දත යුතු වේ. ඒවා ඉදිරියෙහි යහපත් ලෙස ක්‍රියා කිරීමට උත්සහා දරන අවස්ථාවල දී සාතන් යෝජනා කරන්නේ පහසු මාර්ගය තෝරා ගැනීමට ය. එවැනි අයහපත් මගකට යොමු වීමේ දී අපි පරීක්ෂා ඉදිරියෙහි පරාජිත වෙමු.

ජේසුස් වහන්සේ ජෝර්දාන් ගංගාවෙහි බෞතිස්මය ලබා ශුද්ධාත්මයෙන් පූර්ණ ව පාළුකරයට පිවිස දින සතළිහක් තුළ නිරාහාර ව සේවයට සූදානම් විය. ඒ බව ශුභාරංචි පොත්වල වාර්තාවේ. ජනතාව උදෙසා යහපත් සේවයක් දියත් කිරීමට එළඹ සිටි අවස්ථාවේ, ඒ සඳහා පහසු මාර්ගය යක්ෂයා විසින් යෝජනා කෙරුණි.

**ජේසුස් වහන්සේට පැමිණි පරීක්ෂා**
**ශු. ලූක් 4 : 1-13**

## පළමු පරීක්ෂාව ශු. ලූක් 4:3

නිරාහාර ව පාළුකරයේ ගත කළ කාලය තුළ මනුෂ්‍යයකු වූ ජේසුස් වහන්සේට බඩගිනි ඇති විය. යක්ෂයා එම අවස්ථාව යොදවා ගත්තේ ආහාර සැපයීම මගින් ජනතාව දිනා ගැනීමට ය. කාන්තාර ප්‍රදේශයක් වූ එම පරිසරයේ සුළංවලින් මට්ටම් වූ සුදු පැහැති රවුම් ගල් තිබුණි. ඒවා පාන් බවට පරිවර්තනය කර ජනතාවගේ ශාරීරික පෝෂණය සඳහා යොදා ගැනීමට යෝජනා කිරීම සූක්ෂම පරීක්ෂාවකි. මින් ජේසුස් වහන්සේගේ දේව පුත්‍ර භාවයට අභියෝගයක් ද ඉදිරිපත් කෙරිණි. මෙහිදී උන්වහන්සේට පොර බැදීමට සිදු වූයේ තම සුව පහසුව සහ ජනතාවගේ ශාරීරික පෝෂණය සඳහා පමණක් දේව බලය යොදා ගැනීම ද නැතහොත් ඔවුන්ගේ ආත්මික පෝෂණය උදෙසා වැය වීම ද යන්න ය. ශුද්ධ ලියවිලි මැනවින් දැන සිටි ජේසුස් වහන්සේ එම පරීක්ෂාව ජය ගැනීමට ශුද්ධ ලියවිලි උපයෝගී කර ගත් සේක. .

## පිළිතුර

"මිනිසා ජීවත් වන්නේ කෑමෙන් පමණක් නොව, දෙවියන් වහන්සේගේ මුවින් නික්මෙන සියළු වචන වලින් ය." යන ද්විතීය නීති සංග්‍රහයේ 8:3 පදය මගින් යක්ෂයාට ප්‍රතිචාර දක්වා අභියෝග ජය ගත් සේක. මිනිස් දිවි මග තුල හුදෙක් ශාරීරික පෝෂණය පමණක් නොව. ආත්මික පෝෂණය ද අත්‍යවශ්‍ය බව මෙයින් අනාවරණය කළ සේක.

**දේව රාජ්‍යයේ පුරවැසියන් තම ශාරීරික පෝෂණය උදෙසා කටයුතු කරන අතර ඊටත් වඩා ආත්මික පෝෂණය ලබා ගැනීමට දිරි දැරිය යුතු වේ.**

**දෙවන පරීක්ෂාව ශු. ලූක් 4:57**

ශු. ලූක් 4:6--7 අනුව යක්ෂයා උන්වහන්සේ උස් තැනකට පමුණුවා ඉදිරිපත් කළ පරීක්ෂාවකි. "මේවා කෙරෙහි මුළු ආධිපත්‍යය ද ඒවායේ යස ඉසුරු ද ඔබට දෙන්නෙමි. ඒවා මට පවරා දී ඇති හෙයින් මා කැමති කෙනෙකුට ඒවා දෙමි. එබැවින් ඔබ මා ඉදිරියෙහි නමස්කාර කරන්නෙහි නම් ඒ සියල්ල ඔබ සන්තක වන්නේ යයි කීය.

මෙම පරීක්ෂාවෙන් යක්ෂයාට හිමි ලෝකයේ, රාජ්‍යයන්, බලය, යස ඉසුරු ජේසුස් වහන්සේට පවරා දීමට කොන්දේසිය වූයේ යක්ෂයාට නමස්කාර කිරීම ය. ඒ මගින් නපුරේ බලවේගයන්ට කීකරු වී ලෞකික රාජ්‍යයක් පිහිටුවා ගැනීමට ඉදිරිපත් කළ අභියෝගයකි.

එහෙත් ජේසුස් වහන්සේ මිහිපිට වැඩියේ ලෞකික රාජ්‍යයක් පිහිටුවීමට නොව, දේව රාජ්‍යය ගොඩනැගීමට ය. දේව ආධිපත්‍යය ස්ථාපිත කිරීමට ය. දේව රාජ්‍යයේ වටිනාකම් ඔස්සේ දෙවියන් වහන්සේට ගරුබිය ඇති ජනතාවක් ගොඩ නැංවීමට ය.

## පිළිතුර

ජේසුස් වහන්සේ දේව වචනය මගින් පිළිතුරු දෙමින් "නුඹේ දෙවි වන ස්වාමින් වහන්සේට පමණක් නමස්කාර කරන්න. උන්වහන්සේට පමණක් සේවය කරන්න" යනුවෙන් කී සේක. ද්විතීය නීති සංග්‍රහයේ 6:13 පදයේ මෙය සඳහන් වේ.

**ධනය, බලය, කීර්තිය, ලෞකිකත්වය වැනි දැයට මුල් තැන දෙන සමාජයක වෙසෙන කිතුනු අපට ජේසුස් වහන්සේ දුන් පිළිතුර පැහැදිලි ය. එනම් දෙවියන් වහන්සේට සියළු ම කටයුතුවල දී මුල් තැන දිය යුතු බව ය. උන්වහන්සේට දේව ගරුබිය පාමින් ජීවත් විය යුතු බව ය. දේව රාජ්‍යයේ ගුණධර්ම අනුව දෙව්වූ ස්වාමින් වහන්සේට පමණක් නමස්කාර කිරීමට කීකරු ව බැහැපත් වීම ය.**

## තෙවන පරීක්ෂාව ශු. ලූක් 4:9-11

මෙම තෙවන පරීක්ෂාව මගින් ජේසුස් වහන්සේ මුහුණ දුන්නේ ආශ්චර්යයක් මගින් ජනතාව දිනා ගැනීමේ අභියෝගයකට ය. එනම් දේව මාලිගයේ කොත මුදුනින් පැන වීර ක්‍රියාවක් කිරීමට ය. මේ සඳහා යක්ෂයා ජේසුස් වහන්සේ පෙළඹවීමට ශුද්ධ ලියවිලි පාඨයක් යොදා ගත්තේය. "ඔබ ගන්නා සෑම පියවරක දී ඔබ රක්නා පිණිස

එතුමාණෝ සිය දූතයන්ට අණ දෙන සේක" ගීතාවලිය 91:11--12 පදය. "ඔබ දෙපා ගල්වල නොහැප්පෙන පිණිස ඔවුහු සියතින් ඔබ උසුලා ගන්නෝ ය" යන්න ය. යක්ෂයා පරීක්ෂා ඉදිරිපත් කිරීමේ දී ශුද්ධ ලියවිලි ද උපකරණයක් කරගත් බව මෙයින් පැහැදිලි වේ. සමහර අවස්ථාවල දී අප ද මෙවන් අදහස් මගින් පරීක්ෂාවන්ට ගොදුරු විය හැකි ය. යක්ෂයා සැකයේ බීජයක් ජනිත කරන්නට මෙම පාඨය යොදා ගත්තේ ය. ජේසුස් වහන්සේ කුරුසි පත් වූ අවස්ථාවේ ද මෙවැනි අභියෝගයක් ඉදිරිපත් විය

## පිළිතුර

ජේසුස් වහන්සේ එම පරීක්ෂා ප්‍රතික්ෂේප කරමින් දුන් පිළිතුර වූයේ"නුඹේ දෙවි වන ස්වාමින්වහන්සේ පරීක්ෂා නොකරන්න". ද්විතීය කථාව ... ද්විඃනීති සංග්‍රහයේ 6:16 අනුව දෙවියන් වහන්සේ කෙරෙහි පමණක් පූර්ණ විශ්වාසය තබමින් ජේසුස් වහන්සේ මෙම තෙවන පරීක්ෂාව ද ජයගත් බව පෙනී යයි. කුරුසිපත්ව සිටි අවස්ථාවේ දී පවා ජේසුස් වහන්සේ මෙවැනි පරීක්ෂාවක් මගින් ආශ්චර්යයක් කිරීමට අභියෝගයක් එල්ල විය. උන්වහන්සේ සමග කුරුසිපත්ව සිටි වරදකරුවෙක් මෙසේ අභියෝග කළේ ය.(ශු. ලූක් 23:39) ඔබ ක්‍රිස්තුස් නොවේ ද? ඔබවත් ගලවා ගෙන අපත් ගලවා ගන්න" කීමෙනි.

පරීක්ෂා ඉදිරියේ ජේසුස් වහන්සේ නිර්භීත ව ශුද්ධ ලියවිලි උපයෝගී කරගෙන යක්ෂයාගේ යෝජනා ප්‍රතික්ෂේප කළ සේක. ජේසුස් වහන්සේ දේව කැමැත්තට අවනත වී කුරුසියේ මාර්ගය තෝරා ගත් සේක.

### සිතා බලමු

**ජේසුස් වහන්සේ වැඩියේ දේව රාජ්‍යය ගොඩ නැංවීමට ය. එහෙත් යක්ෂයාගේ අභිමතය වූයේ ලෞකික රාජ්‍යය මිහිපිට ස්ථාපිත කිරීමට ජේසුස් වහන්සේ පොළඹවා ගැනීමට ය. නපුරු බලවේග අභිබවා ජය ගැනීමට උන්වහන්සේගේ ප්‍රතිචාරය බලවත් ය.**

**අප ජීවිත ගමනේ දී විවිධ අවස්ථාවල පරීක්ෂාවලට මුහුණ දීමට සිදු වේ. කිතුනු අනුගාමික අප ද ශුද්ධාත්මයාණන් වහන්සේගේ මග පෙන්වීම සෙවිය යුතු වේ. දේව වචනය නිසි ලෙස අවබෝධ කරගෙන ඒවා තුළ දේව මගපෙන්වීම සොයා ගැනීමට උත්සාහ කළ යුතු වේ. දේව රාජ්‍යයේ දරුවකු ලෙස පරීක්ෂා ඉදිරියේ දේව කැමැත්තට යටත් වීමට ඉගෙන ගත යුතු වේ.**

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ පරික්ෂා ජය ගත්තා සේ ඔබට ද පරික්ෂාවලට මුහුණ දීමට සිදුවන අවස්ථාවන්හි දී ඉන් ජය ගැනීමට පෝෂණය ලබා ගත හැකි මාර්ග 3ක් ලියා දක්වන්න.

2 දස පනතෙහි සඳහන් ආඥාවක් දෙවන පරීක්ෂාව හා සංසන්දනය කරන්න.

# 19. නිවැරදි දැක්ම තුළින් ජීවිත නවෝදය

**ජේසුස් වහන්සේ මිහිපිට සේවය ආරම්භ කිරීමට පෙර, පැහැදිලි අවබෝධයක් ලැබ, පියවර ගත් ආකාරය පසුගිය පාඩමෙන් අපි වටහා ගතිමු. උන්වහන්සේගේ සේවා කාලය පුරාම දුන්නා වූ අනුශාසනා, කළ දේශනා, සිදුකළ දැ හොඳාකාරව අත්දුටුවේ උන්වහන්සේ විසින්ම කැඳවා පුහුණු කළ ප්‍රේරිත කණ්ඩායම ය. ස්වකීය මෙහෙය නිමා වීමට ආසන්නව තමන්වහන්සේ පිළිබඳ ව නිවැරදි අවබෝධයක් ශ්‍රාවකයන් තුළ තහවුරු කිරීමට අවස්ථාව එළඹ තිබුණි. එම අවස්ථාව හා සම්බන්ධ සිද්ධිය මෙම පාඩම තුළින් අවබෝධ කර ගැනීමට දැන් යොමු වෙමු.**

ශු. ලූක් 9: 28-36

ජුදෙව් සමාජය තුළ දේව රාජ්‍යය ගොඩ නැගීමේ කාර්යය ජේසුස් වහන්සේ දියත් කළ විට උන්වහන්සේ පිළිබඳ විවිධ අදහස් ප්‍රචලිත විය. එවිට ජේසුස් වහන්සේ තම ශ්‍රාවකයන්ගෙන් විමසුවේ උන්වහන්සේ කවුරු ද කියා ඔවුන් සිතන්නේ ද යනුවෙනි. ශ්‍රාවකයන් වෙනුවෙන් සීමොන් පේදුරු කළ මහා ප්‍රකාශය (ශු. ලූක් 9: 18--20) කියවා බලන්න.

ගලීලයේ මුහුදේ ඇති වූ කුණාටුව ජේසුස් වහන්සේ සංසිඳ වූ අවස්ථාවේ එය අත්දුටු ශ්‍රාවකයන් මවිතයට පත් ව උන්වහන්සේ කව්දැයි යන ප්‍රශ්නය මතුවිය. ජේසුස් වහන්සේ යාච්ඤාව හා භාවනාව සඳහා නිතර වැඩම කළේ නිසල පරිසරයකට ය. දිනක් උන්වහන්සේ පේදුරු, ජාකොබ් හා ජොහාන් සමග යාච්ඤා කරන පිණිස කන්දකට නැගුණු සේක. එම ස්ථානයේ සිදු වූ දේ කියවා බලමු.

**ශු. ලූක් 9: 28-36**
**රූප විපර්යාසය/අන්වෙසක් වීම**

මෙය අපගේ ජේසුස් වහන්සේගේ ජීවිතයේ ඉතා වැදගත් සිද්ධියකි. සත්‍යතාවයේ ආලෝකයාණන් අනාවරණය වූ අවස්ථාවකි. මූලික ශ්‍රාවකයන් තිදෙන දර්ශනය කළ ජීවමාන අත්දැකීමකි. ජේසුස් වහන්සේ උත්ථානය හා ස්වර්ගාරෝහණයෙන් පසු ශ්‍රාවකයන්ගේ සාක්ෂි දැරීමේ පදනම වූයේ මෙමම අත්දැකීම ය.

**මෙම අවස්ථාවේ අනාවරණය වූ විශේෂ සිද්ධිය වෙත යොමු වෙමු.**

| | |
|---|---|
| ❊ ජේසුස් වහන්සේ කන්දකට නැග යාච්ඤාවේ යෙදී සිටිය දී | උන්වහන්සේගේ මුහුණවර වෙනස් විය |
| ❊ ජේසුස් වහන්සේගේ වස්ත්‍ර | ධවල කාන්තියෙන් බැබලිණි. |
| ❊ ජේසුස් වහන්සේගේ දෙපස | මෝසෙස් සහ එළියා තේජශ්‍රීයෙන් වැඩ සිටියහ |
| ❊ මෝසෙස් හා එලියා ජේසුස් වහන්සේ සමග කළ සාකච්ඡාව | ජෙරුසලමේ දී ජේසුස් වහන්සේ විසින් ඉටු කිරීමට නියමිත ජීවිත පූජාව ගැන වේ |
| ❊ නිදිබර ව සිටි ශ්‍රාවකයන් තිදෙනා අවදි වීම | ජේසුස් වහන්සේගේ තේජශ්‍රීය ද, මෝසෙස් හා එළියා උන්වහන්සේ සමග වැඩ උන් ආකාරය සියැසින් ම දුටහ |
| ❊ මෝසෙස් හා එලියා දර්ශනය වීමේ පරමාර්ථය | ව්‍යවස්ථාවත් අනාගත වාක්‍යයත් ක්‍රිස්තුස් වහන්සේ තුළ සම්පූර්ණ වූ බව අනාවරණය වීම |
| ❊ ශ්‍රාවකයන් තිදෙන දේව ප්‍රකාශය ශ්‍රවණය කිරීම | නිවැරදි අවබෝධය. |

ජේසුස් වහන්සේගේ මුහුණු වර වෙනස්වීම, වස්ත්‍ර ධවල කාන්තියෙන් බැබලීම, උන්වහන්සේගේ තේජශ්‍රීය ප්‍රකාශිත සංකේතයන් ලෙස තේරුම් ගත හැක.

එලියා, දිවැසිවරයන් අතර ප්‍රධානියා ලෙස සංකේතවත් විය. මෝසෙස් ව්‍යවස්ථාවලිය පිළිබඳ ප්‍රධානියා ලෙස ජුදෙව්වන්ගේ පිළිගැනීම විය. එහෙයින් මෙම අවස්ථාව ව්‍යවස්ථාව හා දිවැසාවලිය සම්පූර්ණ වීම ජේසුස් වහන්සේ තුළින් සිදුවිය යුතු බව ශ්‍රාවකයන්ට ප්‍රකාශ විය. මොවුන් දෙදෙනා ජේසුස් වහන්සේ සමග කථා කරමින් සිටියේ උන්වහන්සේ ජෙරුසලමේ ඉටු කරන්නට යන ජීවිත පූජාව ගැන ය.

වලාපටලය ශු බයිබලයේ නිතර සංකේතවත් කෙරෙන්නේ දේව අභිමුඛත්වය යි. එහෙයින් ශ්‍රාවකයන්ට ජේසුස් වහන්සේ ගේ දේවත්වය වටහා ගැනීමට අවස්ථාව ලැබුණි.

දෙවියන් වහන්සේගේ හඬ මගින් මෙය තවදුරටත් තහවුරු වූ සේක. "මේ මාගේ පුත්‍රයාණෝ ය. මේ මා තෝරාගත් තැනැත්තාණෝ ය. මොහුට සවන් දෙන්න" ශ්‍රාවකයන්ට මෙම සත්‍ය ප්‍රකාශය මගින් ජේසුස් වහන්සේ දේව පුත්‍රයාණන් බව තහවුරු විය.

රූප විපර්යාසයේ තේජශ්‍රීය අත්දුටු ශ්‍රාවකයන් තිදෙනාට අවශ්‍ය වූයේ මණ්ඩප තුනක් තනා කඳු මුදුනේ රැඳී සිටීමට ය. එහෙත් ජේසුස් වහන්සේ ඔවුනට අවධාරණය

කළේ තමන් වහන්සේගේ මෙලොව සේවය සම්පූර්ණ වීමට ජෙරුසලමට යා යුතු බව යි. මනුෂ්‍යයාගේ පාපය උදෙසා දිවි පුද කළ යුතු බව යි. අනාගතයේ දී සිදුවන්නට නියමිත උන්වහන්සේගේ ජීවිත පූජාව ස්ථිර කළේ මෙම සිද්ධියෙනි. මෙම සිද්ධිය ශු. ලියවිලි තුළ කියවීමෙන් ක්‍රිස්තුස් වහන්සේ පිළිබඳ නිවැරදි අවබෝධයක් ලබා ගැනීමට මග පෙන්වීමකට අප යොමු වේ.

ජේසුස් ක්‍රිස්තුස් වහන්සේ පිළිබඳ ශ්‍රාවකයන් ලත් අත්දැකීම සත්‍ය ආනාවරණයකි. උන්වහන්සේ ආලෝකපලත් මෙසියස් වරයාණෝ ය. උන්වහන්සේ අපගේ ගැලවුම්කරුවාණෝය. ඇදහිල්ලෙන් උන්වහන්සේ අදහා ගැනීමට අප බැහැපත් විය යුතු වේ. ජීවමාන ජේසුස් වහන්සේ පිළිබඳ නිවැරදි දැක්ම තුළ අපගේ ජීවිත ආලෝකවත් වේ. එවිට උන්වහන්සේගේ අනුගාමිකයන් ලෙස ලොවට ආදර්ශයක් විය හැකි ය.

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ කන්ද මත යාච්ඤාවේ යෙදී සිටිය දී ශ්‍රාවකයන් තිදෙනා දුටු රූප විපර්යාසය කෙටියෙන් ලියන්න.

2. ශ්‍රාවකයන් ලත් නිවැරදි අවබෝධය අනුව ජේසුස් වහන්සේ පිළිබඳ ව ඔබගේ විශ්වාසය කුමක් ද ?

# 20. දේව රාජ්‍යයේ වර්ධනය

කිතුනු අපගේ ජීවිතවල මූලික අරමුණ විය යුත්තේ දේව රාජ්‍යය උරුම කර ගැනීම යි. දේව රාජ්‍යයේ ස්වභාවය හා එහි වටිනාකම් ද එහි පුරවැසිභාවය ලැබීම සඳහා මෙලොව ජීවිතයේ දී අප විසින් කෙසේ කටයුතු කළ යුතු ද ? කැපවිය යුතු ද ? යන්න පිළිබඳව ද ජේසුස් වහන්සේ විසින් තම ඉගැන්වීම් මගින් අවධාරණය කළ සේක. දේව රාජ්‍යයේ පුරවැසිභාවය උරුමකර ගැනීම උදෙසා අප විසින් කෙසේ ක්‍රියා කළ යුතු ද යන්න පිළිබඳ ව ජේසුස් වහන්සේ විසින් ඉදිරිපත් කරන ලද මගපෙන්වීම් ඉදිරි පාඩම් මගින් සලකා බැලේ.

ශු. ලූක් 13: 18-21, 8: 4-15

ජේසුස් වහන්සේගේ දේශනාවල මූලික හරය වූ 'දේව රාජ්‍යය' පිළිබඳ ව සුබසුන්වල විවිධ ස්ථානයන් හි මෙලෙස සඳහන් වේ.

උන්වහන්සේගේ රාජ්‍යයට
කෙළවරක් නොවන්නේ ය.
ශු. ලූක් 1: 33

මා වෙනත් නුවරවල ද දෙවියන් වහන්සේගේ රාජ්‍යය පිළිබඳ
සුබ අස්න දේශනා කළ යුතු ය.
මා එවන ලද්දේ ඒ සඳහා ය.
ශු. ලූක් 4: 43

දෙවියන් වහන්සේගේ රාජ්‍යය ප්‍රකාශ කරන පිණිසත්
රෝගීන් සුව කරන පිණිසත්
ඔවුන් යැවූ සේක.
ශු. ලූක් 9: 2

උන්වහන්සේ ඔවුන් පිළිගෙන,
දෙවියන් වහන්සේගේ රාජ්‍යය ගැන ඔවුන්ට වදාරා
සුවය අවශ්‍ය වූ අය සුව කළ සේක.
ශු. ලූක් 9: 11

දේව රාජ්‍යය යන්නෙහි රාජ්‍යයක් යන සංකල්පය ගැබ්ව ඇත. ලෞකික රාජ්‍යයක් තුළ පහත ලක්ෂණ විද්‍යාමාන වේ.




**දේව රාජ්‍යය තුළ,**

ආධිපත්‍ය/බලය - දෙවියන් වහන්සේ සතු ය

රාජකීයත්වය /නායකත්වය - දෙවියන් වහන්සේ දරන සේක

පුරවැසිභාවය/ජනතාව - දෙවියන් වහන්සේගේ කැමැත්ත ඉටුකරන සියලු අය වේ. ජාති, වර්ග, වර්ණ භේද නොමැත

නිශ්චිත භූමි සීමාව - නොමැත. මුළු විශ්වයෙහි දිවි ගෙවන මිනිස් සිත් සතන් තුළ දේව රාජ්‍යය පරිපූර්ණත්වයට පත් වේ

ව්‍යවස්ථාව/නීතිමාලාව - ප්‍රේමයේ පදනම මත සිදුකළ උන්වහන්සේගේ ඉගැන්වීම් වේ.

මිහිපිට දේව රාජ්‍යය ගොඩනැංවීමේ උතුම් මෙහෙවර දෙවියන් වහන්සේ විසින් සිය ඒකජාතක පුත්‍රයාණන් වූ ජේසුස් වහන්සේට පවරා ඇත.

ජේසුස් වහන්සේ සිය ජීවිතාදර්ශයෙන් නපුර හා ආත්මාර්ථය නසා දමා, දේව කැමැත්තට සම්පූර්ණයෙන් ම හිස නැමූ සේක. දෙවියන් වහන්සේ නිරතුරු ව ම රජයන බවත් සමස්ත මානව සංහතියට සදාකාලික විමුක්තිය අත්කර දීම සඳහා උන්වහන්සේ සිය අද්විතීය සැලැස්ම තුළින් ක්‍රියාකාරී වන බවත් ජේසුස් වහන්සේ පහදා දුන් සේක.

## ඒ අනුව දේව රාජ්‍යය

**දෙවියන් වහන්සේගේ අධිකාරිත්වය හා රාජකීයත්වය තුළ ප්‍රේමයේ පදනම හරහා මිනිස් සිත්සතන්හි ඇති වන ගැඹුරු හා අභිරහස්මය ක්‍රියාවලියකි.**

**දෙවියන් වහන්සේගේ කැමැත්ත ඉටුකරන අය දේව දරුවෝ වෙති.**

**ඔවුහු දේව රාජ්‍යයේ පුරවැසිභාවය ලබති.**

ජේසුස් වහන්සේ 'දේව රාජ්‍යය'හඳුන්වා දීම සඳහා යොදාගත් ඉගෙනුම් ක්‍රමවේදය නම් උපමා ය. එම උපමා සඳහා ජනතාවගේ එදිනෙදා ජීවිතයට සම්බන්ධ අත්දැකීම් භාවිතයට ගැනිණ. නිදසුන් වශයෙන් අබ, බැටළුවන්, මුහුන් වැනි දෑ දැක්විය හැකිය.

## දේව රාජ්‍යය වර්ධනය වේ.

එය ජේසුස් වහන්සේ ඉගැන්වූ සත්‍යතාවයකි. ඒ සඳහා උන්වහන්සේ ඉතා සරළ උපමා කීපයක් යොදාගත් සේක. වරක් උන්වහන්සේ දේව රාජ්‍යය අබ ඇටයකට උපමා කළ සේක.

**ශු. ලූක් 13: 18-19**
**අබ ඇටයේ උපමාව**

මෙම උපමාවේ කුඩා අබ ඇටය මගින් සංකේතවත් කරනුයේ දේව රාජ්‍යය ඉතා සුළුවෙන් ආරම්භ වන බව යි. එහෙත් ක්‍රමානුකූල ව එය ඉතා සීඝ්‍රයෙන් වර්ධනය වේ. උපමාවේ දැක්වෙන ලෙස, අබ ඇටය විශාල ගසක් වීම දක්වා ක්‍රියාවලියේ දී යම් පුද්ගලයකු එහි වර්ධනය සඳහා ක්‍රියා කරන ආකාරයක් නොදැක්වේ. ඒ සිදුවන ක්‍රියාවලිය විස්මිත ය. එය සිදු කරනුයේ දෙවියන් වහන්සේ ම ය. විස්මය ජනක ප්‍රතිඵල ගෙනදෙන ක්‍රියාදාමයක් හරහා දෙවියන් වහන්සේ ම දේව රාජ්‍යය ක්‍රම ක්‍රමයෙන් වර්ධනය කරන සේක. මෙම උපමාවට අනුව කුඩා අබ ඇටය වර්ධනය වී විශාල ගසක් වූ විට එම ගසේ අතු පතර පක්ෂීහු පැමිණ ලැගුම් ගනිති යනුවෙන් සඳහන් වේ. මෙහි දී ජේසුස් වහන්සේ 'පක්ෂීන්' යනුවෙන් අදහස් කරන්නට ඇත්තේ දැහැමි ලෙස දේව රාජ්‍යයේ ආශිර්වාදය අපේක්ෂා කරන හා දේව කැමැත්ත නිරතුරු ව ම සොයන ඕනෑම කෙනෙකු විය හැකි ය. අබ ගසක් මත පක්ෂීන්ට ද ලැගුම් ගත හැකි බව පැවසීමෙන් දේව රාජ්‍යය ව්‍යාප්ත කිරීම සඳහා උන්වහන්සේ ම තෝරාගත් කුඩා රැළ වන ශ්‍රාවක පිරිසට ද දිරියක් හා සවියක් නොඅනුමාන ව ම ලැබෙන්නට ඇත.

**තවත් අවස්ථාවක ජේසුස් වහන්සේ දේව රාජ්‍යය මුහුන් පිඩකට සමාන කළ සේක.**

**ශු. ලූක් 13: 20-21**
**මුහුන් පිළිබඳ උපමාව**

ජුදෙව් නිවෙස්වල මුහුන් ඉතා බහුල වශයෙන් භාවිත කළ ද්‍රව්‍යයකි. පිටි ආශ්‍රිත ආහාර වර්ග සැකසීමේ දී එම පිටි පිපීම සඳහා ගෘහණියන් මුහුන් භාවිත කළ බව සඳහන් වේ. මුහුන් පිටි සමග මිශ්‍ර කිරීමෙන් පිටතට නොපෙනෙන අන්තර් ක්‍රියාදාමයක් මගින් එම පිටි ප්‍රමාණය විශාල වීමත්, ඉන් සකසන ආහාර ද්‍රව්‍ය වර්ධනය වීමත් සිදුවේ. ගෘහාශ්‍රිත සිදුවීමක අත්දැකීම ජේසුස් වහන්සේ විසින් දේව රාජ්‍යයේ වර්ධනය ගෙනහැර දැක්වීමට යොදා ගැනීම විශේෂිත වේ.

මෙලෙස මුහුන් පිඩකට සමාන කරන ලද දේව රාජ්‍යයේ ක්‍රියාකාරිත්වය ද අභ්‍යන්තරික වශයෙන් සිදුවේ. එය සිදුවන්නේ දෙවියන් වහන්සේගේ ක්‍රියාකාරිත්වය හේතුකොට ගෙන ය. දෙවියන් වහන්සේ මිනිස් සිත් සතන්හි ක්‍රියා කරමින් එහි ප්‍රාතිහාර්යාත්මක වෙනස්කම් සිදු කරන සේක. එම වෙනස්කම් අත්දකින අප අන් අයගේ ජීවිත වෙනස් කිරීම සඳහා මුහුන් මෙන් ක්‍රියා කළ යුතු ය. දේව රාජ්‍යයේ වර්ධනය යනු මෙම ක්‍රියාවලිය යි. එය ඉතා සුළුවෙන් ඇරඹුන ද අදෘශ්‍යමාන ලෙසින් සිදුවන ප්‍රාතිහාර්යාත්මක ක්‍රියාදාමයක් ලෙස අත්දැකිය හැකි ය.

දේව රාජ්‍යයේ මවිතකර වර්ධනය දැක්වීම සඳහා ඉදිරිපත් කළ උපමාවන් අතර වපුරන්නාගේ උපමාව ඉතා වැදගත් ස්ථානයක් ගනී.

## ශු. ලූක් 8: 4-15
## වපුරන්නාගේ උපමාව

දන්නා වූ දේ මගින් සැඟවුණු අධ්‍යාත්මික සත්‍යතා වෙත ළඟාවීමට ජේසුස් වහන්සේ මෙමඟින් මග පෙන්වූ සේක. මෙම උපමාව මගින් දේව රාජ්‍යය පිළිබඳ සුපුවත අසා එයට විවිධ ප්‍රතිචාර දක්වන කණ්ඩායම් 4 ක් පිළිබඳ ව ඉදිරිපත් කෙරේ. එම කණ්ඩායම් දේව රාජ්‍යය වර්ධනයේ අවස්ථා 4 ක් ලෙස ද හඳුන්වා දිය හැකි ය.

| | |
|---|---|
| පළමු කණ්ඩායම (පළමු අවස්ථාව)<br>**ඵල දැරීමට උත්සහ නොදරයි.** | දේව රාජ්‍යය පිළිබඳ සුපුවත ඇසුව ද ඇසූ පමණින්, ඵල දැරීමට නොහැකි වන සේ නපුරාගේ උපක්‍රමවලට නතුවන අය වේ. |
| දෙවන කණ්ඩායම<br>(දෙවන අවස්ථාව)<br>**පීඩා හා පරීක්ෂා නොමැති කාලවල පමණක් ඵල දැරීමට උත්සාහයක් දරයි.** | පහන් සිතින් යුතු ව දේව රාජ්‍යයේ සුපුවත අසා පිළිගෙන, කලකට පමණක් ඒ අනුව දිවි ගෙවුවද, පීඩා කම්කටොළු පැමිණෙන විට එම පණිවුඩය අමතක කර ඊට අනුගත දිවි පෙවෙතක් ගතකරන අය වේ. |
| තුන්වන කණ්ඩායම<br>(තුන්වන අවස්ථාව)<br>**සම්පූර්ණයෙන් ඵල නොදරයි.** | දේව රාජ්‍යයේ සුපුවත ඇසුවද, දිවි කම්කටොළු, වස්තු මායාවන්, ඉඳුරන් පිනවීම හේතුවෙන් සුපුවත සම්පූර්ණ වශයෙන් තමා තුළ ක්‍රියාවට නොනැගෙන, සම්පූර්ණ ලෙස ඵල නොදරන අය වේ. |
| සිවුවන කණ්ඩායම<br>(සිවුවන අවස්ථාව)<br>**සම්පූර්ණයෙන් ඵල දරයි.** | අවංක, පවිත්‍ර සිතකින් දේව රාජ්‍යයේ සුපුවත අසා පිළිපැද ඵල දරන අය වේ. |

දේව රාජ්‍යයේ වර්ධනයට කුමන බාධක, තහංචි, පීඩා පැමිණිය ද ක්‍රමානුකූල ව, විවිධ බාධා පසු කරමින් එය වර්ධනය වීමට දෙවියන් වහන්සේ විස්මිත ලෙස ඉඩ සලසන බව වපුරන්නාගේ උපමාව මගින් ජේසුස් වහන්සේ අවධාරණය කළ සේක.

එනිසා දේව රාජ්‍යයෙහි ව්‍යාප්තිය සඳහා අවංක ව, දේව කැමැත්තට අවනත වෙමින්, වැයවීමෙන් හා යහපත් සේවාවන් තුළින් ඵල දැරීමට යොමු වීම සැම දෙනාගේ ම අපේක්ෂාව විය යුතු වේ.

අප ද දේව රාජ්‍යයේ සුපුවතට නිසි ප්‍රතිචාර දක්වමින් අවධානයෙන් හා ඇදහිල්ලෙන් එය වර්ධනය කරා මෙහෙය වීමට ක්‍රියා කළ යුතු වේ. සරු ලෙස වැඩෙන බීජ මෙන් උපරිම ලෙස ඵල දරමින් දේව රාජ්‍යයේ පුරවැසිභාවය හිමි කර ගැනීම ජේසුස් වහන්සේ අපගෙන් බලාපොරොත්තු වන සේක.

**ඉහත උපමා මගින් එළි දැක්වෙන පරිදි දේව රාජ්‍යය,**

- ඉතා සුළුවෙන් ඇරඹී අතිශය විශාල වර්ධනයක් කරා ගමන් කරයි
- කිසිවකුගේ මැදිහත්වීමකින් තොර ව අභිරහස්මය ලෙස වර්ධනය වේ
- ක්‍රම ක්‍රමයෙන් ක්‍රමානුකූල වර්ධනයක් අත්දකියි
- නිදහස් ව වර්ධනය වේ.

**දේව රාජ්‍යයේ වර්ධනය අත්දැකීම සඳහා අවශ්‍ය වනුයේ,**

- ජේසුස් වහන්සේගේ දැක්ම අප තුළ තිබීම යි
- ජේසුස් වහන්සේගේ අධිකාරිත්වයට හා රාජකීයත්වයට නතුවීම යි
- දේව වචනය තුළ දිනපතා මුල් බැස සිටිමින් එහි ආසිරි දෛනික ව ලබාගැනීම යි
- නොකඩවා යාච්ඤාවෙන් හා ඇදහිල්ලෙන් දේව කැමැත්ත සෙවීම යි.

ක්‍රියාකාරකම්

01. දේව රාජ්‍යය යනු කුමක්දැයි අර්ථ දක්වන්න.

02. අබ ඇටය, මුහුන් හා වපුරන්නාගේ උපමා තුළින් ඉදිරිපත් වන ප්‍රධාන ඉගැන්වීම් පෙළ ගස්වන්න.

03. දේව රාජ්‍යයේ වර්ධනයට දායකවීම සඳහා ඔබට කළ හැකි ක්‍රියාකාරකම් 5ක් ලියා දක්වන්න.

# 21. දේව රාජ්‍යයේ ලකුණු හා ප්‍රාතිහාර්යය

**බොහෝ අපේක්ෂාවන් පෙරදැරි කරගෙන මනුෂ්‍යයා නිරතුරු ව දිවි ගෙවයි. රෝගීහු සුවය ද ජීවන ගැටළු මැද දිවි ගෙවන අය ඒ සඳහා විසඳුම් ද නිරතුරු ව අපේක්ෂා කරති. පීඩා, ප්‍රශ්න, ගැටළු මැද දිවි ගෙවන කළ මිනිස්සු ප්‍රාතිහාර්යයන් අපේක්ෂාවෙන් කල් ගෙවති. ජේසුස් වහන්සේ දේව රාජ්‍යයේ ලකුණු වශයෙන් සිදුකළ ප්‍රාතිහාර්යයන් හරහා බොහෝ ජනතාව දේව බලය අත්දැකීමට යොමු වූ ආකාරය අධ්‍යයනය කිරීම මෙම පාඩම මගින් අපේක්ෂිත ය.**

ශු. ලූක් 8: 22-42, 49-56, 4: 31-37,11: 14-23, 9: 10-17, 7: 1-17, 18: 35-43, 7: 1-10

ජේසුස් වහන්සේගේ මිහිපිට සේවාවන් අතර ප්‍රාතිහාර්යයන්ට හිමි වූයේ සුවිශේෂී ස්ථානයකි. උන්වහන්සේ ප්‍රාතිහාර්යයන් හෙවත් ආශ්චර්යවත් ක්‍රියා සිදුකරන ලද්දේ දේව රාජ්‍යයේ ලකුණු වශයෙනි. උන්වහන්සේ එම ලකුණු දක්වන ලද්දේ සිය පෞද්ගලික මහිමය හා ගෞරවය අත්පත් කර ගැනීමට හෝ ජනතාව තමා වෙත ආකර්ෂණය කර ගැනීමට හෝ නොවේ. ප්‍රාතිහාර්ය අපේක්ෂාවෙන් තමා පසු පස නොඑන ලෙස ජනතාවට දැඩි ලෙස පැවසීමෙන් ද (ශු. මාර්ක් 1: 43, 5: 43, 7: 36) සිය නම හෙළි නොකරන ලෙස අශුද්ධාත්මවලට අණ කිරීමෙන් ද (ශු. මාර්ක් 1: 25, 34, 3: 12) ඒ බව මනාව සාක්ෂාත් වේ. උන්වහන්සේ දේව රාජ්‍යයේ ලකුණු දක්වනු ලැබූයේ තමන්වහන්සේ වෙත පැමිණි සමාජය විසින් කොන්කරන ලද සාමාන්‍ය, දිළිඳු ජනයා කෙරෙහි තිබූ අසීමිත ප්‍රේමය හා දයානුකම්පාව පෙරදැරි කරගෙන ය.

ජේසුස් වහන්සේ ප්‍රාතිහාර්ය රැසක් සිදු කළ බවට ශුභාරංචි කතුවරු සාක්ෂි දරති. මතෙව්, මාර්ක්, ලූක් යන සුබසුන් හි ජේසුස් වහන්සේ ඉටු කළ එම ආශ්චර්යවත් ක්‍රියා ප්‍රාතිහාර්ය හෙවත් හාස්කම් ලෙස හඳුන්වා ඇත. ග්‍රීක් බසින් මෙම ප්‍රාතිහාර්යයන් හැඳින්වීම සඳහා එම සුබසුන් කතුවරුන් භාවිත කරනුයේ 'ඩුනෝමීස්' යන වදන යි. ජොහාන් සුබසුනෙහි 'සේමෙයොන්' යන ග්‍රීක් වදන භාවිත කෙරේ. එහි අර්ථය 'දේව බල සලකුණු' නැතහොත් ලකුණු යන්න යි.

**දේව රාජ්‍යයේ ලකුණු හෙවත් ප්‍රාතිහාර්ය කාණ්ඩ 4 ක් යටතේ වර්ග කළ හැකි ය.**

ප්‍රාතිහාර්ය/ලකුණු

| සුවකිරීම් | අශුද්ධාත්ම දුරුකිරීම් | ස්වභාව ධර්මය අභිබවා කළ ක්‍රියාවන් | මරණින් උත්ථාන කිරීම් |
|---|---|---|---|
| ශාරීරික රෝගාබාධ අන්ධභාවය, බිහිරිභාවය, ගොළුභාවය, අංශභාග ලාදුරු වැනි රෝග | යක්ෂාත්ම හා අශුද්ධ බලවේග පළවා හැරීම | සොබාදහමේ නීති අභිබවා ගිය විස්මිත ක්‍රියා | මරණයට පත්වූවන්ට යළි ජීවිතය ලබා දීම |

ජේසුස් වහන්සේ සිදුකළ ප්‍රාතිහාර්යයන් අතර
සුව කිරීම් 20ක් ද
අශුද්ධාත්ම දුරු කිරීම් 4ක් පමණ ද
ස්වභාව ධර්මය අභිබවා කළ ක්‍රියා 5ක් පමණ ද
මරණින් උත්ථාන කිරීම් 3ක් පමණ ද සුබසුන් හි වාර්තා වී තිබේ.

එසේ ම සුබසුන් හි සඳහන් නොවන ජේසුස් වහන්සේ විසින් සිදුකළ තවත් ප්‍රාතිහාර්යයන් බොහොමයක් ඇති බව ශු. ජොහාන් 20: 30 හි සඳහන් වේ.

## සුවකිරීම් තුළින් එළි දැක්වුණු දේව රාජ්‍යයේ ලකුණු ශු. ලූක් 7: 1-10, 18: 35-43

ජේසුස් වහන්සේගේ දයානුකම්පාව නිරන්තරයෙන් රෝගීන් වෙත පිරිනැමිණ. විවිධ රෝගීන් උන්වහන්සේ වෙත ගෙනෙනු ලැබූ බොහෝ අවස්ථාවල දී ජේසුස් වහන්සේගේ දේව බලය තුළ ඔවුහු සුවය අත් දුටහ. විවිධ රෝගීන් සුව කිරීම තුළින් ජේසුස් වහන්සේ දේව රාජ්‍යයේ ලකුණු විදහා පෑ සේක.

- කපර්ණවුමෙහි ශතාධිපතියා තමාට හිමි අධිකාරීත්වය දැන සිටියත් (ශු. ලූක් 7: 8) ඒ සියල්ල පසෙකලා නිහතමානී ව දේව රාජ්‍යයේ රජ වන ජේසුස් වහන්සේගේ අධිකාරීත්වයට නතු වීම ඔහු තුළින් ඉස්මතු වූ වැදගත් ලක්ෂණයකි.

- එමෙන් ම ඔහු විජාතිකයකු වුව ද දේව බලය කෙරෙහි තිබූ මවිතකර ශ්‍රද්ධාව/ඇදහිල්ල (ශු. ලූක් 7: 7) ජේසුස් වහන්සේ ඉතා අගයකොට, සැලකූ ආකාරය ඉතා වැදගත් ය.

''මුළු ඉශ්‍රායෙල් ජනතාව අතරවත් මෙතරම් ශ්‍රද්ධාවක් මා දැක නැත'' යනුවෙන් උන්වහන්සේ ප්‍රකාශ කළේ එබැවිනි. ජේසුස් වහන්සේගේ දයානුකම්පාව තුළ වැඩි වර්ධනය වූ ශ්‍රද්ධාව හේතුවෙන් දේව බලය අත්දැකීම තුළ විජාතික ශතාධිපතියාගේ දාසයා සුවපත් විය.

ජෙරිකෝවේ අන්ධ මිනිසා සුවපත් කිරීමේ සිදුවීම ද වැදගත් ප්‍රාතිහාර්යයකි. එම සිදුවීමට පෙර ජේසුස් වහන්සේ සිය මරණය පිළිබඳ තෙවන වරටත් ප්‍රකාශ කළ ද (ශු. ලූක් 18: 31--34) ශ්‍රාවකයන්ගේ ආධ්‍යාත්මික අන්ධභාවය හේතුවෙන් ඔවුනට දේව රාජ්‍යය තුළ කුරුසියේ මාර්ගය වටහා ගත නොහැකි විය.

ජෙරිකෝවේ අන්ධ මිනිසා සුවපත් කිරීමේ ප්‍රාතිහාර්ය ශ්‍රාවකයන්ගේ ආධ්‍යාත්මික අන්ධ භාවය පෙන්නුම් කිරීමේ මග සලකුණක් ලෙස ද සැලකිය හැකි ය. ජෙරිකෝවේ සිටි අන්ධ මිනිසා තම අවශ්‍යතාවය මනාව වටහාගෙන සිටි අයුරු විස්තර කරයි. 'නාසරෙත්හි ජේසුස් වහන්සේ' ඒ ළඟින් යන බව ඇසුණු කළ ඔහු "දාවිත්ගේ පුත්‍රයාණෙනි මට අනුකම්පා කළ මැනව" යි කියමින් දේව රාජ්‍යයේ අධිකාරිත්වයට හා දේව බලයට නතුවීමටත් උන්වහන්සේ කෙරෙහි බලාපොරොත්තු

තැබීමටත් යොමු වූයේ ය. ජේසුස් වහන්සේට හිමි වූ දේව රාජ්‍යයේ රාජකීයත්වය ශ්‍රාවකයන් වටහා ගැනීමට අපොහොසත් වුව ද මේ අන්ධ මිනිසා එය වටහා ගැනීම තුළින් දේව බලය අත්දැකීමට යොමුවූ ආකාරය පැහැදිලි වේ. ඔහු තමා අවට තිබූ සියලු බාධක තහංචි හා දුර්වල තත්ත්වයන් අභිබවා ජේසුස් වහන්සේ විසින් සිදුකළ දේව රාජ්‍යයේ ලකුණු දැක්වීමකට මං පෙත් විවර කළේ ය. සිය ශ්‍රද්ධාව තුළින් ජේසුස් වහන්සේගේ දයානුකම්පාවට පාත්‍ර වූ ඔහු දේව බලය අත්දුටු අතර, ප්‍රශංසාමය දිවියකට යොමු වූ ආකාරය මවිතකර ය. ජනතාව දේව රාජ්‍යයේ ලකුණු දැක දෙවියන්වහන්සේට ප්‍රශංසා කරන පිණිස අන්ධ මිනිසා සාක්ෂිකරුවකු වූ අයුරු ලූක් තුමාගේ වාර්තා මගින් මනාව පැහැදිලි වේ.

මේ අනුව දේව රාජ්‍යයේ සුවය සම්බන්ධ දේව බල ලකුණු අත්දැකීම සඳහා;

- ✼ ජේසුස් වහන්සේගේ දයානුකම්පාවට පාත්‍රවීම
- ✼ දේව බලය අත්දැකීමට සූදානම් වීම
- ✼ ජේසුස් වහන්සේගේ අධිකාරිත්වයට හා රාජකීයත්වයට නතුවීම
- ✼ ජේසුස් වහන්සේ තුළ ස්ථිර ඇදහිල්ලෙන් අපේක්ෂා සහගත වීම අත්‍යවශ්‍ය වේ.

## අශුද්ධාත්ම දුරු කිරීමෙන් අනාවරණය වූ දේව බලය
## ශු. ලූක් 4: 31-37, 8: 25-39, 11: 14-23

ජේසුස් වහන්සේගේ මෙහෙය තුළ අශුද්ධාත්ම දුරු කිරීම් හා නපුරේ බලය පරාජය කිරීමේ අවස්ථා කීපයක් විද්‍යාමාන වේ. දේව රාජ්‍යය තුළ ජේසුස් වහන්සේගේ අධිකාරිත්වය කොතැන්හි ද එහි නපුරු බලවේගවලට, යක්ෂයාට කිසිසේත් ඉඩක් හිමි නොවන බව උන්වහන්සේ සනාථ කළ සේක.

- ✼ යක්ෂයන් ඉතා හොඳින් ජේසුස් වහන්සේ හඳුනාගෙන සිටීම
- ✼ ජේසුස් වහන්සේගේ අධිකාරිත්වය පිළිබඳ බියක් යක්ෂයන් තුළ පැවතීම
- ✼ ජේසුස් වහන්සේගේ බලධාරිත්වය හමුවේ යක්ෂයා පරාජය වීම
- ✼ ජේසුස් වහන්සේ දේව රාජ්‍යයේ ලකුණක් එළිදැක්වීම තුළ පූර්ණ නිදහස අත්විඳීම. එම සිදුවීමෙන් එළිදරව් වන ප්‍රධාන සත්‍යතාවන් වේ.

ගෙරසේනයන්ගේ රටේ සිදු වූ එවැනි ම සිදුවීමක් කියවා බලමු.

## ශු. ලූක් 8: 25-39

- ✼ දේව බලය තුළ යක්ෂයාගේ බලය ව්‍යර්ථ වන බව
- ✼ නපුරු බලවේගයන්හි බැමි ලිහීම තුළ නිදහස අත් වන බව
- ✼ අනපේක්ෂිත ලෙස ජනතාවට දේව රාජ්‍යයේ සත්‍යය දැනගැනීමේ අවස්ථාව උදා වන බව
- ✼ දේව රාජ්‍යයේ ලකුණු තුළින් දේව බලය ව්‍යාප්ත වන බව.

දේව බලය තුළ නපුරාගේ බලයෙන් නිදහස්වීම සඳහා දේව රාජ්‍යයේ රජ වන ජේසුස් වහන්සේ සමඟ සමීප සබඳතාවයකට පත්වීම අපේක්ෂිත ය. ඒ සඳහා අත්‍යවශ්‍ය සාධක වන්නේ;

- ❊ ජේසුස් වහන්සේට අවනත වීම
- ❊ උන්වහන්සේගේ කැමැත්තට ප්‍රතිචාර දැක්වීම
- ❊ වෙනස්වීමට කැමැත්ත හෙවත් සිත් හැරීම
- ❊ ජේසුස් වහන්සේ තුළ අචල විශ්වාසය

දේව බලය තුළින් නපුරේ බලය දුරුවන, දේව රාජ්‍යයේ ලකුණු දුටු සමහර අය ජේසුස් වහන්සේ කෙරෙන් විද්‍යාමාන වූ දේව බලය පිළිබඳ ප්‍රශ්න කළහ. එනම්;

යක්ෂයාගේ ම බලයෙන් යක්ෂයන් දුරු කළ හැකි ද ? යන්නයි නමුත්,

- ❊ දේව රාජ්‍යය තුළ පුහු තර්කවලට ඉඩක් නොමැත
- ❊ දේව රාජ්‍යයේ ලකුණු තුළින් දේව බලය ප්‍රකාශ වේ
- ❊ දේව රාජ්‍යය තුළ සියලු දෙනා දේව බලය අත්දැකීම අති වැදගත් වේ
- ❊ දේව රාජ්‍යය තුළ යහපත පමණක් රජය යි.

## සොබාදහම අභිබවා දේව බලය ක්‍රියාත්මක වීම
## ශු. ලූක් 8: 22-25, 9: 10-17

ජේසුස් වහන්සේ දෙවියන් වහන්සේගේ ආධිපත්‍යය පිළිබඳ සත්‍යය හෙළි කරමින් සිය මෙහෙය අර්ථවත් කරන ලද්දේ සොබාදහම කෙරෙහිද ආධිපත්‍යය අනාවරණය කරමිනි. උන්වහන්සේ ස්වභාව ධර්මය කෙරෙහි ආධිපත්‍ය දරන එක ම තැනැන්වහන්සේ බව සනාථ කළ සේක. මේ අනුව;

- ❊ ස්වභාව ධර්මය පවා ජේසුස් වහන්සේගේ ආධිපත්‍යයට යටත් ය
- ❊ උන්වහන්සේගේ මෙහෙයට සම්බන්ධ වූ ශ්‍රාවකයන්ට පවා එය වටහාගත නොහැකි විය
- ❊ දේව රාජ්‍යය තුළ දේව බලය අත්දැකීම සඳහා ඇදහිල්ල අත්‍යවශ්‍ය සාධකයකි
- ❊ දේව රාජ්‍යයේ ආධිපත්‍ය තුළ ඇදහිල්ලෙන් දිවි කතරේ කුණාටු ජයගැනීම සඳහා නිශ්චලව දේව බලය අත්දැකීමේ අභියෝගයට උන්වහන්සේ අප සියල්ලන් කැඳවන සේක.

ජේසුස් වහන්සේ සොබාදහම අභිබවා දේව බල ලකුණු දැක්වූ වැදගත් අවස්ථාවක් නම් පන්දහසකට කෑම දීමේ ප්‍රාතිහාර්යය යි. ලූක් තුමා වාර්තා කරන පරිදි එය සිදුකරන ලද්දේ උන්වහන්සේ ඇතුළු ශ්‍රාවකයන් මදක් විවේක ගන්නා පිණිස බෙත්සයිදාව බලා ගිය අවස්ථාවේ දී ය. නමුත් උන්වහන්සේ සොයා මිනිසුන් පැමිණි කළ උන්වහන්සේ විවේක ගැනීම පසෙකලා ඔවුන්ට දේව රාජ්‍යයේ සත්‍යතාවන් දේශනා කිරීමට ඉදිරිපත් වූ සේක. එහිදී මතු වූ ජනතාවගේ ආහාර අවශ්‍යතාව සංසිඳුවීමට උන්වහන්සේ පියවර ගත් සේක.

එම කාර්යය සිදු කිරීමට පෙර, ඒ සඳහා ඇදහිල්ලෙන් සහභාගි වීමට උන්වහන්සේ ශ්‍රාවකයන්ට ආරාධනා කළ සේක. ඔවුන්ගේ මද ඇදහිල්ල නිසා එම

අභියෝගය භාරගැනීමට ඔවුන්ට නොහැකි විය. නමුත් උන්වහන්සේ නැවත වරක් ඇදහිල්ල පිළිබඳ අමතක නොවන පාඩමක් ඉගැන්වූ සේක. දේව බලය තුළ සොබාදහම අභිබවන, ප්‍රබල දේවබල ලකුණක් විදහා පෑ සේක.

- ❊ දේව බලය කෙරෙහි ඇදහිල්ලෙන් විශ්වාසය තැබීමට
- ❊ කුඩා දෙයින් මහත් දෙයක් කිරීමට
- ❊ ක්‍රමවත්ව හා පිළිවෙළක් ඇති ව කටයුතු කිරීමට
- ❊ නිරතුරු ව ම දෙවියන් වහන්සේට ස්තුතිවන්ත වීමට
- ❊ අරපිරිමැස්මෙන් ක්‍රියා කිරීමට

මෙම ලකුණු මගින් උන්වහන්සේ පිළිගැන්වූයේ ස්වභාව ධර්මය පවා උන්වහන්සේගේ ආධිපත්‍යයට යටත් බවත්, උන්වහන්සේ ස්වභාව ධර්මයේ නිර්මාතෘ හා දේව රාජ්‍යයේ ආධිපත්‍යය දරන තැනැන් වහන්සේ වශයෙන් සියල්ල ඉටුකිරීමට දේව බලය තුළින් උන්වහන්සේ ක්‍රියාකරන බවත් ය.

**දේව රාජ්‍යයේ රජ වන ජේසුස් වහන්සේට සියල්ල කළ හැකි බව ද උන්වහන්සේ තුළ සැම ගැටලුවක් සඳහා ම විසඳුම් පවතින බව ද, අවශ්‍ය වන්නේ දේව බලය අත්දැකීමට ඇදහිල්ල බව ද විශ්වාස කරමු.**

## මරණින් උත්ථාන කිරීමේ දේව බල ලකුණු
## ශු. ලූක් 7: 11-17, 8: 40-42, 49-56

දේව බලය පාමින් ජේසුස් වහන්සේ ඉටු කළ ඉතා විස්මය ජනක ක්‍රියා අතර මරණින් උත්ථාන කිරීම් හැඳින්විය හැකි ය. ඒ අතුරින් ලූක් තුමා මරණින් නැගිටුවීම් දෙකක් පිළිබඳ ව සඳහන් කරයි.

බොහෝ දේව බල ලකුණු ජේසුස් වහන්සේ විසින් දක්වන ලද්දේ ඒ අදාළ පුද්ගලයාගේ හෝ ඔහුගේ හිතවතකුගේ අයැදීම පරිදි ය. නායින් නුවර වැන්දඹුවගේ පුත්‍රයා මරණින් නැගිටුවීමේ සිදුවීම ඒ අදාළ පවුලේ කෙනෙකුගේ හෝ හිතවතකුගේ අයැදීම මත සිදුනොවූවකි. නමුත් කිසිවකු බලාපොරොත්තු නොවූ මොහොතක ජේසුස් වහන්සේ නොදන්නා කෙනෙකු වෙනුවෙන් ප්‍රබල දේව බල ලකුණක් සිදුකළ සේක. එනම් වැන්දඹුව කෙරෙහි දයානුකම්පාවෙන් ඇයගේ පුත්‍රයාට යළි ජීවිතය ලබාදුන් සේක.

"හැඬීම නවත්වන්න" - කීකරුකම

"යෞවනය නැගිටින්න" - බලාපොරොත්තුව

"දෙවියන් වහන්සේ සිය සෙනඟ ගළවන්නට වැඩිය සේක" - දේව ප්‍රශංසාව

නායින් නුවර වැන්දඹුවගේ පුත්‍රයා මරණින් උත්ථාන කිරීමේ ප්‍රාතිහාර්යය මගින් දෙවියන් වහන්සේගේ ආධිපත්‍යය ජේසුස් වහන්සේ ගෙනහැර දැක්වූ ආකාරය පැහැදිලි

ලූක්තුමා වාර්තා කරන ජේසුස් වහන්සේ සිදුකළ දෙවන මරණින් උත්ථාන කිරීමේ සිදුවීම ජයිරස්ගේ දියණිය මරණින් නැගිටුවීමේ ප්‍රාතිහාර්යය යි.

- දැරිය මියගිය බව දැන නිවසට වැඩීම
- මරණය නින්දක් බව ප්‍රකාශ කිරීම
- දැරියගේ දෙමාපියන් ශක්තිමත් කිරීම
- අවිශ්වාසිකයන් ජේසුස් වහන්සේට අපහාස කිරීම.

**"බිය නොවන්න ඇදහිල්ලෙන්ම සිටින්න. ඈ සුව වනු ඇත"**
ප්‍රාතිහාර්යය සඳහා අවශ්‍ය ඇදහිල්ල සවිමත් කිරීම.

**"දැරිය නැගිටින්න"**
තාවකාලික මරණයේ නින්දෙන් දේව බලය හරහා ජීවනයට ගෙන ඒම

**ජයිරස්ගේ දියණිය මරණින් උත්ථාන කිරීම තුළින්**

ජයිරස්ගේ | අවිශ්වාසිකයන්ගේ | ශ්‍රාවකයන්ගේ

ඇදහිල්ල පණ ගැන්වීමට උන්වහන්සේ ක්‍රියා කළ සේක.

**දේව රාජ්‍යය තුළ දේව බලය දරන ජේසුස් වහන්සේ කෙරෙහි අදහාගන්නා සැමට ප්‍රාතිහාර්යාත්මක ලෙසින් නව ජීවනයක් ලැබීම මෙම මරණින් උත්ථාන කිරීම් මගින් සංකේතවත් වේ.**

දේව බලයේ මහත් මහිමය විදහා දක්වන ලද්දේ ජනතාව දේව රාජ්‍යය වෙත වඩාත් සමීප කරවීමේ අත්දැකීමට ඇතුලත් කිරීම සඳහා ය.
මේ සියල්ල තුළ;

- දේව රාජ්‍යයේ රජ වන ජේසුස් වහන්සේගේ ආධිපත්‍යය ඇදහිල්ලෙන් පිළිගැනීමට...
- උන්වහන්සේගේ දේව බලය විශ්වාසයෙන් අත්දැකීම සඳහා යොමුවීමට.........
- ජේසුස් වහන්සේගේ දයානුකම්පාවට ලක්වීම සඳහා ක්‍රියා කිරීමට.........
- ජීවිතයේ සැම මොහොතක ම ජේසුස් වහන්සේ තුළ දේව රාජ්‍යයේ ප්‍රාතිහාර්යය අත්දැකීමට අප යොමු කෙරේ.

ක්‍රියාකාරකම

01. ජේසුස් වහන්සේ සිදුකළ ප්‍රාතිහාර්ය වර්ගීකරණය කරමින් ඒ පිළිබඳ පොත් පිංචක් සකසන්න.

02. ඔබේ ජීවිතයේ ප්‍රාතිහාර්ය අත්දැකීම සඳහා ඔබ ක්‍රියා කළ යුතු ආකාරය හා ඔබ තුළ වර්ධනය කර ගත යුතු ගුණාංග ලියා දක්වන්න.

# 22. දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති

දේව රාජ්‍යයේ පුරවැසියන් දිවි ගෙවිය යුතු වන්නේ ප්‍රතිපත්තිගරුක ව ය. එනම් දෙවියන් වහන්සේගේ අපේක්ෂණ වලට අනුගතව ය. දෙවියන් වහන්සේගේ එම ප්‍රතිපත්ති හෙවත් අපේක්ෂණවලට අනුව දේව රාජ්‍යයේ පුරවැසියන් දිවි ගෙවීම අපේක්ෂිත යි. දේව රාජ්‍යයේ පුරවැසියන්ගේ ප්‍රතිපත්ති හඳුනාගෙන ඒ අනුව දිවි ගෙවීමට මෙම පාඩම මගින් යොමු වෙමු.

ශු. ලූක් 14: 15-24, 15: 1-32

### රටකට අවශ්‍ය වන්නේ ප්‍රතිපත්තිගරුක මිනිසුන් ය

**ප්‍රතිපත්තිගරුක මිනිසා විනය සම්පන්න වේ**

සෑම පුරවැසියෙකුට ම ජීවිත අපේක්ෂණ පවතී

**ප්‍රතිපත්ති කිසිවිටෙකත් පාවා නොදිය යුතු ය.**

සමාජ අපේක්ෂණයන්ට අනුගත ව දිවි ගෙවීම එහි සාමාජිකයන්ගේ වගකීම ය

**ළමයින් ප්‍රතිපත්තිගරුක ලෙස ජීවත්වීම සඳහා කුඩා කළ සිටම හුරුකළ යුතු ය.**

මෙවැනි ප්‍රකාශ බොහොමයක් ඔබ අසා ඇතුවා නිසැක ය. ප්‍රතිපත්තියක් මගින් ප්‍රකාශ වනුයේ යම් අපේක්ෂිත තත්ත්වයකි, අපේක්ෂණයකි, ප්‍රතිමානයකි. විවිධ මිනිසුන්ට විවිධ ප්‍රතිපත්ති ඇත. එසේ ම විවිධ රටවලට ද අනන්‍ය වූ ප්‍රතිපත්ති පවතී. ප්‍රතිපත්ති මත ජීවිතය ගොඩනගා ගැනීම හේතුකොටගෙන දිවි මඟ යහපත් හා විනය සම්පන්න කරගැනීමට අවකාශ සැලසේ.

**දේව රාජ්‍යයට ප්‍රතිපත්ති තිබේ ද ?**

දේව රාජ්‍යයට අදාළ ප්‍රතිපත්ති නැතහොත් දේව රාජ්‍යයේ පුරවැසියන්ගෙන් අපේක්ෂිත තත්ත්වයන්/ප්‍රතිමාණ බොහොමයක් පවතී.

**දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති ප්‍රකාශයට පත්කරන ලද්දේ කවුරුන් විසින් ද ?**

ජේසුස් වහන්සේ සිය මෙහෙවර තුළ දී වරින් වර මෙම ප්‍රතිපත්ති,අපේක්ෂණ සිය ශ්‍රාවක ජනතාව වෙත ඉදිරිපත් කරනු ලැබූ සේක.

**දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති ප්‍රකාශයට පත්කළේ කුමන මාධ්‍ය හරහා ද ?**

ජේසුස් වහන්සේ සිය ඉගැන්වීම් සඳහා යොදා ගත් ක්‍රමවේද අතුරින් ප්‍රබල ම මාධ්‍ය වූ 'උපමා' මගින් දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති, අපේක්ෂණ ප්‍රකාශයට පත් කළ සේක.

## මහා මංගල භෝජනය පිළිබඳ උපමාව හා දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති, අපේක්ෂණ
## ශු. ලූක් 14: 15-24, ශු. මතෙව් 22: 1-10

### පසුබිම

මහා මංගල භෝජනය පිළිබඳ උපමාව ජේසුස් වහන්සේ විසින් ප්‍රකාශ කරන ලද්දේ පරිසිවරයකුගේ නිවසේ භෝජන සංග්‍රහයකට සහභාගී වූ අවස්ථාවේ දී බව පැහැදිලි වේ. (ශු. ලූක් 14: 1, 12) එම භෝජන සංග්‍රහයට සහභාගී වූ අයගෙන් කෙනෙක් "දෙවියන්වහන්සේගේ රාජ්‍යයෙහි දී ආහාර වළඳන තැනැත්තේ භාග්‍යවන්තයෙකැ" යි පැවසූ අවස්ථාවේ ජේසුස් වහන්සේ මහා මංගල භෝජනය පිළිබඳ උපමාව ගෙනහැර දැක්වූ සේක.

දේව රාජ්‍යය පරිපූර්ණත්වයට පැමිණීමේ දින සුවිශේෂී මංගල භෝජන සංග්‍රහයකට සහභාගීවීමට අවකාශ ලැබෙන බව ජුදෙව් ජනතාව දැඩි ලෙස විශ්වාස කළහ. එවැනි විශ්වාසයක එල්බගෙන සිටි ජුදෙව් ජනයාට ජේසුස් වහන්සේ ඉදිරිපත් කළ මහා මංගල භෝජනය පිළිබඳ උපමාව විශාල අභියෝගයක් වූවා නොඅනුමාන ය.

### උපමාවේ ප්‍රධාන අංග




මෙම උපමාව ඉදිරිපත් කරන මතෙව්තුමා ලූක්තුමා විසින් වාර්තා නොකරන තොරතුරක් ගෙන හැර දක්වයි. එනම්,

මගුල් මඩුව අමුත්තන්ගෙන් පිරී යාමත්
මගුල් ඇඳුම් ඇඳ නොසිටි අමුත්තකු එහි සිටීමත්
ඔහු සම්බන්ධයෙන් රජු දැඩි පියවර ගැනීමත් ය.

එකල සාමාන්‍ය
සිරිත, රජු විසින්
ආරාධිතයන්ට මගුල්
ඇඳුම් පිරිනැමීම යි.
එම මගුල් ඇඳුම් ඇඳීම
ප්‍රතික්ෂේප කිරීම රජතුමාට හා
උත්සවයට කරනු ලබන නිග්‍රහයක්/අවමානයක්
ලෙස සැලකිණි.

### එමඟින් අපට ඉදිරිපත් වන සත්‍යතාව නම්;

දෙවියන් වහන්සේගේ මංගල භෝජනයේ රස බැලීමට කැඳවීම ලත් බොහෝ අය එක්වන බවත්, ධර්මිෂ්ඨකම හා ගැළවීම නමැති මගුල් ඇඳුමෙන් නොසැරසුණු කිසිවකුට එම මංගල භෝජනයට සහභාගි වීමට අවකාශ නොලැබෙන බවත් ය.

මහා මංගල භෝජනය නමැති උපමාවෙන් එළි දැක්වෙන ප්‍රතිපත්ති අපේක්ෂණ අපි මෙලෙස පෙළ ගස්වමු.

- දේව රාජ්‍යය සියලු දෙනාට ම විවෘත ය.
- දෙවියන් වහන්සේගේ තීරණය අනුව දේව රාජ්‍යය පරිපූර්ණත්වයට පැමිණේ
- දේව රාජ්‍යයට කැඳවීම දෙවියන් වහන්සේ ම කරන සේක.
- ලෞකිකමය හේතු නිසා දෙවියන් වහන්සේගේ ආරාධනය ප්‍රතික්ෂේප කරන ජන සමූහයන් ද ලොවෙහි වෙසෙයි
- දෙවියන්වහන්සේගේ ආරාධනය ප්‍රතික්ෂේප කරන අයට සදාකාලික ව ම දේව රාජ්‍යය අහිමි වේ
- සමාජය ප්‍රතික්ෂේප කිරීම හේතුවෙන්, තමා නුසුදුස්සන් ලෙස සිතා සිටින, එහෙත් දෙවියන් වහන්සේ සමඟ ගැඹුරු සබඳතාවයකට පත්ව සිටින්නන්ට දේව රාජ්‍යයේ කැඳවීම විශේෂයෙන් හිමි වේ
- දේව රාජ්‍යයේ කැඳවීම ලැබූවන් ධර්මිෂ්ඨකමින් හා ගැළවීමෙන් සැරසී සිටිය යුතු ය.

**දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති,අපේක්ෂණ දක්වන තවත් උපමා**

## නැතිවූ බැටළුවා, නැතිවූ කාසිය, නැතිවූ පුත්‍රයා පිළිබඳ උපමා

### උපමා සඳහා පසුබිම

එක් දිනක් සියලු අයකැමියන් ද පව්කාරයන් ද ජේසුස් වහන්සේට සවන් දෙන පිණිස උන්වහන්සේ වෙත ආ කළ, පරිසිවරුන් හා විනයධරයෝ, උන්වහන්සේ පව්කාරයන්

පිළිගෙන ඔවුන් සමඟ කන බොන බවට චෝදනා කළහ. එම අවස්ථාවේ දී ජේසුස් වහන්සේ මෙම උපමා ඔවුන්ට වදාළ සේක. (ශු. ලූක් 15: 1--2)

| අයකැමියන් | පව්කරුවන් |
| --- | --- |
| ↓ | ↓ |
| රෝම අධිරාජ්‍යයට සේවය කළ ජාතියට ද්‍රෝහී වූ පීඩිත ජන කොටසක් ලෙස සැලකිණි. | විවිධ හේතු නිසා (දිළිඳුකම, රෝග) ධර්මශාලාවලට පිළිගනු නොලැබූ ජන කොටස් වේ. |

ජේසුස් වහන්සේ මෙම ජන කොටස් අතර අතිශයින් ජනප්‍රියත්වයට පත්ව සිටි බව ශුභාරංචි වාර්තා මගින් පැහැදිලි වේ. එයට හේතුව වන්නට ඇත්තේ උන්වහන්සේ ඔවුන්ට නිරතුරු ව ම දයාව හා කරුණාව දැක්වීමත් ඔවුන් පිළිගෙන ඔවුන්ට උන්වහන්සේගේ දේශනාවලට සවන්දීමට අවකාශ සැලසීමත් ය. උන්වහන්සේ තමා වෙත පැමිණි අයකැමියන්ට හා පව්කරුවන්ට සැබෑ මනස්ථාපනයේ අරුත වටහා දෙන්නට ඇත.

### නැති වූ බැටළුවා පිළිබඳ උපමාව




මෙම කතාවේ සඳහන් මිනිසාට බැටළුවන් සියයක් රැකබලා ගැනීමට තිබිණ. බැටළුවන් සැලකෙනුයේ අනුවණ සත්ත්ව කොට්ඨාශයක් ලෙස ය. එනිසා එදා සමාජයේ බැටළුවන් ගාලෙන් ඉවත් ව ගොස් කටු අකුල්වල පැටලීම, වැටී තුවාල වීම සිය රැළ සොයාගත නොහැකි වීම සුලභ දසුන් වන්නට ඇත. මෙවැනි අවස්ථාවල එඬේරා අනෙකුත් බැටළුවන් හැර දමා ගාලෙන් නැති වූ බැටළුවා සොයා යාම සිරිත විය.

ජේසුස් වහන්සේගේ මෙහෙය තුළ දී උන්වහන්සේගේ දැඩි අවධානය, දයානුකම්පාව යොමුවූයේ සමාජයෙන් ප්‍රතික්ෂේප වූ, අදමිටු, පාපිෂ්ඨ යැයි සලකන ජන කොටස් කෙරෙහි ය. දෙවියන් වහන්සේගේ දයානුකම්පාව හා කරුණාව විදහා පාමින් ඔවුන් මනස්ථාපනයට යොමු කිරීමට උන්වහන්සේ නිරතුරු ව ක්‍රියා කළ සේක. ඔවුනට දේව රාජ්‍යයේ මඟ පෙන්වූ සේක.

එනිසා නැති වූ බැටළුවාගේ උපමාව මගින් එළි දැක්වෙන දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති,අපේක්ෂණ ලෙස;

❊ සමාජයේ නොමඟ ගොස් සිටින, සෑම අඳමිටු, පාපිෂ්ඨ මිනිසකු ම දෙවියන් වහන්සේ දයානුකම්පාවට නතුවීම තුළින් දේව රාජ්‍යයේ මනස්ථාපනය අත්දැකීම

❊ සෑම පව්කරුවකු ම ලෝකය තුළ පාපයේ නැතිවීමට ඉඩ නොදී කෙසේ හෝ ඔවුන් සොයා ගොස් නැවත රැළට ගෙන ඒම

❊ නොමඟ ගිය පව්කරුවන් මනස්ථාපනය වී නැවත පැමිණීම තුළ පරිපූර්ණත්වයට පත් වන දේව රාජ්‍යය තුළ ප්‍රීතිය ඇති වීම දැක්විය හැකි ය.

**නැති වූ කාසිය පිළිබඳ උපමාව (ශු. ලූක් 15: 8-10)**




පුරාණ ඉශ්‍රායෙලයේ සාමාන්‍ය කාන්තාවන්ට රිදී කාසි මූල්‍යමය වශයෙන් මෙන් ම භාවමය වශයෙන් ඉතා ම අගනා සම්පතක් විය. ඔවුනගේ විවාහයේ දී රිදී කාසි පළඳනාවක් (නළල් පටියක්) ලැබීම සිරිතක් ව තිබිණ. ඔවුන් දිවි ගෙවූ සාමාන්‍ය අඳුරු නිවාසවල කාසියක් නැති වූ විට සෙවීම ඉතා අසීරු ,සෙවීම සඳහා දිගු කාලයක් වැය වන කාර්යයක් විය. පහනක් දල්වා නිවසේ එක් කොනක සිට සෑම මුල්ලක් ම හසුවන සේ හොඳින් අතුගා රිදී කාසිය සෙවීමට විශාල ශ්‍රමයක් වැය කිරීමට සිදුවිය.

ජේසුස් වහන්සේගේ මෙහෙය අයකැමියන් වැනි පව්කාරයන්ට නිරතුරු ව විවෘත වූවකි. බොහෝ අවස්ථාවල ඔවුහු ජේසුස් වහන්සේ සොයා ආහ. එම අවස්ථාවන්වල දී උන්වහන්සේ දේව රාජ්‍යයේ සත්‍යතා හෙළි කිරීමට විශේෂයෙන් ප්‍රයත්න දැරූ සේක. සෑම විට ම ඔවුනට දෙවියන්වහන්සේගේ ආදරය හා දයානුකම්පාව විදහා දැක්වීම තුළින් ඔවුන් මනස්ථාපනයේ දිවියක් වෙත යොමු කිරීමට ජේසුස් වහන්සේ නිරතුරු ප්‍රයත්න දරන ලද්දේ දේව රාජ්‍යය තුළ ඔවුන් සෑම කෙනෙකුම ඉතා අගනා සම්පත් ලෙස පිළිගැනුණු හෙයිනි. එබැවින් නැති වූ කාසිය පිළිබඳ උපමාව මගින් ද උන්වහන්සේ පහත සඳහන් ප්‍රතිපත්ති අපේක්ෂණ ඉදිරිපත් කළ සේක.

❊ සෑම පුද්ගලයකු ම දේව රාජ්‍යයේ අනර්ඝතම වස්තුවක් ලෙස සැලකේ

❊ කිසියම් පුද්ගලයකු පාපයේ ජීවිතයක් තුළ නැති වී යළි මනස්ථාපනයේ ජීවිතයක් තුළින් නිවැරදි මඟට යොමුවීම දේව රාජ්‍යයේ ප්‍රීතිය ඇතිකරවීමට ඉවහල් වේ.

### නැතිවූ පුත්‍රයා පිළිබඳ උපමාව (ශු. ලූක් 15: 11-32)




නැතිවූ පුත්‍රයාගේ උපමාවේ ප්‍රධාන අවධීන් දෙකක් පිළිබඳ ව සඳහන් වේ. එනම්

බාල පුත්‍රයා පියාගෙන් වෙන්ව යාම
හා
බාල පුත්‍රයා නැවත පියා වෙත ඒම යි.

පළමු අවධිය තුළ,

මෙහි සඳහන් බාල පුත්‍රයාට, පියාගේ උපකාරයකින් තොරව සිය දිවිය පවත්වාගෙන යාමට හැකියාව හා ආත්ම විශ්වාසය ඇති බව හැඟුණු කළ ඔහුට අවශ්‍යතා දෙකක් මතුවිය. එනම් මුදල් හා නිදහස යි.

| මුදල් | නිදහස |
|---|---|
| මුදල් අවශ්‍යතාවය ඔහු සපුරාගනු ලැබුවේ තමාට අයත් දේපළ කොටස පියාගෙන් ලබාගැනීම තුළිනි. ඉශ්‍රායෙල් සමාජයේ පුතකුට පියාගෙන් හිමිවන දේපළ ලබා ගැනීමට පියා මියයන තෙක් සිටීමට සිදු නොවී ය | ස්ව නිදහස ලබා ගැනීමට නම් පියාගෙන් වෙන්ව යා යුතු විය ඒ සඳහා ඔහු දුර රටකට ගිය බව සඳහන් වේ. නිදහස තුළ ජීවිතයේ උපරිම සතුට භුක්ති විඳීම ඔහුගේ එකම අභිප්‍රාය වූ බව පැහැදිලි ය. |

එනමුත් ඔහු අපේක්ෂා කළ ජීවිත සංතුෂ්ටිය ඔහුට නොලැබිණ. ඒ වෙනුවට බාධක කීපයකට මුහුණ දීමට ඔහුට සිදුවිය. එනම්,

- සියල්ල නැති නාස්ති වීම
- සාගතයට මුහුණ දීමට සිදුවීම
- තමා ජීවිතයේ ඉතා පහත් තත්වයකට වැටීම

පාපයේ නියම ස්වභාවය දෙවි පියාණන්ගේ සමීපත්වයෙන් ඈත් වීම යි. මේ තත්ත්වය මත ඔහුගේ මනස්ථාපනයේ ජීවිතයට අධිතාලම වැටේ.

- ❉ හරි සිහිය ලැබ මනස්ථාපනය වෙයි
- ❉ ඔහු තමා සිටිනා තත්ත්වය අවබෝධ කරගනියි
- ❉ පියා වෙතට ගොස් සමාව අයැදීමෙන් තම ජීවිත වෙනස දැක්වීමට තීරණය කරයි.

**දෙවන අදියර ආරම්භ වන්නේ බාල පුතා නැවත හැරී පියාගේ ගෙදරට ගමන් කිරීමෙනි**

බාල පුතා යළි පැමිණෙන තුරු මග බලා සිටින පියා අසීමිත ප්‍රේමයෙන් පුතා පිළිගනියි. විශාල උත්සවයක් සංවිධානය කරයි. නමුත් මෙම ක්‍රියාව සවන්ගත වීමෙන් අධික කෝපයට පත්වන වැඩිමහල් පුතාගේ ක්‍රියා කලාපය පියාට වේදනාවක් ගෙන දෙන්නට ඇත.

යමකු පාපයේ කුරිරු මාර්ගයේ ගමන්කොට නැවත හැරී දේව රාජ්‍යයට පැමිණෙන තුරු දෙවියන් වහන්සේ අසීමිත ප්‍රේමයෙන් බලා සිටින බව මෙම උපමාව මගින් ජේසුස් වහන්සේ ඉගැන්වූ සේක. නමුත් ප්‍රේමය අමතක කොට නීති පිළිපැදීමෙන් පමණක් ධර්මිෂ්ඨ වූ අය, පව්කරුවන් නැවත හැරී එනවිට ඔවුන් දේව රාජ්‍යයට පිළිගැනීමේ මෙම ක්‍රියාදාමයට විරුද්ධ වීමට අවකාශ ඇත. නමුත් කළ යුතු වන්නේ නිරතුරු ව ම නිවැරදි දේ කිරීම යි. දේව රාජ්‍යය තුළ දෙවියන් වහන්සේගේ අසීමිත ප්‍රේමය අත්දැකීම යි.

නැතිවූ පුත්‍රයාගේ උපමාව තුළින් මතුවන දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති/අපේක්ෂණ බොහොමයකි.

- ❉ අප පාපය හා අකීකරුකම හේතුකොටගෙන කොතරම් උන්වහන්සේගෙන් ඉවත් ව ගිය ද, උන්වහන්සේ සදාකල් ම අපගේ පියාණන් වහන්සේ ය. අපි උන්වහන්සේගේ දරුවෝ වෙමු.
- ❉ පාපයේ මාර්ගයෙන් හැරී නැවත උන්වහන්සේ වෙත අප එනතුරු දෙවියන් වහන්සේ මග බලා සිටින සේක.
- ❉ දෙවියන් වහන්සේගේ අසීමිත ප්‍රේමය සැම පව්කරුවකු ම අත්දැකීම දේව රාජ්‍යයේ අභිප්‍රාය වේ.
- ❉ අප දෙවියන් වහන්සේගේ ප්‍රේමයට නිරතුරු ව ම ප්‍රතිචාර දැක්විය යුතු අතර, එම ප්‍රේමය අත්දකිමින් අන්‍යයන් වෙතද එම ප්‍රේමයේ සුපුවත ගෙන යා යුතුය.

දේව රාජ්‍යයේ අපට පැවරෙන විශේෂ කාර්යභාරය,
දෙවියන් වහන්සේගේ අසීමිත ප්‍රේමය නිරතුරුවම අත්දකිමින් අප ජීවත්වන සමාජයේ නැතිවූවන් වෙත දයානුකම්පාව දක්වා මනස්ථාපනය තුළ නැවත දේව රාජ්‍යයට ගෙන ඒම අප සැම වෙත පැවරී ඇති බව අමතක නොකරමු.

ක්‍රියාකාරකම

1. කිතුනු දරුවකු ලෙස
   කිතුනු සභා සාමාජිකයකු ලෙස
   ඔබ ජීවත්වන සමාජයේ කිතුනු පුරවැසියකු ලෙස
   ඔබට අනුගමනය කිරීමට හැකි දේව රාජ්‍යය ප්‍රතිපත්ති පහ බැගින් යෝජනා කරන්න.

# 23. දේව රාජ්‍යයේ පුරවැසියන්

මෙලොව වසන සෑම පුද්ගලයකු ම තමා උපන් රාජ්‍යයෙහි පුරවැසියකු ලෙස සැලකේ. එලෙස යම් රාජ්‍යයක පුරවැසිභාවය දරන සෑම පුද්ගලයකු ම රාජ්‍යයෙන් තමාට හිමිවන යම් යම් වරප්‍රසාද වලට හිමිකම් කියනු ලබයි. එමෙන් ම සෑම පුරවැසියකු ම සතු ව රාජ්‍යය වෙනුවෙන් ඉටුකළ යුතු යුතුකම් හා වගකීම් ද පවතී. රාජ්‍යයේ නීති රීතිවලට ගරු කිරීමට හා ඒවා අනුගමනය කිරීමට ඔවුහු අනිවාර්යයෙන් බැඳී සිටිති.

දේව රාජ්‍යයේ ද පුරවැසිභාවය උරුම කර ගැනීම කිතුනු අපගේ අභිලාෂය යි. එය අපට ලද හැකි උතුම් වරප්‍රසාදයකි. එම උතුම් වරප්‍රසාදය උරුම කර ගැනීම උදෙසා අප විසින් සපුරාලිය යුතු මෙහෙවරක් ඇත්තේ ය. මෙම පාඩමෙන් අප උත්සාහ දරන්නේ දේව රාජ්‍යයේ පුරවැසිභාවය නමැති උතුම් වරප්‍රසාදය හිමිකර ගැනීම සඳහා අපගෙන් ඉටුවිය යුතු මෙහෙවර හඳුනා ගැනීමට ය.

ශු. ලූක් 22:24-30, 10: 25-37, 16: 1-9, 19:11-27

ජේසුස් වහන්සේ ඉගැන්වූ නව නායකත්ව ශෛලය ඔස්සේ

අපේක්ෂිත චරිත ලක්ෂණ පිළිඹිබු කරමින්

දේව රාජ්‍යයේ පුරවැසි භාවය කරා ගමන් කළ යුතු ය.

**දේව රාජ්‍යයේ පුරවැසියන් සඳහා ආදර්ශ නායකත්වය**

සාමාන්‍ය ලෝකයේ නායකත්ව ධූරාවලිය




- නායකයා අණසක පතුරවයි
- ආධිපත්‍යය දරයි
- යටත් අය නායකයාට සේවය කරති
- නායකයා සේවය ලබයි.

## දේව රාජ්‍යයේ පුරවැසියන් සඳහා නායකත්ව ධූරාවලිය




- සාමකාමී ව සහයෝගයෙන් කටයුතු කරයි
- ප්‍රේමයේ ආධිපත්‍යය දරයි
- නායකයා යටත් අයට සේවය කිරීමට බැඳී සිටියි
- යටත් අය සේවය ලබති.

ජේසුස් වහන්සේ පැවසූ පරිදි, විජාතීන්ගේ රජවරු (ජුදෙව් නොවන රජවරු) අනුගමනය කරන ලද්දේ ඉහත මුලින් දැක්වූ සාමාන්‍ය ලෝකයේ පවතින නායකත්ව ධූරාවලිය යි. උන්වහන්සේගෙන් ශ්‍රාවකයන්ට උපදෙස් ලැබුණේ ඊට හාත්පසින් ම වෙනස් ක්‍රියාවලියකට යොමු වීමට යි. ජේසුස් වහන්සේ පැවසූ වදන්වලට අනුව දේව රාජ්‍යයේ නායකත්වය දැරීම සම්බන්ධයෙන් පුරවැසියන්ට ලබාදුන් උපදෙස් මාලාවක් පහත දැක්වේ.

- ශ්‍රේෂ්ඨ තැනැත්තා ඉතා සුළු තැනැත්තා වේ
- නායකයා සේවකයා විය යුතු ය
- අන් අය කෙරෙහි බලය පෑමට අවසර නැත.

ජේසුස් වහන්සේගේ ශ්‍රාවකයන් "තමන් අතරේ ශ්‍රේෂ්ඨතම තැනැත්තා කවරෙක් ද?" යන්න සොයා ගැනීමට විවාද කළ අවස්ථාවේ ජේසුස් වහන්සේ ඉහත උපදෙස් මාලාව ඔවුන්ට පිරිනැමූ සේක. (ශු. ලූක් 22:24) ඒ තුළින් දේව රාජ්‍යය තුළ නායකත්වය දැරීම පිළිබඳ නිවැරදි දැක්මක් හා ආකල්ප ඔවුන් හට ලැබෙන්නට ඇත. එබැවින් දේව රාජ්‍යයේ පුරවැසියන් සැම දෙනා ම දැරිය යුතු වන්නේ සේවක නායකත්වයකි. ඔවුන් සේවක නායක ධූරාවලියක කොටස් කරුවන් වේ.

**ජේසුස් වහන්සේ සේවක නායකත්වය ආදර්ශයෙන් දැක්වූ අවස්ථා ලෙස,**

- කුඩා දරුවකු අගය කිරීම (ශු. ලූක් 9: 48)
- සේවය අවශ්‍ය අය තමා වෙතට එනතුරු නොසිට සේවය කිරීම සඳහා ඔවුන්ගේ නිවෙස් වෙත යෑම (ශු. ලූක් 8:42, 51, 7:6)
- ශ්‍රාවකයන්ගේ පාද සේදීම (ශු. ජොහාන් 13: 4--5)
- බොහෝ දෙනකුගේ මිදීම පිණිස නිහතමානීව සිය ජීවිතය පිදීම (ශු. මාක් 10:45) නව ගිවිසුමෙහි සඳහන් වේ.

දේව රාජ්‍යයේ පුරවැසියන් සේවක නායකත්වයකට යොමු වෙමින් නිරතුරු ව යහපත් හා නිවැරදි ලෙස ක්‍රියා කිරීම අපේක්ෂිත ය. එසේ ම දේව රාජ්‍යයේ පුරවැසියන් සිය ජීවන රටාව මගින් සුවිශේෂී ලක්ෂණ පිළිබිඹු කළ යුතු වේ.

## දේව රාජ්‍යයේ පුරවැසියන්ගෙන් අපේක්ෂිත චරිත ලක්ෂණ

❖ අන් අය වෙනුවෙන් වැයවීම දේව රාජ්‍යයේ පුරවැසියන් තුළ පැවතිය යුතු සුවිශේෂී චරිත ලක්ෂණයකි. (ඒ සඳහා සියළු බාධක අභිබවා කටයුතු කළ යුතු වේ. අන් අය නැතහොත් අසල්වැසියා යනු කවරෙක් ද කියා ප්‍රථමයෙන් වටහා ගත යුතු ය.) ජේසුස් වහන්සේ වෙත පැමිණි විනයධරයකු තම අසල්වැසියා කවරෙක් ද කියා විමසූ අවස්ථාවේ දී ජේසුස් වහන්සේ යහපත් සමාරිතයාගේ උපමාව (ශු. ලූක් 10: 25-- 37) වදාළ සේක. ජුදෙව්වන් හා සමාරිතයන් අතර පරතරයකට ඉඩ සැලසූ වෛරයක් පැවති සමයක, ජුදෙව්වකු විසින් නගන ලද පැනයකට පිළිතුරක් ලෙස ජේසුස් වහන්සේ පැවසූ මෙම උපමා කතාව වැදගත් වේ. එහි යහපත් අසල්වැසියා ලෙස වැයවන සමාරිතයකු ඉදිරිපත් කිරීම සුවිශේෂී භාවයක් උසුල යි. උපමාවට අනුව මරණාසන්න ව අසරණ ව සිටි ජුදෙව් මිනිසා උදෙසා වැය වීමට, ජුදා ආගමික සමාජයේ මහත් ගරු බුහුමන් ලැබූ පූජකවරයාට හා ලෙවීවරයාට නොහැකි විය. තම ජාතියට ම අයත් වූ කරදරයට පත් ව සිටි මිනිසා වෙනුවෙන් වැය වීමට ඔවුහු කිසිසේත් ප්‍රයත්න නොදැරූහ.

ඔවුන් සිතූ පරිදි එය

| | | |
|---|---|---|
| අධික කාලයක් වැයවන<br>අධික ශ්‍රමයක් වැයවන<br>අධික ලෙස සම්පත් වැයවන<br>අප්‍රමාණ වෙනත් කරදරවලට යොමු කෙරෙන | ක්‍රියාදාමයක් | වන්නට ඇත |

නමුත් ජුදෙව්වන් බද්ධ වෛරයෙන් පසුවන දූෂිත ආගමකට අයත් යැයි ජුදෙව්වන් අතර පිළගැනෙන ජුදෙව් ජාතියේ සතුරකු ලෙස ගණන් ගැනෙන සමාරිතයකු වැටී මරණාසන්න ව සිටි ජුදෙව් මිනිසා වෙනුවෙන් වැය වීමට ඉදිරිපත් වූ ආකාරය මවිතකර ය. සමාරිතයා, ජුදෙව් මිනිසා වෙනුවෙන් දයානුකම්පාවෙන් වැය විය.

ඔහු ජුදෙව් මිනිසා වෙනුවෙන්
- තමා යන ගමන කැප කළේ ය.
- තම කාලය වැය කළේ ය.
- තම සම්පත් (ශ්‍රමය, තෙල්, මිදියුෂ, මෘගයා, මුදල්) වැය කළේ ය.

දේව රාජ්‍යයේ පුරවැසියන් ලෙස අප ද ජාති ආගම්, කුල පංති භේද නොතකා නිරතුරු ව ම, ඕනෑ ම කෙනකු වෙනුවෙන් සීමා රහිත වැයවීමේ ලක්ෂණය තම ජීවිත තුළින් පිළිබිඹු කළ යුතු ය. දෙවියන් වහන්සේගේ අභිප්‍රාය එය වේ.

❖ දේව රාජ්‍යයේ පුරවැසියන් ලෙස කටයුතු කිරීමේ දී නිරතුරු ව ම ස්ථානෝචිත ප්‍රඥාවෙන් යුතු ව ක්‍රියා කිරීමට යොමු විය යුතු ය. තම ලෞකික ලාභ ප්‍රයෝජන රැකීම සඳහා නොව දේව රාජ්‍යය වර්ධනය සඳහා ස්ථානෝචිත ප්‍රඥාවෙන් ක්‍රියා කිරීම වංචනික ගබඩාකාරයා පිළිබඳ උපමාවෙන් මතු කරන සත්‍යතාවය වේ. (ශු. ලූක් 16:1--9) දේව රාජ්‍යයේ පුරවැසියන් ලෙස වංචනික ක්‍රියාවන් අපට

අනුමත කළ නොහැකි වුව ද තියුණු නුවණකින් හා ප්‍රඥාවන්ත ව ක්‍රියා කරමින් දේව රාජ්‍යයේ සත්‍යතා ව්‍යාප්ත කිරීමට දිරි දැරීම පැසසිය යුතු කාරණයකි. දේව රාජ්‍යයේ පුරවැසියන් එහි ගබඩාකරුවන් වේ. ගබඩාකරුවන් එහි ඇති සියල්ල පිළිබඳ ව හිමිකරුට වග කිව යුතු වේ. එනිසා ගබඩාකරුවන් ප්‍රඥාවෙන් ක්‍රියා කර ඇත්නම් හිමි කරු ප්‍රීති සන්තෝෂ වනු නොඅනුමාන ය. එබැවින් දේව රජ්‍යයේ පුරවැසියෝ ධර්මිෂ්ඨ ලෙස ප්‍රඥාවෙන් ක්‍රියා කරමින් එහි හිමිකරුට ප්‍රසන්න වන ආකාරයෙන් දිවි ගෙවීමට බැඳී සිටිති.

- අන් අයගේ ජීවිත යහපත් අයුරින් වර්ධනය කිරීම සඳහා සිය හැකියාවන් හෙවත් තලෙන්ත උපරිම ලෙස කැප කිරීමට දේව රාජ්‍යයේ පුරවැසියන් ප්‍රයත්න දැරිය යුතු ය. රන් කාසි දසයේ උපමාව මගින් පෙන්වන්නේ දේව රාජ්‍යයේ පුරවැසියන්ට ලැබී ඇති විවිධ සහජ දක්ෂතා හෙවත් තලෙන්ත දේව රාජ්‍යයේ වැඩි වර්ධනය සඳහා කෙසේ යෙදවිය යුතුද යන්න පිළිබඳ ව ය. (ශු. ලූක් 19:11--27) දේව රාජ්‍යයේ පුරවැසියන් තමාට දේව අනුග්‍රහය තුළ ලැබී ඇති විවිධ හැකියාවන් හෙවත් තලෙන්ත හඳුනාගත යුතු අතර ඒවා දේව රාජ්‍යයේ වර්ධනය උදෙසා ඵලදායී ලෙස යෙදවිය හැකි මාර්ග අවබෝධ කර ගත යුතු වේ. රන් කාසි දසය පිළිබඳ උපමාවේ රන් කාසියක් ලැබූ දාසයා ඉන් තවත් රන්කාසි දසයක් ද, තවත් දාසයකු තමා ලැබූ රන් කාසියෙන් තවත් රන් කාසි පහක් ද උපදවා ගත්තාක් මෙන් තම හැකියා උපරිම අන්දමින් දේව රාජ්‍යයේ සේවය සඳහා යෙදවීමට එහි පුරවැසියන් උත්සුක විය යුතු ය.

**රන් කාසියක් ලැබූ තවත් දාසයකු :**

- එය සඟවා තැබුවාක් මෙන්ද
- තමාගේ කාර්යය නිසි ලෙස ඉටු නොකොට එය නොකිරීමට හේතු ලෙස ස්වාමියා විනිශ්චය කළාක් මෙන් ද,

දේව රාජ්‍යයේ පුරවැසියන් කිසිදු අයුරකින් ක්‍රියා නොකළ යුතු වේ.

**ඒ වෙනුවට දේව රාජ්‍යයේ පුරවැසියන් :**

- සුළු දෙයක් පිළිබඳ ව විශ්වාසවන්ත විය යුතු ය
- තම කැඳවීමට නිසි ලෙස ප්‍රතිචාර දැක්විය යුතු ය
- තමා ලැබූ විවිධ හැකියා අන් අයගේ යහපත සඳහා යොදා ගනිමින් දේව රාජ්‍යයේ අභිවෘද්ධිය වෙනුවෙන් නිරතුරු කැප විය යුතු ය.
- ජේසුස් වහන්සේ ප්‍රසන්න වන අයුරින් මුළු හදවතින් කැප වී සේවය කළ යුතු ය.
- තම වගකීම වෙනත් අයෙකුට පැවරීමේ අවදානමෙන් බැහැර වී තමාට භාරවී ඇති සේවය නිසිලෙස ඉටු කරමින්, දෙවියන් වහන්සේගේ වගකීමට බැඳී සිටිය යුතු ය.

- කිසිසේත් දෙවියන් වහන්සේ විනිශ්චය කිරීමට ඉදිරිපත් නොවිය යුතු අතර උන්වහන්සේගෙන් ලත් දේ තුළින් දෙවිඳුන් මහිමයට පත් කළ යුතු ය.
- සැම විට ම දෙවියන් වහන්සේට ගෞරවය ගෙන දෙන පරිදි ක්‍රියා කළ යුතු ය.

එබැවින් දේව රාජ්‍යයේ පුරවැසියන් බවට පත්වීමට යහපත් ගුණාංග හා චරිත ලක්ෂණ තම ජීවිතවල වර්ධනය කර ගනිමින් නිහතමානී ව දේව ගෞරවය උදෙසා වැයවීමෙන් සේවය කිරීම අපේක්ෂිත ය.

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ ඉදිරිපත් කළ නායකත්ව ධූරාවලිය සාමාන්‍ය ලෝකයේ නායකත්ව ධූරාවලියට වඩා හාත්පසින්ම වෙනස් වේ. මෙය පැහැදිලි කරන්න.

2. දේව රාජ්‍යයේ පුරවැසියන්ගේ ජීවිත තුළින් පිළිබිඹු විය යුතු සුවිශේෂී ලක්ෂණ 5 ක් ලැයිස්තු ගත කොට ඒවා වර්ධනය කිරීම සඳහා ක්‍රියා කළ හැකි ආකාරය පහදන්න.

# 24. දේව රාජ්‍යයේ අභියෝග

**දේවරාජ්‍ය පිලිබඳවත්, එහි වර්ධනය, ලකුණු හා ප්‍රාතිහාර්යයන් පිළිබඳවත් පසුගිය පාඩම්වල දී අපි සොයා බැලුවෙමු. දේවරාජ්‍යයේ පුරවැසිභාවය ලැබීම උතුම් වරප්‍රසාදයක් වන අතර, ඒ සඳහා අපට අභියෝගවලට මුහුණ දීමට සිදුවන බව ජේසුස් වහන්සේ බොහෝ අවස්ථාවල පැහැදිලි කර ඇත. එම අභියෝග තුළින් දේව රාජ්‍යයේ පුරවැසියන්ගේ භාරදූරකම අවබෝධ කර ගනිමින් ඊට සුදුසු ප්‍රතිචාර දැක්වීමට යොමු කිරීම මෙම පාඩමේ අපේක්ෂාව වේ.**

ශු. ලූක් 9: 57-62, 12: 13-34, 18:18-30, 16: 19-31, 14: 25-33, 18: 9-14

ජීවිත ගමනේ දී මිනිසාට විවිධ අභියෝග ජය ගැනීමට සිදු වේ. එම අභියෝග ජය ගැනීම සඳහා කැපවීමෙන් හා නිසි සූදානමින් ක්‍රියා කළ යුතු ය.

දේව රාජ්‍යයේ පුරවැසිභාවය ලැබීම ද භාරදූර අභියෝගයකි. එම විශාල අභියෝගය ජය ගැනීම සඳහා ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් මත පිහිටා කටයුතු කිරීම අපේක්ෂිත ය. එමෙන් ම එම අභියෝග ජය ගැනීම සම්බන්ධයෙන් ජේසුස් වහන්සේ කර ඇති අනතුරු ඇඟවීම් පිළිබඳ දැඩි අවධානයක් යොමු කිරීම ද අත්‍යවශ්‍ය වේ.

අපි දේව රාජ්‍යයේ පුරවැසිභාවය අපේක්ෂාවෙන් ජීවිතය ගත කිරීම අප යෙදෙන දීර්ඝ ගමනකට සමාන කරමු. මෙම ගමනේ දී අප හට විවිධ බාධක/ අභියෝග හමුවීම අනිවාර්ය වේ. ගමනාන්තය දක්වා සේන්දු වීමට නම් අප එම මාර්ග බාධක අභිබවා යා යුතු ය, එම අභියෝග ජය ගත යුතු ය.

දේව රාජ්‍යය




දේව රාජ්‍යයේ පුරවැසිභාවය පතා ගමන් කිරීමේ දී පළමු ව හමුවන්නේ කැඳවීම ලබා ගැනීම අභියෝගය යි. එම අභියෝගය දෙයාකාර වේ.

## කැඳවීමේ අභියෝගය.

ජේසුස් වහන්සේ ස්ව කැමැත්තෙන් අනුගාමී වීම.

ජේසුස් වහන්සේගේ ආරාධනය අනුව උන්වහන්සේ අනුගාමී වීම.

| | | | |
|---|---|---|---|
| අනුගාමී වීමට කැමැත්ත පළකළ පුද්ගලයකු → | "ඔබවහන්සේ යන ඕනෑම තැනකට වුව ද මමත් ඔබ අනුව එන්නෙමි." | "මා අනුව එන්න"<br>අ) "පළමු කොට මාගේ පියා භූමදාන කරන පිණිස යන්ට අවසර දුන මැනව. | ← කැඳවීම ලැබූ කෙනකු |
| ජේසුස් වහන්සේ → | " හිවලුන්ට බෙනද අහසේ පක්ෂීන්ට කැදලි ද ඇත. එහෙත් මනුෂ්‍ය පුත්‍රයාණන්ට හිස තැබීමටවත් තැනක් නැත." | "මළවුන්ගේ භූමදානය මළවුන් ම කළාවේ. ඔබ ගොස් දෙවියන් වහන්සේගේ රාජ්‍යය ප්‍රකාශ කරන්න." | ← ජේසුස් වහන්සේ |
| | | ආ) "ඔබ අනුව එන්නෙමි එහෙත් පළමු කොට මාගේ ගෙදර අයගෙන් සමුගෙන ඒමට අවසර දුන මැනව" | ← කැඳවීම ලැබූ කෙනකු |
| | | "නගුලට අත තබා ආපසු බලන කිසිවෙක් දෙවියන් වහන්සේගේ රාජ්‍යයට සුදුසු නොවේ." | ← ජේසුස් වහන්සේ |

සිය කැමැත්තෙන් ජේසුස් වහන්සේ අනුගාමී වීමට අවසර ඉල්ලූ පුද්ගලයා උන්වහන්සේගෙන් ලැබූයේ අනුගාමිත්වයේ භාරදූරකම දැක්වීමේ පිළිතුරකි. ජේසුස් වහන්සේගෙන් කැඳවීමක් නොලබා ම සිය කැමැත්තෙන් උන්වහන්සේ අනුගාමී වීමට ඔහු අවසර පැතුවේ යම් අපේක්ෂාවන් රැසක් සිත තුළ රඳවාගෙන වන්නට ඇත. ජේසුස් වහන්සේ පිළිබඳ ව එකල තිබූ ජනප්‍රියත්වය උන්වහන්සේ කළ ප්‍රාතිහාර්යයන් ආදී ලෞකිකමය ආකර්ෂණයන් ඔහු ජේසුස් වහන්සේ අනුගාමීවීමේ කැමැත්ත පසුපස තිබෙන්නට ඇත. එ නිසා උන්වහන්සේගෙන් ඔහුට ලැබෙන්නේ දිරිමත් නොවන පිළිතුරකි. එම පිළිතුරෙන් උන්වහන්සේ පැහැදිලි කරන්නේ තම මෙහෙය තුළ සුව පහසුව අපේක්ෂා කළ නොහැකි බවත් එය ඉතා දුෂ්කර මෙහෙයක් බවත්ය. මේ අනුව දේව රාජ්‍යයේ මෙහෙවර සඳහා සිය කැමැත්ත අනුව ඉදිරිපත් වන්නන් තමා ම විමසා බැලිය යුතු වේ. තමාගේ අපේක්ෂාව එම මෙහෙවර තුළ සුවපහසුව, පිළිගැනීමට ලක්වීම වැනි ලෞකික වරප්‍රසාද හා ආරක්ෂාව ආදිය නම් එම චේතනාවන් උන්වහන්සේ අනුමත නොකරන සේක. එලෙස අනුගාමී වීමෙන් පලදරන සේවාවක් අපේක්ෂා කළ නොහැකි ය. එය පරිත්‍යාගයෙන්, වැයවීමෙන්, විශ්වාසයෙන් ඇරඹිය යුතු මෙහෙවරකි. වරක් ජේසුස් වහන්සේ ම සිය ශ්‍රාවකයන් 12 දෙනා සේවයට පිටත් කිරීමේ දී (ශු.ලූක් 9:1--4) හා ධර්මදූතයන් සැත්තෑ දෙනා සේවය සඳහා යවනු ලැබූ අවස්ථාවේ දී (ශු. ලූක් 10:4--

පැවසූ වදන් මගින් ද එය සනාථ වේ. එබැවින් අපගේ අභිප්‍රායන් මුදුන් පමුණුවා ගැනීම සඳහා අපට හැකි, අප කැමති අවස්ථාවල උන්වහන්සේ අනුගාමී වීම යෝග්‍ය නොවන අතර, ඒ සඳහා උන්වහන්සේගේ නිසි කැඳවීම ලැබෙන තෙක් යාච්ඤාවෙන් හා විශ්වාසයෙන් රැඳී සිටිය යුතු වේ.

'මා අනුව එන්නැ" යි උන්වහන්සේ ම පුද්ගලයකු කැඳවූ අවස්ථාවේ දී සිය පියාගේ භූමදාන කටයුතු සිදු කිරීමට අවශ්‍ය බැව් කියමින් එම පුද්ගලයා එම කැඳවීමට නිසි ප්‍රතිචාරයක් නොදැක්වී ය. ලෞකික හේතු මත දේව රාජ්‍යයේ කැඳවීම ප්‍රමාද කිරීමට ඔහු අවසර පැතී ය. නමුත් උන්වහන්සේ පැවසූවේ "මළවුන්ගේ භූමදානය මළවුන් සිදුකලා වේ." කියාය. එනම් උන්වහන්සේගෙන් විශේෂ අවස්ථාවක කැඳවීමක් ලැබෙනුයේ දේව රාජ්‍යයේ සේවය අවශ්‍ය අවස්ථාවක් වෙනුවෙනි. එය ප්‍රමාද කළ නොහැකිය. එය ඉතා උසස් අයුරින් ඉටු කිරීම දේව අභිප්‍රාය වේ. ඒ නිසා ඒ වෙනුවෙන් අප කැපවිය යුතු ය. උන්වහන්සේගේ කැඳවීම ලබන අය දේව රාජ්‍යයේ සේවය සඳහා ක්ෂණික ව ම ප්‍රතිචාර දැක්විය යුතු ය. නොපසුබට ව ඉදිරියට යා යුතු ය. නැතහොත් ලැබුණු අවස්ථාව මග හැරී යා හැක. ජේසුස් වහන්සේගේ කැඳවීමට ප්‍රතිචාර දැක්වූ තවත් කෙනෙකුගේ ප්‍රකාශය වූයේ. "ස්වාමිනි, ඔබ අනුව එන්නෙමි." එහෙත් පළමු කොට මගේ ගෙදර අයගෙන් සමුගෙන ඒමට අවසර දුන මැනව'යි කියා ය. ඔහු තීරණ දෙකක අතරමං ව ඇති අයුරු අවබෝධ වේ. දේව රාජ්‍යයේ සේවය වෙනුවෙන් පියවර ගැනීමට පෙර ලෞකික දේ සම්පූර්ණ කිරීමට ඔහුට අවශ්‍ය ව ඇත. දේව රාජ්‍යයේ සේවයේ දී අවශ්‍ය වන්නේ කොන්දේසි විරහිත කීකරු වීමකි. එහි දී කැඳවීමට ප්‍රමුඛත්වය දීම අපේක්ෂා කෙරේ. "නගුලට අත තබා ආපසු බලන කිසිවෙක්" දේව රාජ්‍යයේ සේවයට නුසුදුසු බව ජේසුස් වහන්සේගේ ඉගැන්වීම විය. නියම අවස්ථාවේ දේව රාජ්‍යයේ කැඳවීම ලබන විට ඒ වෙනුවෙන් අන් සියල්ල කැපකිරීම අපේක්ෂිත ය.

ජේසුස් වහන්සේ දෙස පමණක් නෙත් යොමාගෙන, කිසිදු බාහිර බලවේගයකින් නොසැලී එම භාරදූර කැඳවීමට ප්‍රමුඛත්වය දීම දේව රාජ්‍යයේ පුරවැසි භාවය පතන ඕනෑ ම අයකුගේ වගකීම විය යුතු ය.

### දේව රාජ්‍යය




දේව රාජ්‍යයේ පුරවැසිභාවය ලබාගැනීමට ප්‍රයත්න දරන ඕනෑම අයකුට මුහුණ දීමට සිදුවන මීළඟ අභියෝගය නම් ප්‍රතිචාර දැක්වීමේ අභියෝගය යි. "මා අනුව එන්න යැයි කියමින් ජේසුස් වහන්සේ ලබාදෙන කැඳවීමට නිසි ප්‍රතිචාර දැක්වීම දේව රාජ්‍යයේ පුරවැසිභාවය පතන සැම අයකුගේ ම වගකීම වේ. එසේ කිරීමේ දී අනුගමනය කළ යුතු උපදෙස් මාලාවක් ජේසුස් වහන්සේ ඉදිරිපත් කර ඇත.

**සියලුම ලෞකික සම්බන්ධතාවලට දක්වන ප්‍රතිචාරයට වඩා උසස් ප්‍රතිචාරයක් දේව රාජ්‍යයේ කැඳවීමට දැක්වීම.**

අපට ඉතා සමීප හා දයාබර ව සිටින පවුලේ අය, නෑදෑ හිතමිතුරන් සියලු දෙනාට වඩා වුව ද ඉතා උසස් ම ප්‍රේමණීය ස්ථානය දේව රාජ්‍යයේ රජ වන ජේසුස් වහන්සේට ලබාදීම මින් අදහස් වේ.

**අප තුළ අපට ඇති ප්‍රේමයට වඩා උසස් ම ප්‍රේමයකින් ජේසුස් වහන්සේට ප්‍රතිචාර දැක්විම.**

එනම් අපගේ තත්ත්වය, නිළ බල, සුව පහසුව, සතුට, ආරක්ෂාව, වින්දනය ආදිය පසෙකලා දේව රාජ්‍යයේ කැඳවීමට උසස් ලෙස ප්‍රතිචාර දැක්වීම යි. නොසැලකිල්ලෙන් හා එය ඉතා පහසු දෙයක් ලෙසින් සලකා දේව රාජ්‍යයේ සේවයට අවතීර්ණ විම ජේසුස් වහන්සේ කෙලෙසකවත් අපෙන් අපේක්ෂා නොකරන සේක.

**කුරුසිය දරාගෙන දේවරාජ්‍යයේ කැඳවීම නිසි ප්‍රතිචාර දැක්විය යුතුවීම.**

රෝම නීතිය අනුව යම් මිනිසකු කුරුසි පත් කිරීමට නියම වී ඇත්නම්, ඔහු විසින් තමා ඇණ ගසනු ලබන කුරුසිය කර තබා යාමට සැලැස්වීම රෝම සොල්දාදුවන් විසින් අනුගමනය කරනු ලැබූ සිරිත විය. එය ඉතා වේදනාකාරී දුෂ්කර ක්‍රියාවක් විය. එය නිදසුනක් ලෙස භාවිත කරමින් ජේසුස් වහන්සේ ප්‍රකාශ කරන ලද්දේ දේව රාජ්‍යයේ කැඳවීමට නිසි ප්‍රතිචාර දැක්වීමට නම් අප අපගේ දෛනික කුරුසියන් එනම්, දුක් වේදනා, ප්‍රශ්න ගැටළු, අන් අය කෙරෙහි ඇති තිත්තකම්, ක්‍රෝධය, වෛරය , අප තුළ ඇති ආඩම්බරය වැනි දේ ජේසුස් වහන්සේ වෙත ගෙනවිත් ඒවා කුරුසිපත් කළ යුතු බව යි. එනම්, එයින් නිදහස් විය යුතු බව යි. එවිට දේව රාජ්‍යයේ කැඳවීමට අර්ථවත් ලෙස ප්‍රතිචාර දැක්වීමට අපට හැකියාව ලැබේ.

**කැඳවීමට ප්‍රතිචාර දැක්වීමේ දී එහි භාරදූරකම වටහා ගත යුතු බව**

ඒ සඳහා ජේසුස් වහන්සේ අනගි නිදසුන් දෙකක් භාවිතා කරන සේක. එනම් ;

- මුර අට්ටාලයක් සාදා නිම කිරීමට පෙර එයට යන මුළු වියදම් ගණන් බලා ඒ සඳහා සූදානම් වීම හා
- යම් රජ කෙනකු යුද්ධයට යාමට පෙර තම ප්‍රතිවාදියාට මුහුණ දීමට හැකිවන අයුරින් සේනා සංවිධානය කිරීම යි .

ඉතාමත් භාරදූර තීරණයක් වන දේව රාජ්‍යයේ පුරවැසි භාවයට එළඹීමේ දී ඉන් ඇති විය හැකි ප්‍රතිවිපාක අවබෝධ කර ගැනීම මගින් එම සේවයට ඇතුල්වීම අපේක්ෂිත ය.

**තමා සතු සියල්ල අත්හරිමින් දේව රාජ්‍යයේ සේවයට/කැඳවීම ප්‍රතිචාර දැක්වීම.**

එනම් මමත්වය/තම කම නසා දමා මුළු හදවතින් දේව රාජ්‍යයේ කැඳවීමට ප්‍රතිචාර දැක්වීම යි. මෙහි දී තමාට හිමි ලෞකික වරප්‍රසාද, සැප සම්පත් සියල්ල අහිමි වී යා හැකිය. "මෙලොව තම ජීවිතය පවා රැක ගන්නා එය නැතිකරගන්නේ ය. එය නැති කර ගන්නා එය ලබා ගන්නේ ය"යන ජේසුස් වහන්සේගේ වදන් මගින් එය මනාව පැහැදිලි

වේ. එබැවින් එම උපදෙස් මාලාව මගින් සනාථ වන්නේ දේව රාජ්‍යයේ පුරවැසි භාවය සම්බන්ධයෙන් අප ලබන කැඳවීමට නිසිප්‍රතිචාර දැක්වීමේ දී එහි භාර දූර බව මැනවින් වටහා ගනිමින් එම තීරණයට එළඹිය යුතු බව යි.




දේව රාජ්‍යයේ පුරවැසිභාවය ලැබීමට අපේක්ෂා කරන අය තම ජීවිතවල මුහුණ දෙන වැදගත් අභියෝගයකි නිහතමානී වීම. ජේසුස් වහන්සේ පැවසූ අනගි උපමාවක් වන යාච්ඤා කිරීමට ගිය පරිසියා හා අයකැමියාගේ උපමාව මගින් දේව රාජ්‍යයේ පුරවැසියන්ට මහත් අභියෝගයට මුහුණ පෑමට සිදුවීම විස්තර කර තිබේ. එහි සඳහන් දෙදෙනාගේ ම අරමුණ දේව මාළිගයේ සිට යාච්ඤා කිරීම යි. පරිසිවරයා යාච්ඤාව මගින් තමා ධර්මිෂ්ඨයකු බව කියා පෑමට ප්‍රයත්න දැරී ය.

**ඔහු**

කාමමිථ්‍යාචාරී කෙනකු නොවේ
වස්තු ලෝභී නොවේ
වංචනික නොවේ.

අයකැමියා වැන්නෙක් නොවේ
සතියකට දෙවරක් උපවාස කරයි
දසයෙන් කොටස දෙයි.

ඔහු සිතන පරිදි ඔහු ධර්මිෂ්ට මිනිසෙකි. නමුත් නිහතමානිකම හරහා දෙවියන් වහන්සේගේ ධර්මිෂ්ඨ කමට ඇතුළු වීමට ඔහුට හැකියාවක් නොවී ය. ස්වර්ගය දෙසවත් නොබලා සිය ළයට ගසා ගනිමින්, තම පව්කාර ස්වභාවය නිහතමානී ව, දෙවියන් වහන්සේ ඉදිරියේ කියා සිටි අයකැමියා, දෙවියන් වහන්සේගේ ප්‍රසාදයට පත්වූ ආකාරය පෙනේ. දේව රාජ්‍යයේ පුරවැසිභාවය හිමි කර ගැනීමට අපේක්ෂා කරන යම් කෙනකු වේද ඔහු අයකැමියාගේ නිහතමානීත්වය පිළිබිඹු කළ යුතු වේ. වරක් ජේසුස් වහන්සේ පැවසූ ලෙස දේවරාජ්‍යයේ පුරවැසිභාවය හිමි කර ගැනීම සඳහා දරුවකු මෙන් නිහතමානීවීම අවශ්‍ය වේ. (ශු. ලූක් 18:16--17) දේවරාජ්‍යයේ පුරවැසියන් කෙසේ හෝ එම අභියෝගය ජයගත යුතු බව සනාථ කිරීම සඳහා ජේසුස්වහන්සේ නිහතමානී වීම සම්බන්ධයෙන් ආදර්ශවත් වූ සේක. උන්වහන්සේ ම ශ්‍රාවකයන්ගේ පාද සේදූ සේක. (ශු. ජොහාන් 13:4--9) තමකම නසා දමා නිහතමානීත්වයෙන් **දෙවියන්වහන්සේ කේන්ද්‍රික ජීවිතයක්** ගත කිරීම සඳහා එමගින් ලැබෙන මඟපෙන්වීම ඉතා අගනේ ය.

# දේව රාජ්‍යය




දේව රාජ්‍යයේ පුරවැසිභාවය ලැබීම ඉතා භාරදූර කර්තව්‍යයක් බව මෙතෙක් අප ආගමනේ දී හමුවූ මාර්ග බාධක මගින් අපි වටහා ගනිමු. එය ඉතා අභියෝගාත්මක, දුෂ්කර චාරිකාවකි. එම චාරිකාවේ දී අපට මුහුණ දීමට, සිදුවන තවත් වඩාත් අපහසු අභියෝගයක් පිළිබඳ ජේසුස් වහන්සේ දැඩි ලෙස අනතුරු අඟවා ඇත. එනම් ලෞකික සම්පත්වලට නොමනා ලෙස ඇතුළුවීමේ අභියෝගය යි. මෙහිදී ලෞකික සම්පත් යන්නට නොයෙකුත් අර්ථකථන දිය හැකි ය. වස්තුව, ධනය, මිල මුදල්, වතු පිටි, යානවාහන යන සියල්ල ලෞකික සම්පත් ගණයට වැටේ. ජීවත්වීම සඳහා මිනිසාට බොහෝ අවශ්‍යතා සපුරාගත යුතු ව ඇත. වර්තමාන ලෝකයේ එම අවශ්‍යතා ඉතා සංකීර්ණ වී තිබේ. නමුත් කෙතරම් අවශ්‍යතා සංකීර්ණ වුව ද දේව රාජ්‍යයේ පුරවැසියන් ඒ පිළිබඳව කරදර නොවිය යුතු බව ජේසුස් වහන්සේ අවධාරණය කරන සේක

**කුමක් කමුද කියා ජීවිතය ගැනවත්,**
**කුමක් අඳිමුද කියා ශරීරය ගැනවත් කරදර නොවන්න.**
**කෑමට වඩා ජීවිතය ද, ඇඳුමට වඩා ශරීරය ද උතුම් ය.**
**ශු. ලූක් 12:22-23**

දේව රාජ්‍යයේ පුරවැසියන් සිය අවශ්‍යතාවල ඇලී ගැලී ඒ පිළිබඳ ව කරදර වීම අනවශ්‍ය බව දැක්වීමට , ජේසුස් වහන්සේ නිදර්ශන දෙකක් ඉදිරිපත් කරන සේක.

**කපුටන්**
වපුරන්නේ නැත,
කපන්නේ නැත,
අටු කොටු නැත,
ගබඩා නැත

මානෙල් මල්
නූල් කටින්නේ නැත
වියන්නේ නැත

එහෙත් දෙවියන් වහන්සේ,
**කපුටන් පෝෂණය කරන සේක. මානෙල් මල් අලංකාර කරන සේක. තෘණ සරසන සේක. ඊටත් වැඩියෙන් උන්වහන්සේගේ දරුවන්ගේ අවශ්‍යතා සපයන සේක.**

එනිසා දේව රාජ්‍යයේ පුරවැසිභාවය අපේක්ෂා කරන්නන් ;

**ලෞකික දේ ගැන අනවශ්‍ය ලෙස කරදර වීමෙන් වැලකී උන්වහන්සේගේ රාජ්‍යය ද ධර්මිෂ්ඨ කම ද සෙවීමට උත්සුක විය යුතු ය.**

**කුඩා රැළ බිය නොවන්න. ඔබට රාජ්‍යය දෙන්ට**
**ඔබගේ පියාණන් වහන්සේ සැදී පැහැදී සිටින සේක.**
**ශු. ලූක් 12:32**

උත්සුක වන්න

**ලෞකික සම්පත් ගැන කරදර නොවී ධර්මිෂ්ඨකම රැස් කිරීමට**

**මා සමග අපේ උරුමය බෙදාගන්ට මාගේ සහෝදරයාට කිව මැනව.**
**ශු. ලූක් 12:13**

**ශු. ලූක් 12:13-21**
**පොහොසත් මෝඩයාගේ උපමාව**

උත්සුක වන්න

සියළු ආකාර තණ්හාවලින් පරිස්සම් වීමට

ජීවිතයේ හිමිකාරත්වය දෙවියන් වහන්සේට පමණක් භාර කිරීමට

හැකිතරම් ආධ්‍යාත්මික සම්පත් රැස්කර ගැනීමට

**ඔබ සතු දේ විකුණා දන් දෙන්න ශු. ලූක් 12:33**

**නොදිරන පසුම්බි ද නොපිරිහෙන වස්තු ද ස්වර්ගයෙහි ඔබට සපයා ගන්න.**
**ශු. ලූක් 12:33**

**අහෝ ධනවත් වන ඔබට වන විපතක මහත. ශු. ලූක් 6:24**

**ධනවතකු දෙවියන් වහන්සේගේ රාජ්‍යයට ඇතුළුවීමට වඩා ඔටුවකුට ඉදිකටු මලින් රිංගා යාම පහසු ය. ශු. ලූක් 18:25**

**ස්වාමිවරුන් දෙදෙනකුට සේවය කිරීමට කිසි සේවකයකුට නොපුළුවන.**
**දෙවියන්වහන්සේට හා වස්තුවට සේවය කරන්න ඔබට නොහැකිය. ශු. ලූක් 16:13**

උත්සුක වන්න

විනාශ නොවන ස්වර්ගික වස්තුව මත විශ්වාසය රැඳවීමට

ආධ්‍යාත්මික සැප සම්පත් නිදහසේ භුක්ති විඳීමට

**ශු. ලූක් 16:19-31**
**ධනපතියා හා ලාසරස්**

දෙආකාර ජීවන රටා පිළිබඳ ව මඟ පෙන්වන දේව රාජ්‍යයේ පුරවැසිභාවය පතන්නන් තෝරා ගත යුත්තේ කුමක් ද?

## 1 වන ජීවන රටාව - ධනවත් බවේ ජීවන රටාව

සියලු සැප සම්පත් හිමිවීම

ධනවතා කේන්ද්‍ර කොට ගත් සැප සම්පත් පිරුණු ජීවන රටාව

වටිනා සළුපිලි ඇඳීම

සුඛෝපභෝගී ආහාර අනුභව කිරීම

සුඛ විහරණයෙන් කල් යැවීම

## 2 වන ජීවන රටාව - දිළිඳු බවේ ජීවන රටාව

අසරණ ව රෝගී ව සිටීම

ලාසරස් කේන්ද්‍ර කොට ගත් දුංඛිත ජීවන රටාව

ජීවත් වීමට නිවසක් පවා නොතිබීම

සාගිනි ව සිටීම

ඉතා දුකසේ කල් යැවීම
කිසිදු හිතවතෙක් නොවීම

ධනවත් වීමේ අයහපතක් හෝ දිළිඳු වීමේ යහපතක් නැත. ඉහත ජීවන රටා දෙකට ම පොදු ධර්මතාවයක් ඇත. එනම් **මරණය යි.**

නමුත් පළමු වන ජීවන රටාවට අනුගත වූවන් දේවරාජ්‍යයේ පුරවැසිභාවය අපේක්ෂා කරන්නේ නම්, පොදු ධර්මතාවයට මුහුණ පෑමට පෙර තම ජීවිත පරිවර්තනයක් අත්දැකිය යුතු ය. නැතහොත් ධනය හා ලෞකික සැප සම්පත් බාධකයක් වී ඔවුන්ට දේව රාජ්‍යයේ මඟ අහුරවාලිය හැකිය.

ඒ නිසා,
ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් අනුව සිදුවිය යුත්තේ

**පළමු ජීවන රටාවට අනුගත වූවන්, දයානුකම්පාවෙන් දෙවන ජීවන රටාවට අයත්වූ අය රැක බලා ගැනීමයි. ඔවුන්ට උපකාර කිරීමයි. දැහැමි බවෙන් හා ප්‍රේමයෙන් ඔවුන් ගැන සැලකිලිමත් වීමයි.**

ඔවුන්ට සැප සම්පත් හිමි වුව ද, හදවතින් දිළිඳු වීමෙන් එය ඉටු කිරීමට පහසු වනු ඇත. එවිට,

සදාතන ගින්න හෙවත් නිරය වෙනුවට
සදාතන ජීවනය හෙවත් ස්වර්ගික සැපත
නිතැතින්ම ඔවුන්ට හිමිවනු ඇත.
එසේ ක්‍රියා කිරීමට මග දක්වන්නේ
දිනපතා දේව වචනය කියවීම
නොකඩව යාච්ඤාවේ යෙදීම හා මනස්ථාපනය වීම මගින්

**ජේසුස් වහන්සේට නිරතුරුම සමීප වීම යි.**

**එනිසා දේව රාජ්‍යයේ පුරවැසි භාවය පතන සෑම දෙන**

.

එහි භාරදූරත්වය වටහා ගනිමින්. . . .
කැඳවීමට නිසි ප්‍රතිචාර දක්වමින්. . . .
තම කුරුසිය දරමින්. . . .
ලෞකික සැප සම්පත් මත නොරැඳෙමින් . . . .
නිහතමානී ව දිවි ගත කරමින් . . . .
ආධ්‍යාත්මික ව පරිපූර්ණ වෙමින්. . . . .

ජේසුස් වහන්සේගේ දිරිය සවිය ලැබ සියලු ජීවිත අභියෝග ජයගැනීමට අදිටන් කළ යුතු වේ.

එවිට මහත් අභියෝගවලින් පිරුණු කටුක, දීර්ඝ ගමනාන්තය සදාකාල ප්‍රීතියක් ම වනු නොඅනුමාන ය.

ක්‍රියාකාරකම

1. පහත සඳහන් අවස්ථාවලදී ඔබට දේව වචනය තුලින් ඇති මඟ පෙන්වීම කුමක්දැයි පැහැදිලි කොට, ඒ අනුව ඔබ ගන්නා තීරණය ලියා දක්වන්න.

    1. ඉරුදින උදෑසන විනෝද චාරිකාවට සහභාගී වීමට සිදු වීම

    2. රැකියාවක් තෝරා ගැනීමේ දී

2. ජේසුස් වහන්සේ විසින් කරන ලද පහත සඳහන් ප්‍රකාශවලින් ඔබට ලැබෙන පණිවුඩය පහදන්න.

    1. "නගුලට අත තබා ආපසු බලන කිසිවෙක් දෙවියන් වහන්සේගේ රාජ්‍යයට සුදුසු නැත."

    2. "නොදිරන පසුම්බි ද, නොපිරිහෙන වස්තු ද ස්වර්ගයෙහි ඔබට සපයා ගන්න"

# 25. දේව රාජ්‍යය උදෙසා කැපවීම

**පසුගිය පාඩමෙන් උගත් පරිදි දේව රාජ්‍යයේ පුරවැසිභාවය ලැබීම භාරදූර කර්තව්‍යයකි. එම භාරදූරත්වය තුළ දේවරාජ්‍යයේ තීරණාත්මක අවස්ථා පිළිබඳ ව නිසි අවබෝධයකින් පසුවීම අපේක්ෂා කෙරේ. දේව රාජ්‍යයට පිවිස සදාතන ජීවනය උරුම කර ගැනීම සඳහා නිසි සූදානමින් කටයුතු කිරීමට යොමුවක් මෙම පාඩමින් ලැබේ.**

ශු. ලූක් 12: 35-40, 12: 42-48, 13: 1-9 , 13:22-30

ගුරුතුමා : කෝ ඔයාලා තවම සූදානම් නැද්ද?

සත්‍ය : සර් තවම කණ්ඩායමේ අය සූදානම් වෙනවා. සමහරු තවම ඇවිත් නැහැ.

ගුරුතුමා : මා ඔයාලට කියලා තියෙන්නේ මා එන්න කලින් ඇවිත් සූදානම් වෙලා ඉන්න කියලා, ක්‍රීඩකයෝ වුණා ම නිසි සූදානමක් වගේ ම කැපවීමක් අවශ්‍ය යි. හොඳයි ඇවිල්ලා ඉන්න ටික දෙනා, සූදානම් වෙලා එන්න. අපි පුහුණුවීම් පටන් ගනිමු.

සිසුන් : අපි සූදානම් සර්

ගුරුතුමා : දැන් අර හුණුවලින් ඇඳලා තියෙන ඉර දිගේ හිටගන්න. උපදෙස් වලට හොඳින් සවන් දෙන්න. දිනුම් කණුව කියන ඉලක්කය ළඟට දුවන්න නම්, හොඳ අවධානයෙන් සූදානම් වෙන්න. එකයි ! දෙකයි ! තුනයි !

තරගයක තීරණාත්මක දිනය එළඹෙන විට සැම ක්‍රීඩකයකුට ම පෙර පුහුණුව හා නිසි සූදානම අත්‍යවශ්‍ය වේ. එලෙසම දේවරාජ්‍යයේ තීරණාත්මක මොහොත සඳහා නිසි සූදානමක් ඇති ව සිටීමට දේව රාජ්‍යයේ පුරවැසි සැම දෙනාට ම ජේසුස් වහන්සේ උපදෙස් දී ඇත.

**දේව රාජ්‍යයේ තීරණාත්මක මොහොත වනුයේ ජේසුස් වහන්සේගේ නැවත පැමිණීම යි.**

උන්වහන්සේ ම ඒ පිළිබඳ ව මෙසේ පවසා ඇත.

**" මෙන්න මම ඉක්මනින් එමි. එකිනෙකාට තම තමන්ගේ ක්‍රියා අනුව දෙන පිණිස මා සමඟ විපාක ගෙන එමි."**

**එළිදරව් 22 : 12**

ඔබ සූදානම්ද? ඒ තීරණාත්මක මොහොතට මුහණ දීමට ............

**ඒ සඳහා වන පළමු පියවර**

**ශු. ලූක් 12: 35- 40**

දේව රාජ්‍යයේ පුරවැසියන් එම තීරණාත්මක මොහොතට මුහුණ දීම සඳහා නිසි පරිදි සූදානම් විය යුතුය.

**" ඔබේ ඉඟ පටි බැඳ ගන්න, පහන් ද දල්වා තබා ගන්න"**යන්නෙන් ජේසුස් වහන්සේ පැරණි සමාජයේ පින්තූරයක් ඉදිරිපත් කරන සේක. එම සමාජයේ මිනිසුන් දිගු වස්ත්‍ර ඇඳීමට පුරුදු ව සිටි අතර, යම් කාර්යයක නිරත වීමට අවශය වූ විට ඔවුහු එම වස්ත්‍ර ඉන වටා බැඳගත්හ. එහි අදහස වූයේ ඔවුන් ක්‍රියා කිරීම සඳහා සූදානම් බව යි.

මෙම කෙටි රූපකය මගින් ජේසුස් වහන්සේ

- ★ දේව රාජ්‍යයේ පුරවැසියන් උන්වහන්සේ නැවත වඩින මොහොත වන තෙක් ඉවසිල්ලෙන් හා සූදානමින් බලා සිටීම
- ★ උන්වහන්සේගේ කාර්යයන්හි එනම් දේව රාජ්‍යයේ සේවයෙහි නිරත ව සිටීම අපේක්ෂා කරන බව දක්වන සේක.

අවදිව සිටීම | අපේක්ෂාවෙන් සිටීම | සූදානමින් සිටිම | නොඉවසිල්ලෙන් සිටීම

මෙසේ සූදානමින් සිටින දේවරාජ්‍යයේ පුරවැසියන් ;

**ජේසුස් වහන්සේගේ විශේෂ අනුග්‍රහය හා ආදරය ලබනු ඇත.**

එහෙත් උන්වහන්සේ වඩින මොහොත පිළිබඳ පෙර දැනුම් දීමක් නැත. උන්වහන්සේ පමණක් එය දන්නා සේක. එය ගෙයක් බිඳීමට සොරකු එන්නාක් මෙනි. (ශු. ලූක් 12:39)

උන්වහන්සේගේ විශ්වාසදායක දාසයන්ට උන්වහන්සේ වඩින මොහොත පිළිබඳ ව බියක් නොමැත. මන්ද ඔවුන් ඕනෑ ම අවස්ථාවක සූදානම් ව සිටින බැවිනි. එබැවින් බලාපොරොත්තු නොවන පැයක දී ජේසුස් වහන්සේ නැවත වඩින විට දේව කැමැත්ත ඉටු කරමින් විශ්වාසයෙන් සූදානම් ව බලා සිටින දේව රාජ්‍යයේ පුරවැසියන් භාග්‍යවන්තයන් වනු ඇත. ඔබ සූදානම් ද නැවත වඩින උන්වහන්සේ පිළිගැනීමට ?

**දෙවන පියවර**

**ශු. ලූක් 12: 42 - 48**

ජේසුස් වහන්සේ නැවත වඩින තෙක්; දේව රාජයයේ සේවයට කැපවූ අයගෙන් උන්වහන්සේ අපේක්ෂා කරන්නේ කුමක් ද?

වඩාත් වගකීම් සහිත වූ සේවයකි.

උන්වහන්සේගේ අපේක්ෂා මුදුන් පමුණුවන දාසයා

## විශ්වාසදායකය සිහි නුවණින් ක්‍රියා කරයි

උන්වහන්සේ පැමිණෙන විට ඔහුගෙන් අපේක්ෂා කරන්නේ; ඔහු තම සේවයෙහි යෙදී සිටීම යි.

එනම්,

- ★ සැමවිටම උන්වහන්සේට සේවය කිරීම යි
- ★ උන්වහන්සේගේ දාසදාසයින්ට නිසි ලෙස සැලකීමයි
- ★ තම ලෞකික ආශාවන් උන්වහන්සේ වෙනුවෙන් කැපකිරීමයි
- ★ ජේසුස් වහන්සේගේ කැමැත්ත හා වචනය අනුව සංවිධානාත්මක හා වගකීම් සහිත සේවයක් ඉටු කිරීම යි.

**ඒ සඳහා ලබන වරප්‍රසාදය නම් ජේසුස් වහන්සේගේ විශ්වාසනීයත්වයට ඔහු ඇතුළු වී වගකීම් ඉටු කිරීමට සුදුස්සකු වීම යි.**

***යමකුට බොහෝ දේ දෙන ලද්දේ ද
ඔහුගෙන් බොහෝ දේ බලාපොරොත්තු වනු ලැබේ.***

***යමකුට බොහෝ දේ පවරන ලද්දේ ද
ඔහුගෙන් ඊටත් වැඩියෙන් බලාපොරොත්තු වනු ලැබේ.***

## උන්වහන්සේ නැවත වඩින විට;

- ★ අනුවණකම නිසා දේව කැමැත්ත ඉටු නොකර සිටීම උන්වහන්සේ ප්‍රසන්න වන කාර්යයක් නොවේ. අනුවණකමින් බැහැර වී දෙවියන් වහන්සේගේ ප්‍රඥාව සොයා ගැනීමට දේව රාජ්‍යයේ පුරවැසියන්ට උන්වහන්සේ බොහෝ මාර්ග විවෘත කර ඇත.

- ★ එමෙන් ම දේව කැමැත්ත දැන, එය ඉටු නොකර සිටීම ඉතා බලවත් වරදකි. එය දේව රාජ්‍යයේ සේවකයනට නොහොබී. ඔවුනට සදාතන ජීවනය අහිමි වීමට එය හේතුවක් වේ.

ඒ නිසා දේව රාජ්‍යයේ පුරවැසියන් විශ්වාසදායක, වගකීමෙන් යුත් දාසයන් ලෙස දේව කැමැත්ත ඉටු කරමින් ජේසුස් වහන්සේගේ කාලය පැමිණීම ප්‍රීතියෙන් අපේක්ෂා කරමින් සේවයෙහි යෙදීම අත්‍යවශ්‍ය වේ. ඔබට හැකි ද එම වගකීම් නිසි ලෙස ඉටුකරලන්නට ?

## ශු. ලූක් 13 : 1-9

**"දෙවියන් වහන්සේගේ රාජ්‍යය ආසන්නය; මනස්ථාපනය වන්න,
සුබ අස්න අදහා ගන්න" ශු. මාර්ක් 4: 15**

යනුවෙන් පවසමින් ජේසුස් වහන්සේ දේව රාජ්‍යයට ඇතුළු වීමට අපේක්ෂා කරන අය සිය පාප පිළිබඳ ව මනස්ථාපනය විය යුතු බව දේශනා කළ සේක.

**පව් කමාව පිණිස මනස්ථාපනය වී බෞතිස්ම ස්නාපනය ලබන්න. ශු. ලූක් 3: 3**

යැයි පවසමින් ස්නාවක ජොහාන් සෙනඟ ජෝර්දාන් නදියෙහි මනස්ථාපනයෙහි බෞතීස්ම ස්නාපනයට යොමු කළේ ය. එම ක්‍රියාකලාප තුළින් පැහැදිලි වනුයේ මනස්ථාපනය දේව රාජ්‍යයේ පුරවැසියනට සාධකයක් බවය. එය පහත සටහන මගින් පැහැදිලි වේ.

පාප සඳහා මනස්ථාපනය

↓

දෙවියන් වහන්සේ සමඟ සබඳතාව

↓

සදාතන ජීවනය

'යමකු දුක් විඳිනුයේ සිය පාප හේතු කොට ගෙනය' යන්න ඉශ්‍රායෙල් සමාජයේ මුල්බැස ගෙන තිබූ මතයකි.

**හෙරෝද් විසින් මරා දමනු ලැබූ ගලීලයන්
ශු. ලූක් 13: 1**

**සිලෝවම් බලකොටුව වැටී ඊට යට වී මියගිය ජෙරුසලමේ වැසියන් දහඅටදෙනා
ශු. ලූක් 13 : 4**

ඔවුන්ගේ දුෂ්ටකම් හා පාපය කරනකොටගෙන මියගිය බව'
ජුදෙව් වැසියන්ගේ විශ්වාසය හා අදහස විය.
නමුත්
ජේසුස් වහන්සේගේ ඉගැන්වීම නම්;
දුක් විඳීම, විශේෂ දුෂ්ටකම් නිසා ඇති වන්නක් නොවන බව ය.

ජේසුස් වහන්සේට අනුව → මනස්ථාපනය නොවීම ඊට වඩා විපතකි.

ජනතාව අන් අයගේ ජීවිත සිදුවීම්වලට අර්ථ කථන දෙති. නමුත්, තම ජීවිතවල, මනස්ථාපනය නොවීමෙන් වන විපත ඔවුහු වටහා නොගනිති. ජෙරුසලමේ හා සිලෝවම් හි වැසියන්ට සිදුවූ විපත්, ඔවුන් ලද දඬුවම් නොවේ . එය ජීවත් ව සිටින්නන්ට අනතුරු ඇඟවීමකි. එනම් මනස්ථාපනය නොවුණහොත් විනාශ වන බවට සංඥාවකි.

හදිසියේ පැමිණෙන එවැනි සිදුවීම් මනස්ථාපනය සඳහා ලැබෙන කැඳවීම් වේ. විශේෂයෙන් ම අප ජීවිත තුළින් ඵල නොදැරීම පිළිබඳ ව මනස්ථාපනය විය යුතු ය. අන් අයගේ ජීවිත සිදුවීම් පිළිබඳව නිරතුරු ව ම විමසමින්, ඒ පිළිබඳ ව කතාබහ කරමින් කාලය නාස්ති කරන අය මනස්ථාපනය තුළින් තම ජීවිත ආකල්ප හැඩගස්වා ගත යුතු ය. එදා ජෙරුසලමේ වැසියන් මෙන් **ඵල නොදැරූ අත්තික්කා ගසක්** බවට පත් නොවී, ඵල දරන්නන් වීමට ජේසුස්වහන්සේ දේව රාජ්‍යයේ පුරවැසියන් කැඳවන සේක. උන්වහන්සේ, මනස්ථාපනය තුළින් අප ජීවිත වෙනස් කරගැනීමට අපට ද කාලය ලබා දෙන සේක. එම කාලය උපරිම ලෙස භාවිතයට ගනිමින් මනස්ථාපනයේ ඵල අප ජීවිත තුළින් විදහා දැක්වීමට අප ප්‍රයත්න දැරීම අත්‍යවශ්‍ය වේ. සදාතන ජීවනයේ උරුමකරුවන් බවට පත්වීමට හැකියාව ලැබෙන්නේ එසේ මනස්ථාපනයේ ඵල අප ජීවිත තුළින් විදහා දක්වන්නන් වුවහොත් පමණි. ඒ නිසා මනස්ථාපනය ප්‍රමාද නොකළ යුතු කරුණකි.

## හතරවන පියවර

**ශු. ලූක් 13ඃ 22-30**

බොහෝ දෙනකු ඇතුළු නොවන, පටු දොරටුවෙන් ඇතුළු වීමට උත්සාහ කරන්න.

ජේසුස් වහන්සේ ආයාචනා කරන්නේ දේව රාජ්‍යයේ පුරවැසියන් ගැළවීම නැතහොත් සදාතන ජීවනය උරුම කරගනු පිණිස ය.

| සදාතන ජීවනයේ මාර්ගය | පටු ය, බොහෝ දුෂ්කර ය, කටුක ය | නමුත් අවසානයේ ලැබෙන්නේ දිරා නොයන කිරුළකි. මහා මංගල භෝජනයකි. එය සදාතන ජීවනය යි. |
|---|---|---|

දේවත්වයේ ජීවිතයක බලය අත්දැකීම සඳහා දේව රාජ්‍යයේ පුරවැසියන් පටු දොරටුවෙන් ඇතුල් විය යුතු ය. බොහෝ දෙනෙක් වීර්ය කරන නමුත්, ඔවුන්ට අවස්ථාව නොලැබේ.

දේව රාජ්‍යයේ පුරවැසියන් එම 'බොහෝ දෙනා' අනුගමනය නොකළ යුතු ය. ස්වාමියා දොර වසන්නට පෙර පටු දොරටුවෙන් ඇතුල් වීමට උත්සාහ කළ යුතු ය. ස්වාමියා ඇතුළුවීමට අවසර නොදෙන්නේ ;

**උන්වහන්සේගේ ප්‍රේමණීය සබඳතාවයට ඇතුළු නොවන අයට, අදමිටුකම් කරන අයට උන්වහන්සේ නිසි ලෙස හඳුනා නොගත් අයට ය.**

එහෙත්
දේව රාජ්‍යයේ පුරවැසියන් උන්වහන්සේ හොඳින් හඳුනා ගෙන;

**උන්වහන්සේ සමඟ ගැඹුරු සම්බන්ධතාවයකට පැමිණ උන්වහන්සේට සිය ජීවිත සම්පූර්ණයෙන් භාර කළ යුතු ය.**

'දැන් අන්තිමයන් ව සිටින සමහරු ප්‍රථමයෝ ද දැන් ප්‍රථමයන් ව සිටින සමහරු අන්තිමයෝ ද වන්නෝය.

සදාතන ජීවනය නමැති මංගල භෝජනයේ රස බැලීමට එක්වන්නන් මෙලොව දී කිසිදු වටිනාකමක් නොලැබූ සුළු කළවුන්, එපා කරනු ලැබූවන් වීමට හැකි ය. නමුත් ඔවුහු පටු දොරටුවෙන් ඇතුළුවීම හේතුකොට ගෙන, 'ප්‍රථමයන්'යැයි ගණන් ගනු ලබති.

ඔවුහු සදාකල් දේව රාජ්‍යයේ ආසිරි ලබන්නෝ වෙති.

**ගැළවීම ලබන්නන් කවරහු ද? ඔවුහු ම වෙති.**

එ නිසා දේව රාජ්‍යයේ පුරවැසියන්;

**ක්‍රිස්තුස් වහන්සේ නැවත වඩින මොහොත තෙක්;**

- ⋆ නිරතුරු සූදානමින් විශ්වාසදායක හා වගකීමෙන් යුත් සේවයක් ඉටු කළ යුතු ය.
- ⋆ සැබෑ ලෙස අවංකව මනස්ථාපනය විය යුතු ය.
- ⋆ නිරතුරු ව ම ජේසුස් වහන්සේ සමග ගැඹුරු සබඳතාවයකට ඇතුලත් විය යුතු ය.

එවිට;<br>
ඔවුන් ගැළවීම ලබනු ඇත.<br>
සදාතන ජීවනය නමැති මහා මංගල භෝජනයේ රස<br>
බලනු ඇත.

ක්‍රියාකාරකම

01. පහත සංකේත මගින් දේව රාජ්‍යයේ පුරවැසියන්ට ජේසුස් වහන්සේ ඉදිරිපත් කළ මග පෙන්වීම් කවරේ ද ?

i) "ඉඟපටි බැඳ පහන් දල්වා ගැනීම"<br>
ii) "අත්තික්කා ගස"<br>
iii) 'පටු දොරටුව'

02. 'දේව රාජ්‍යයේ පුරවැසියන් විශ්වාසදායක හා වගකීමෙන් යුතු සේවයක් ඉටු කළ යුතුය' පැහැදිලි කරන්න.

# 26. දෙව් වදනින් ආලෝකයක්

**විහිපිට දේවරාජ්‍යය ස්ථාපනය කිරීම, ජේසුස් වහන්සේගේ සේවයේ, විශේෂිත අරමුණක් විය. එය ඉටුකර ගැනීමට, ජනතාව දැනුවත් කිරීමට විවිධ ඉගැන්වීම් ක්‍රම උපයෝගි කරගත් සේක. තම දේශන මගින් අවබෝධය ලබා දීම එක් මාර්ගයක් විය. අද අප යොමු වන පාඩම, ඒ පිළිබඳ අධ්‍යයනයකි. ශු. ලූක් තුමා ඉදිරිපත් කර ඇති මිටියාවතේ දේශනය ගැන වාර්තාව අපට පිටුවහලකි.**

## ශු. ලූක් 6

**මතෙව් සුබසුනෙහි 5-7 පරිච්ඡේදවල ඇති කන්ද උඩ දේශනයේ හරය ලූක් සුබසුනෙහි 6 වන පරිච්ඡේදයේ ඇති බව පෙනේ.**

විශිෂ්ට ගුරුවරයකු ලෙස තක්සේරු ව ලත් ජේසුස් වහන්සේ දේව රාජ්‍යයේ ගැඹුරු ගුණධර්ම, පොදු ජනතාවට පිළිගැන්වූයේ ඇරමෙයික් භාෂාවෙනි. උන්වහන්සේට සවන් දීමට පැමිණි අය ඇමතීමට, පරිසරය ආශ්‍රිත මුහුදු වෙරළ, කඳු මුදුන් හා මිටියාවත් තෝරාගත් සේක. අද අප අධ්‍යයනය කරන්නේ ජේසුස් වහන්සේ මිටියාවතක දී දෙසූ දේශනයකි.

### ශු. ලූක් 6: 20-26
### භාග්‍ය හා අභාග්‍යය

ධනවත්කම දේවාශීර්වාදයේ ලකුණක් ලෙස ද දිළිඳුකම ශාපලත් බවේ ලකුණක් ලෙස ද ජුදෙව්වරු පිළිගත්හ. නමුත් ජේසුස් වහන්සේ දිළිඳුකම ආදර්ශ කොටගෙන ආධ්‍යාත්මික සත්‍යයක් ප්‍රකාශ කළ සේක.

දිළිඳු වූ ඔබ භාග්‍යවන්තය. මන්ද දෙවියන් වහන්සේගේ රාජ්‍යය ඔබගේ ය. දිළින්දාට තම අඟ හිඟකම් දැනේ. නමුත් දේව වචනයේ හරය ගැන නොදැනුවත් වුවත් දෙවිඳුන්ගේ සරණ, පිහිට පැතීමට, උන්වහන්සේ තුළ රැඳී සිටීමට දිළිඳු වන්නෝ භාග්‍යවන්තයෝ ය. උන්වහන්සේ උදෙසා දිළිඳුවීම ආශිර්වාදයකි. මෙලොව දිවිගමන තුළ දෙවිඳුන් තුළ රැදෙන සියල්ලන්ට දේවරාජ්‍යයේ උරුමය ලැබේ.

දැන් සාගිනි ඇති ඔබ භාග්‍යවන්තයෝ ය. මන්ද ඔබ තෘප්තිමත් වනු ඇත. තමාගේ ආත්මික වුවමනාවට ඇති සාගින්න යහපත් ජීවිත පැවැත්මේ රහස ය. එම අඩුව සම්පූර්ණ වීමෙන් තෘප්තිය ඇතිවේ.

දැන් කඳුලු හෙළන ඔබ භාග්‍යවන්තයෝ ය. මන්ද ඔබ සිනාසෙනු ඇත. තමාගේ මෙන් ම අන්‍යයන්ගේ දුර්වලතා ගැන සංවේදී ව - දයානුකම්පාව දැක්වීම තුළ සැහීමට පත්වනු ඇත. දේව රාජ්‍යය උදෙසා නින්දා පීඩා, ප්‍රතික්ෂේපයට ලක්වන අයට, නිසි විපාක, එනම් භාග්‍යය හිමි වනු ඇත.

## අභාග්‍යය

අහෝ ධනවත් වූ ඔබට වන විපතක මහත - ඔබේ සැපවත් ජීවිතය විද හමාර ය. ධනය, නිර්ධනයන් නගා සිටුවීමට පරාර්ථකාමීව වැය නොකිරීම හා ධනය ගැන උඩඟුවීම අභාග්‍යකි. - දෙවිඳුන්ගේ පිහිට නුවුවමනා වන තරමට ධනවත් විම ශාපයකි.

අහෝ දැන් පෘෂ්ටිමත් ව වන ඔබට වන විපතක මහත - ඔබට සාගිනි වනු ඇත. ආත්මාර්ථකාමයෙන් වෙළී, ලෞකිකත්වයට වහල් වී ජීවත් වන්නවුන්ට එම පැවැත්මේ හිස්කම අත්විඳීම අභාග්‍යකි.

අහෝ දැන් සිනාසෙන ඔබට වන විපතක මහත-- ඔබ හඬා වැළපෙනු ඇත. තමාගේ ජීවිතයේ අඩුවක් නැතැයි සිතමින් දේව පිහිට පිටු දකිමින් කල්ගෙවන අයට අභාග්‍යය අත්විඳීමට සිදුවේ.

වංක ජීවිත පැවැත්ම අනුව බාහිර ආටෝපය විදහා පෑමෙන් ව්‍යාජ පැසසුම ලැබීමට ප්‍රිය කරමින් ජනප්‍රියත්වය ලබන්නෝ ශාප ලබන්නෝ ය. නියත සැපත කරා යොමු විය හැකි ආකාරය හා විපත කරපින්නා ගත හැකි මාර්ගය, ජේසුස් වහන්සේ පැහැදිලි ව අනාවරණය කළ සේක.

## ප්‍රේමයෙන් සතුරන් කෙරෙහි මෙත් සිත් වැඩීම

**ශු. ලූක් 6ඃ 27-36**

ප්‍රේමය, කිතු දහමේ, උතුම් ක්‍රියාකාරී ගුණ දහමකි. 'අගපේ' නැමැති ග්‍රීක් වචනයෙන් අර්ථවත් වන්නේ, සියලු බාධක අභිබවා, අන්‍යයන්ට යහපත සැළසෙන ප්‍රේමය යි. එය ඵලදායි ක්‍රියාමාර්ගයකි. අපගේ හිතවතුන්ට ප්‍රේම කිරීම ස්වභාවික ය. එහෙත් සතුරන්ට ප්‍රේම කිරීම විරල ගුණයකි. අවංක ප්‍රේමය තුළ සතුරන්ට වුව ද යහපත සැලසිය හැක. නොදන්නා කෙනෙකුට යායුතු මඟ පෙන්වා දීම උතුම් ගුණාංගයකි. ප්‍රේමයේ උල්පත අපගේ දෙවිඳාණෝය.

**ජේසුස් වහන්සේ වදාළ රන් අණ - 6ඃ 31 අපට පවසන්නේ කුමක් ද?**
**අනුන් ඔබට යමක් කරනවාට ඔබ කැමැත්තෙහු ද ඔබත් ඒ දේ ම ඔවුන්ට කරන්න.**

ජේසුස් වහන්සේගේ මෙම ශ්‍රේෂ්ට ඔවදන අනුව අපට මග පෙන්වා ඇත්තේ යහපත

වර්ධනය කරමින් ඉදිරියට යමින් එකිනෙකා අතර ප්‍රේමයෙන් බැඳී සුහදතාවයෙන් දිවි ගෙවීමට ය.

විනිශ්චය කිරීම පිළිබඳ ජේසුස් වහන්සේ දේව රාජ්‍යයේ පුරවැසියන්ට සාධාරණ මිණුම් දණ්ඩක් දුන් සේක. ඊට හේතුව අනුන් විනිශ්චය කිරීමට අපට අයිතිවාසිකමක් නොමැති වීම ය.

## ලූක් 6:37-42

ජේසුස් වහන්සේ වදාළ උපමාව අනුව අන් අය විනිශ්චය කිරීමට පළමු ව අප තුළ ඇති අයහපත් දෑ ඉවත දැමිය යුතු ය. ඒවා අන්‍යයන්ගේ සුළු අඩුපාඩුවලට වඩා බරපතල විය හැක. එම නිසා දේව රාජ්‍යයේ පුරවැසි චරිත ලක්ෂණවලට අනුකූල ව දෙවියන් වහන්සේ අපේ සියළු පාපවලට කමා වී ඇති බැවින් අපද එලෙස ම විනිශ්චය කිරීමෙන් තොර ව කමා විය යුතු වේ.

එලවලින් ගස හඳුනාගත හැකි සේ අපගේ ක්‍රියා මගින් අපගේ අනන්‍යතාවය හෙළිවේ. ලූක් 6: 43--45. අපගේ ජීවිත පැවැත්ම, හැසිරීම, කථා විලාශය නිතර ම අන්‍යයන්ගේ යහපත පෙරදැරි කරගෙන කළ යුතු වේ. 45 වන පදය - සිතා බලන්න.

***"යහපත් මිනිසා තම සිතෙහි නිදන් කළ යහපත් දෙයින් යහපත් දෙය ද අයහපත් මිනිසා අයහපත් දෙයින්, අයහපත් දේද උපදව යි. මන්ද සිතින් උතුරා යන දෙය කටින් පිටවේ."***

නිවසේ දී, පාසලේදී, කියන, කරන සියල්ල ගැන කල්පනාකාරී ව ක්‍රියා කරන්නට සිතට ගන්න.

## ශු. ලූක් 6: 46-49
## අත්තිවාරම් දෙක

**අපගේ ජීවිතවල පදනම විය යුත්තේ කුමක් ද?**

මිටියාවතේ දේශනය මගින් ජේසුස් වහන්සේ ඉදිරිපත් කර ඇති ගුණධර්මයන් ය. පදනම නම් උන්වහන්සේගේ ඉගැන්වීම් නැමති පර්වතය මත ජීවිතයේ අත්තිවාරම, පදනම දැමීම ය. මෙය අසා සිටි ජනතාවගේ හදවත් තුළට කා වදින්නට වදාළේ අත්තිවාරම් දෙක නමැති අර්ථවත් උපමාවකි. "ගැඹුරට පොළොව කැණ අත්තිවාරම දැමීම" - එය පහසු ව්‍යායාමයක් නොවේ. නැණවතා පොළොව ගැඹුරට ම කැණ අත්තිවාරම දමන්නේ තම නිවස කල් පවතින ලෙස සවිමත් ව ගොඩ නැගීමට ය.

අපගේ ජීවිත ගමන තුළ නොසැලී ඉදිරියට යන්නට දේව වචනය නැමති පවතින අඩිතාලම අත්‍යාවශ්‍ය වේ. ජීවිත ගමනේ අපට එල්ල වන සියළු අභියෝගවලට නොසැලී මුහුණ දීමට, දේව වචනය ශක්තිමත්ය. කෙටි උපමා මගින් වදාල මෙම මිටියාවතේ දේශනය දේව රාජ්‍යයේ පුරවැසියන්ගේ ජීවිත පැවැත්ම අර්ථවත් ව විස්තර වේ. මේ අනුව ජේසුස් වහන්සේ අපගෙන් බලාපොරොත්තු වන්නේ යහපත් ජීවිත පැවැත්මකට යොමු වීමට ය. ලෝකය අගය කරන වටිනාකම් අභිබවා යන්නට මෙම අනර්ඝ අනුශාසනාව සියලු ම යුගයන්හි වෙසෙන දේව රාජ්‍යයේ පුරවැසියන්ට අපහසු වුවත් උත්සාහ කිරීමට අභියෝගයකි.

ක්‍රියාකාරකම

1. ධනවත්කම හා දිලිඳුකම පිළිබඳ ව ජේසුස් වහන්සේ පැහැදිලි කළ දේව රාජ්‍යයේ නිවැරදි අදහස කුමක් ද?

2. දරුවන්ට අයහපත කරන අය පිළිබඳ ව ජේසුස් වහන්සේ දුන් අවවාද ක්‍රියාත්මක කළ යුත්තේ මන් ද?

# 27. දෛනික ජීවිතයට මග පෙන්වීමක්

"මාර්ගය ද සත්‍යය ද ජීවනය ද මම වෙමි" යයි වදාළ ජේසුස් වහන්සේ අපගේ ජීවිත දෙවිඳුන්ට පූජා කරන ලෙස ගොඩ නගා ගැනීමට මග පෙන්වූයේ උන්වහන්සේගේ ම මුවින් නික්මුණු අනර්ඝ වදන් තුළිනි. ඒ සියල්ල ශුද්ධ බයිබලය නමැති අපගේ පූජනීය ග්‍රන්ථයේ අනන්තර්ගත ය. අද පාඩම තුළින් අප යොමු වන්නේ එම මග පෙන්වීම අධ්‍යයනය කිරීමට යි.

ශු. ලූක් 11: 1-13, 18:1-8, 8:16-18, 14:7-11, 21:1-4,17:5-19, 12:22-32, 14:34-35,

## ශු. බයිබලයේ අන්තර්ගතය

දෙවි වදන් කිතුනු අපගේ දිවි ගමනට ආලෝකයකි. එමෙන් ම අප ජීවිත මගින් අන් අයට එම ආලෝකය විහිදුවීම අපේක්ෂිතය. ශු. බයිබලය තුළින් දිව්‍ය ප්‍රකාශන සහ දේව රාජ්‍යයේ ආකල්ප අපට අනාවරණය කෙරේ. ශු. බයිබලය දිනපතා කියැවීමෙන් දේව රාජ්‍යයේ පුරවැසියන් ලෙස කිතු සමිඳුන් වෙනුවෙන් අගනා සේවයක් ඉටු කිරීමට අපට පෝෂණය ලැබේ.

කිතුනු අනුගාමික ජීවිතය ගොඩනගා ගැනීමට මග පෙන්වන වැදගත් සාධක කවරේදැ යි සොයා බැලීමට දැන් යොමු වෙමු.

### ශු. ලූක් 11: 1-13

යාච්ඤාව දේව සබඳතාවය ගොඩනගා ගැනීමට කිතුනු අප සතු ප්‍රබල අවියකි. යේසුස් වහන්සේගේ මිහිපිට සේවා කාලය තුළ දී යාච්ඤාවේ වැදගත්කම අනාවරණය කළ සේක. උන්වහන්සේ සිය සේවය ඇරඹීමට පෙර දින සතළිසක් පාළුකරයේ නිරාහාර ව යාච්ඤාවේ යෙදුණ සේක. සිය ශ්‍රාවකයන් තෝරා ගැනීමට පෙර මුළු රැයක් යාච්ඤාවේ යෙදුන බව ශු. බයිබලයේ සඳහන් වේ. එමෙන් ම විවිධ හාස්කම් කිරීමට පෙර උන්වහන්සේ යාච්ඤා කළ සේක. පන්දහසකට කන්නට දීමේ සිද්ධිය. කුරුසිපත් වීමට පෙර ගෙත්සෙමන උයනේ යාච්ඤාව තුළින් දේව කැමැත්ත සෙවූ සේක. එම අවස්ථාවේ ජේසුස් වහන්සේ සිය ශ්‍රාවකයන්ට උපදෙස් දෙනු ලැබුවේ. පරීක්ෂාවට නොවැටෙන පිණිස යාච්ඤාවේ යෙදීමට ය. යාච්ඤාව තුළින් දෙවියන් වහන්සේ හා අප අතර පුද්ගලික සම්බන්ධතාවක් වර්ධනය වන බව පැහැදිළි වේ.

ජේසුස් වහන්සේගෙන් ශ්‍රාවකයන් "යාච්ඤා කිරීමට අපට ඉගැන්වුව මැනව"යි කියා ඉල්ලූ අවස්ථාවේ දී උන්වහන්සේ ස්වාමින් වහනසේගේ යාච්ඤාව වදාළ සේක. පවුලේ යාච්ඤාව ලෙසද නම් කෙරෙන මෙම යැදුමෙහි වැදගත් කරුණු අතුලත් වේ.

- ❊ අපගේ පියාණන් වන දෙවියන් වහන්සේට ගෞරවය හා ප්‍රශංසාව
- ❊ දේව රාජ්‍යය මිහිපිට ස්ථාපිත කිරීම - "ඔබගේ නාමයට ගෞරව වේවා"
- ❊ දේව කැමැත්තට මුළු විශ්වය ම යටත් කිරීම
- ❊ දෛනික අවශ්‍යතා පමණක් ඉල්ලීම - "අපගේ දවස්පතා ආහාරය අපට අද දුන මැනව" යනුවෙනි.
- ❊ කමාවීමේ වැදගත්කම කොන්දේසියක් සහිත ව මෙහි අන්තර්ගත වේ. අපට වැරදි කරන අයට අප විසින් කමා වෙන්නා සේ අපේ පව්වලට කමා කළ මැනව.
- ❊ පරීක්ෂා අවස්ථාවල දී හා නපුර අභිමුවෙහි ආරක්ෂාව ඉල්ලීම. අප පරීක්ෂාවට නොපමුණුවා නපුරෙන් අප ගළවා ගත මැනව.

තව ද ජේසුස් වහන්සේ යාච්ඤාවෙන් අයැදීමේ වැදගත්කම පෙන්වා දුන්සේක. 'ඉල්ලන්න ඔබට දෙනු ලැබේ.....' අපේ ලෞකික අවශ්‍යතා පමණක් නොව ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ වීමට ශක්තිය ලැබීමට ද යාච්ඤාවෙන් ඉල්ලීමට මඟ පෙන්වූ සේක.

**"ඔබේ ස්වර්ගීය පියාණන් වහන්සේ තමන්වහන්සේගෙන් ඉල්ලන්නන්ට ශුද්ධාත්මයාණන් නොදෙන සේක් ද" (ශු. ලූක් 11: 13)**

දුකේ දී, විපතේ දී, අගහිඟකම් හා කරදර මධ්‍යයේ අපට සැනසීම හා බලාපොරොත්තුව ලබාගත හැක්කේ යාච්ඤාවේ නිරත වීමෙනි. යාච්ඤාව කිතුනු අපට ධෛර්යය, ශක්තිය හා සැනසීම ලබාදෙන මාර්ගයකි.

## ජීවිත ආලෝකවත් කරගෙන සෙසු සමාජයට ආලෝකය විහිදුවීම (ශු. ලූක් 8: 16-18)

අපි දෙවියන් වහන්සේගේ, ආලෝකයට සාක්ෂි දරන දරුවන් වෙමු. උන්වහන්සේගෙන් අප ජීවිතවලට ලැබෙන ආලෝකය තුළින් යහපත් ධර්මිෂ්ඨ සත්‍යවාදිකම මගින් ජීවිත පරිපූර්ණ කරගැනීම වැදගත් ය. එම යහපත් ගුණාංග සමාජය තුළ ස්ථාපනය කිරීමට යත්න දැරීමට වෑයම් කළ යුතු ය. පැරණි යුදෙව් නිවෙස්වල පහනක් දල්වා රැක උඩ තැබූහ. එමගින් මුළු නිවෙස ම ආලෝකවත් විය. මෙය ජේසුස්වහන්සේ සංකේතයක් ලෙස ගෙනහැර පාමින් අපගේ ජීවිත ආලෝකය විහිදුවීමේ පහනක් බව පැහැදිළි කළ සේක. එම ආලෝකයෙන් කිසිවක් සැඟවිය නොහැක. දෙව් වදන් මගින් ලබන මග පෙන්වීමේ ආලෝකය අප ජීවිත පවිත්‍ර කෙරේ. පාපය හා අයහපත් ක්‍රියාවලින් මිදීමට පිටුවහලක් වේ. පිරිසිදු යහපත් ජීවිත ගතකරන කිතුනුවාට තමා අවට සමාජයට යහ ගුණ පැතිරවීමට අවස්ථා විවරවේ. අප ලබන ආලෝකය සමාජයට පැතිරීවීම ජේසුස් වහන්සේ අපෙන් බලාපොරොත්තු වන සේක.

## පෞද්ගලික අවශ්‍යතා ගැන කරදරවීමේ නිෂ්ඵල බව ශු. ලූක් 12: 22-32

එදින් එදා ජීවිතයේ නොයෙක් පෞද්ගලික ඕනෑ එපාකම් ගැන අප කරදර වීම නිරන්තරයෙන් සිදුවෙනවා නොවේ ද? ජේසුස් වහන්සේ සිය ශ්‍රාවකයන්ට පැවසූ අවවාද සලකා බලමු. ශු. බයිබලයෙන් එම කොටස කියවන්න.

උන්වහන්සේ අවවාද කරන්නේ කෑම බීම, ඇඳුම් පැළඳුම් ගැන අනවශ්‍ය ලෙස කරදර වීමෙන් වැළකී සිටිය යුතු බව යි. දෙවියන් වහන්සේ ඒ සියල්ල අපට සපයා දෙන බව ඒත්තු ගන්වා ඇත. උන්වහන්සේ කෙතේ මානෙල්, අහසේ පක්ෂීන් සංකේත ලෙස භාවිත කර ඒවා ගැන සලකන දෙවියන් වහන්සේ මනුෂ්‍යයන් වූ අප ගැන ඊට වඩා සලකන බව වදාළ සේක. "කුමක් කන්නේ ද, කුමක් බොන්නේ ද කියා සොයමින් කරදර නොවන්න....... මේ දේවල් ඔබට අවශ්‍ය බව පියාණන් වහන්සේ දන්නා සේක. පළමුකොට උන්වහන්සේගේ රාජ්‍යය සොයන්න. එවිට මේ දේවල් ද ඔබට දෙනු ලැබේ. මෙසේ පවසා ඇත්තේ ජේසුස් වහන්සේ ය. එම වදන් කෙතරම් සැනසිලිදායක ද? නොයෙක් දේ ගැන කරදර වන අපට මෙය උතුම් පණිවුඩයක්.

## ආගන්තුක සත්කාරය ශු. ලූක් 14: 7-17

ජුදා සමාජය මෙන් ශ්‍රී ලාංකිකයන් ද ආගන්තුක සත්කාරයට ලැදි ජනතාවක් බව පිළිගැනේ. ජේසුස් වහන්සේ අප ආගන්තුක සත්කාරය පිළිගන්වන විටත්, ආගන්තුක සත්කාරය පිළිගන්නා විටත් ක්‍රියා කළ යුත්තේ කෙසේදැ යි පැහැදිළි කිරීමට මඟ පෙන්වූ සේක. යම් උත්සවයකට හෝ මංගල්‍යයක් වැනි විශේෂ අවස්ථාවකට කැඳවීම ලැබූ විට, අප නිහතමානී ව පහත් ස්ථානයක් ගතයුතු බව උන්වහන්සේ අවධාරණය කළ සේක. උන්වහන්සේ මේ සඳහා උපමාවක් යොදා ගනිමින් පැහැදිළි කළ සේක. කැඳවනු ලැබූ කල ගොස් පහත් ස්ථානයක හිඳ ගන්න....... මිත්‍රය ඉහළ තැනකට එන්නැයි කීවොත් ඔබ ගෞරව ලබන්නේ ය. තමා ගැන අධි තක්සේරු කිරීමෙන් වැළකී සිටීම වැදගත් බව පැහැදිලි කෙරේ. තමා පහත් කරගන්නා උසස් කරනු ලැබේ යයි උන්වහන්සේ වදාළ සේක. යටහත් පහත්කම විශිෂ්ට චරිත ලක්ෂණයක් බව පැහැදිළි වේ.

එමෙන් ම අපි ආගන්තුක සත්කාරය පිළිගැන්විය යුත්තේ කෙබඳු අයටදැ යි විමසා බලමු. පොහොසත් අසල්වැසියන් නෑදැයන් වැනි අය කැඳවූ විට, අපට ද සත්කාර කිරීමට ඔවුන්ට හැකි වනු ඇත. එහෙත් ආපසු ආගන්තුක සත්කාරයක් දීමට නොහැකි දිළිඳු අයට උත්සවයකට ආරාධනා කිරීමේ වැදගත්කම ජේසුස් වහන්සේ පෙන්වා දුන් සේක. එම දයාවේ ක්‍රියාවට අපට ප්‍රතිවිපාක ලැබෙන බව උන්වහන්සේ කී සේක. විවිධාකාර උත්සව පවත්වන විට ඔබ මේ ගැන මෙනෙහි කරන්න. කිසිත් ලැබීමේ ආශාවෙන් තොර ව යහපත් චේතනා පෙරදැරි කොට සේවය කිරීම දේව රාජ්‍යයේ පුරවැසියන්ගෙන් අපේක්ෂා කෙරේ.

## පොළවේ ලුණු ශු. ලූක් 14: 34-35

ලුණු අපේ ආහාර රසවත් කිරීමට අත්‍යවශ්‍ය ය. ජේසුස් වහන්සේ උපමා රූපකයක් ලෙස ලුණු යොදා ඇත්තේ කිතුනු ජීවිතයේ අභ්‍යන්තරික අගයන් කෙලෙස විය යුතුද යන්න පැහැදිලි කිරීමට ය. අප වෙසෙන සමාජයේ අන් අයගේ ජීවිත රස

ගැන්වීමට, එනම් යහපත් කිරීමට අපට හැකිවන්නේ ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ ව දෙව් වදන් නිසි ලෙස පිළිපදින විට ය. ජේසුස් වහන්සේ පවසන්නේ ලුණුවල රස නැති වුවහොත් එය කසළ ගොඩට දැමීමට සිදුවන බවය. මෙයින් ඔප් නංවන්නේ කුමක් ද ? කිතුනු ජීවිත රසයෙන් තොර වුවහොත් දේව රාජ්‍යයේ පුරවැසිකම ඵලදායි නොවන බව ය.

## ශුද්ධාව ශු. ලූක් 17: 5-10

ජේසුස් වහන්සේගේ ඉගැන්වීම්වලින් ඉතා වැදගත් තවත් ගුණාංගයකි, ශුද්ධාව හෙවත් ඇදහිල්ල. ශ්‍රාවකයන් ජේසුස් වහන්සේගෙන් කළ ඉල්ලීමක් වූයේ ඔවුන්ගේ ශුද්ධාව වැඩි කරන ලෙස ය. ඒ සඳහා යොදා ගනු ලැබුයේ ඉතා සරල රූපකයකි. අබ ඇටයක ශුද්ධාව පමණක් ඇති නම් කළ හැකි දේ ඉමහත් බව ජේසුස් වහන්සේ පැවසූ සේක. අබ ඇටයක ප්‍රමාණයක ශුද්ධාව යනුවෙන් ජේසුස් වහන්සේ පහදා දුන්නේ සුළු ප්‍රමාණයක වුවද ඇදහිල්ල තිබේනම් මහත් දෙයක් කිරීමට එය ප්‍රබල බව ය.

දේව රාජ්‍යයේ යම් කාර්යයක් අපට පැවරී ඇත් ද එම සේවය කීකරු ව ඉටු කිරීම අප සතු වගකීමකි. ඒ සඳහා කිසිදු ප්‍රශංසාවක් බලාපොරොත්තු නොවිය යුතු බව ද ජේසුස් වහන්සේ සරල උපමාවක් මගින් ඉදිරිපත් කර ඇත. ශු. ලූක් 17: 7, 8 පද කියවා බලන්න. නිහතමානි ලෙසට අප සතු වගකීම් දේව රාජ්‍යය උදෙසා කැපවීමෙන් ස්තුතියක් නොපතා කළ යුතු බව මෙයින් පැහැදිලි කෙරේ.

## ස්තුතිවන්ත භාවය ශු. ලූක් 17: 11-18

මෙහි වැදගත්කම ඉස්මතුකර ඇත්තේ ලාදුරු රෝගීන් දස දෙනෙකු සුව කිරීමේ ප්‍රාතිහාර්යය සිද්ධිය මගින් ය. දස දෙනා ම සුවය පතා උන්වහන්සේ වෙත පැමිණ උන්වහන්සේගේ කරුණාව අයැදූහ. සුවය ලත් පසු ස්තුති කිරීමට පැමිණියේ එක් අයකු පමණ ය. ජුදෙව්වකු නොවූ මොහු ලත් සුවය ගැන මහ හඬින් දෙවියන් වහන්සේට ගෞරව කරමින් ප්‍රශංසා කළ බව කියවේ. ජේසුස් වහන්සේගෙන් කරුණාව අයැදීමට ලාදුරු රෝගීන් දස දෙනාට ශුද්ධාව තිබුණි. එහෙත් නව දෙනකු සුවය ලද පසු ස්තුතිවන්කම පැහැර හැරියහ. ජේසුස් වහන්සේ ප්‍රශ්න කළ ආකාරයෙන් ස්තුතිවන්තකමේ අගය මතුකළ සේක. කිතුනු අප ද දිනපතා දෙවියන් වහන්සේට යාච්ඤා කරන අතර අපේ අවශ්‍යතා උන්වහන්සේ වෙත ඔසවමු. උදා: සුවය පතා, සහනය සඳහා, විභාග හා ඉගෙනුම් කටයුතු සාර්ථක කරගැන්ම සඳහා උන්වහන්සේගේ කැමැත්ත අනුව ලබන පිළිතුරුවලට, ස්තුතිවන්ත ව ක්‍රියා කිරීම අපගේ යුතුකම වේ. එලෙස නොකිරීම සුවය අත්විඳි නව දෙනා මෙන් ස්තුතිවන්තකම පැහැර හැරීමකි. දිනපතා අපගේ අවශ්‍යතා සපයා දෙන දෙවියන් වහන්සේට ස්තුති ප්‍රශංසා කිරීමට මෙම සිද්ධිය මගින් අභියෝග කෙරේ.

## පිදීමේ වැදගත්කම ශු. ලූක් 21: 1-4

ජුදා සමාජයේ ආගමික නීතියක් වූයේ දසයෙන් කොටසක් දෙවියන්ට පිදීම ය. එලෙස ඔවුන් නීතිය අනුව ක්‍රියාකර සෑහීමට පත් වූහ. එහෙත් ජේසුස් වහන්සේ මෙම ආකල්පය අර්ථවත් කිරීමට යොදා ගත්තේ දෙව් මැඳුරේ පඬුරු පිදූ දුගී කාන්තාවගේ

ක්‍රියා කලාපය ය. ඇයගේ පිදීම උන්වහන්සේ අගය කළ සේක. අන් අය තමාගේ වැඩිපුර ආදායමෙන් පිදුව ද දුගී වැන්දඹුව තමා සතු සියල්ල එනම් තඹ සල්ලි දෙක ම පිදුවේ පරිත්‍යාගශීලී ව ය. කිතුනු අපට මෙය මහඟු ආදර්ශයක් හා අභියෝගයකි. අප සතු සැම දෙයක් ම එනම් කාලය, ධනය, තලෙන්ත යන සියල්ලෙන් පිදීම අපේ යුතුකම වේ. ඒ සියල්ල දේව දීමනා ය. මුදලක් පඬුරු ලෙස පුදා සෑහීමට පත් වීම සුදුසු නැත. ආපදා තත්ත්වයන් හමුවේ අනතුරට පත් වූවන් වෙත වැඩිමනක් දෙය බෙදා හැරීමෙන් පමණක් දේව රාජ්‍යයේ පුරවැසියන් ලෙස අප සෑහීමට පත්විය යුතු නැත. පරිත්‍යාගශීලී ව පුදන දීමනා දෙවියන් වහන්සේ අභිමුවෙහි ප්‍රසන්න වේ.

ක්‍රියාකාරකම

1. අ. ගෙත්සෙමන උයනේ ජේසුස් වහන්සේ කළ යාච්ඤාවේ වැදගත්කම හා ගෝලයනට එම අවස්ථාවේ දුන් අනුශාසනය උපුටා දක්වන්න.

   ආ. කිතුනු ඔබ යාච්ඤා ප්‍රබල අවියක් ලෙස භාවිත කළ අවස්ථා 3 ක් ලුහුඬින් ඉදිරිපත් කරන්න.

2. අ. ඔබ ආගන්තුක සත්කාරය පිරිනමන අවස්ථා කවරේ ද? එවැනි අවස්ථාවක දී ආරාධනා කර ඇත්තේ කවරහු ද ?

   ඉ. ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් මගින් ආකල්ප මාරුවකට යොමු කෙරෙන ඔබ සමාජයේ කෙබඳු අය උදෙසා ආගන්තුක සත්කාරය පිරිනැමීමට බලාපොරොත්තු වන්නේ ද ?